O V E R   T H E A B Y S S

# අගාධයට ඉහළින්

## සහ වෙනත් විද්‍යාකල්පිත කතා



ජේ. ර්. ගුණසේකර

# අගාධයට ඉහළින්

විද්‍යා කල්පිත කතා එකතුවකි.



කර්තෘගේ වෙනත් කෘති

**භාෂාව -**

රචනාදර්ශය

**පරිවර්තන -**

උභය ජීව - විද්‍යා කල්පිත නවකතාව
(1983 සාහිත්‍ය සම්මානය)
කුංචනාද - විද්‍යා කල්පිත ප්‍රබන්ධය
නව සඳ සහ වෙනත් කතා - නව චීන සාහිත්‍යයෙන්
කැතී සහ කිඹුලා - ළමා චිත්‍රපට කතාව

**අනුවර්තන -**

අයිය මලෝ (ළමා) අර්කාඩි ගයිදර් ගේ කතාවක් ඇසුරින්
විස්කම් දූරිය (ළමා) විද්‍යා කල්පිත කතාවක් ඇසුරින්

**ළමා පොත් -**

මුතු මාලය
ඔටුවා ගේ සිහිනය
කුංචා
හැංගිමුත්තං

# අගාධයට ඉහළින්

විද්‍යා කල්පිත කතා එකතුවකි.

ලේඛකයෝ

ඒ. බෙලායෙව්

වී. සාවිෂෙන්කෝ

ඒ. කසාන්ත්සෙව්

අනුවාදය

ජේ. ර්. ගුණසේකර

සංශෝධක

ජේ. පී. ගුණසේකර



ප්‍රකාශනය

එස්. ගොඩගේ සහ සහෝදරයෝ

675, මරදාන පාර

කොළඹ 10

පළමුවන මුද්‍රණය - 1987

දෙවන මුද්‍රණය - 2006



ISBN - 955-20-5671-3

පිටකවරය - තලන්ගම ජයසිංහ

පරිගණක අකුරු සැකැසුම
Liyaka
ලියාකා
712/5 ඒ, මරදන පාර,
කොළඹ 10

මුද්‍රණය : **චතුර මුද්‍රණාලය,**
142, අවිස්සාවේල්ල පාර,
වැල්ලම්පිටිය.

## සංඥාපනය

'**අගාධයට ඉහළින්**' විද්‍යා කල්පිත කතා එකතුවකි. එය මේ සාහිත්‍යාංගය උසස් තැනකට නැංවූ සෝවියට් ලේඛකයන්ගේ කතා පහක එකතුවකි.

විද්‍යාත්මක සහ තාක්ෂණික ප්‍රගමනය පසුබිම් කොට ගත් තේමාවන් යටතේ ලියැවුණු නිර්මාණ සාහිත්‍යය විද්‍යා කල්පිත සාහිත්‍යය යනුවෙන් හැඳින්වේ. එයට බහුල ව යෙදෙන 'විද්‍යා ප්‍රබන්ධ' යන්නෙන් එහි යථා ස්වභාවය නිරූපණය නොවන බව ඇතැම් විචාරකයෝ සලකති.

සෝවියට් සමූහාංඩු සංගමයේ රාජ්‍ය සම්මානය දෙවරක් පිරිනැමුණු ප්‍රවීන විද්‍යා කල්පිත ලේඛක **කිර් බුල්චෙව්** මේ ගැන මෙසේ කියයි :

> 'මේ සාහිත්‍යාංගය විද්‍යා ප්‍රබන්ධ යනුවෙන් හැඳින්වීම මම අනුමත නො කරමි. කල්පිතය (fantasy) සාහිත්‍යයේ ආකෘතියකි. එය ලේඛකයා ගේ කලාත්මක නිර්මාණයකි. 'විද්‍යා ප්‍රබන්ධය' කී කල මිනිසුන් බලාපොරොත්තු වන්නේ විද්‍යාත්මක සිහිනයක් වැන්නකි. ඔවුහු අනාගතය කීම ද එයට පවරති.'
>
> 'සැබැවින් ම ඕනෑම විද්‍යා කල්පිත ලේඛකයෙකු අනාගතයේ සැබෑ වන දෙයක් කීමට සමත් වුවහොත් ඉන් සතුටු වනු නො අනුමානය. එහෙත් මම එය එහි ප්‍රධාන මෙහෙය ලෙස නො දකිමි. මගේ අදහසේ හැටියට විද්‍යා කල්පිත ප්‍රබන්ධය වූ කලී අතිශයෝක්තියට නහන ලද ලෝක දැක්මකි. සාම්ප්‍රදායික සාහිත්‍යය ප්‍රධාන වශයෙන් මිනිසුන් අතර සබඳකම් ගැන සැලකිලිමත් වන අතර සමාජය සහ බාහිර ලෝකය කෙරෙහි ඔවුන් ගේ සබඳකම් අතියමින් හෙළි කරයි. විද්‍යා කල්පිත සාහිත්‍යය මිනිහා සහ සමාජයත් මිනිහා සහ ප්‍රගතියත් අතර සබඳකම් ගැන කෙළින් ම යොමු වෙයි. මේ සඳහා ඉහළ මට්ටමේ කලා කෞශල්‍යයක් අවශ්‍ය වෙයි. එය දකගත හැක්කේ අව්‍යාජ විද්‍යා කල්පිත කෘතීන් ගෙන් විනා 'ජනප්‍රිය විද්‍යා ප්‍රබන්ධ' වලින් නො වේ.

මෙම ක්ෂේත්‍රයේ ආදිතමයා හැටියට සැලකෙන **ජූල්ස් වර්න්** කොපමණ විද්‍යාත්මක සහ තාක්ෂණික සොයාගැනීම් කරන ලද දැයි ගණන් බැලීමේ තේරුමක් නැත. ජූල්ස් වර්න් ඔහු ගේ යුගයේ

උසස් ම උගැන්ම ලැබූ බුද්ධිමතෙකි. විද්‍යාවේ සහ තාක්ෂණයේ ඉදිරි ගමන මැනවින් නිරීක්ෂණය කර ඒවා සංවර්ධනය වෙතැයි බලාපොරොත්තු විය හැකි දිසාව පැහැදිලිව දුටු ඔහු ඉන් සිය සාහිත්‍ය නිර්මාණයන්ට වස්තු සොයා ගත්තේ ය. ජූල්ස් වර්න් ගේ කෘතිවල වඩා ම වැදගත් දේ වන්නේ සඳ විමනට යැවූ රොකටයේ හෝ 'අල්බත්රෝස්' අහස් යානයේ හෝ සැලසුම් සහ තාක්ෂණික විස්තර නොව ඔහු නිර්මාණය කළ 'කපිතාන් නේමෝ' සහ '**රෝබූර් ලේ කොන්කරන්ට්**' වැනි චරිත ය.

'**ඇලෙක්සේයි තෝල්ස්තෝයි**' සිය '**ඉංජිනේරු ගාරින්ගේ මාරක කිරණ**' නම් කතාවෙන් ලේසර් කිරණ පිළිබඳ අනාවැකියක් කියා ඇතැයි සමහරු කියති. ඔහුට පෙර ද බොහෝ අය මාරක කිරණ ගැන ලියා ඇත. එය තෝල්ස්තෝයි සිය කතාව ගොඩනැගීමට උපයෝගි කරගත් උපක්‍රමයක් පමණි. ඔහුගේ කතාව උසස් එකක් වනුයේ එහි තාක්ෂණික විස්තර නිසා නොව එහි එන චරිත සහ ඒවා ක්‍රියා කරන ආකාරය නිසා ය.

'මම ඉතිහාස නවකතා කාරයෙක් මෙන් ම විද්‍යා කල්පිත කතා කරුවෙක් ද වෙමි. ඓතිහාසික නවකතාවෙහි සහ විද්‍යා කල්පිත නවකතාවෙහි කිට්ටු සමාන කමක් මම දකිමි. ඉතිහාස කතා කාරයා අතීතය ගැන මෙන් ම විද්‍යා කතා කාරයා අනාගතය ගැන ද දන්නේ ඉතා ටිකකි. ඉතිහාසයෙහි ප්‍රකට තොරතුරු, සිද්ධි සහ ප්‍රසිද්ධ පුද්ගලයෝ වෙති. මේවා කිසියම් නිශ්චිත අවදියක ඉතිහාසය ගෙනහැර පායි. ඉතිහාස කතා කාරයා කල්පිත චරිත සහ ඒවායේ හැසිරීම් මගින් අනෙක් හැම විස්තරයක් ම නිර්මාණය කරයි. ඔහු කල්පිත සිදුවීම්, සබඳකම්, අතුරු කතා සහ ජවනිකා මවයි. කියවන්නන් ඉතිහාස නවකතාවෙන් බලාපොරොත්තු වන්නේ හුදු ඓතිහාසික පසු බිම නොව එහි එන චරිත සහ අවස්ථා මගින් වත්මන් ප්‍රශ්නවලට පිළිතුරු ය. ඔවුහු තුමූ ම චරිතවල තැන ගනිති. මෙය විද්‍යා කල්පිත නවකතාවට ද සාධාරණ ය'[1]

මේ පොතේ එන මුල් කතා දෙක වූ '**අගාධයට ඉහළින්**' සහ '**අදිසි එළිය**' සෝවියට් විද්‍යා කල්පිත සාහිත්‍යයෙහි පුරෝගාමියා වූ ඇලෙක්සාන්දර් බෙලායෙව් (රුසියන් උච්චාරණය බෙල්යායෙව්) (1884-1942) ගේ ය. ළමා වියෙහි දී ජූල්ස් වර්න් ගේ කතා කියවා ඉන් කුල්මත් වූ නිසා ම නීතිඥයෙකු වූ පසු ද එම වෘත්තිය අත්හැර ලේඛන කලාවට ජීවිතය කැප කළ හෙතෙම අපූර්ව විද්‍යා කල්පිත කතා රැසක් ලිවී ය. ඔහු ගේ කෘතීන් අතර දිග නවකතා 17 ක් ඇතුළු පණහකට වැඩි කෙටි කතා සහ වෙනත් නිබන්ධ වෙයි. ඔහු ගේ උසස් ම නවකතාව ලෙසින් සැලකෙන උභය ජීවී මිනිසා

1. Soviet Literature 1986 No. 12

(The Amphibian Man) 'උභය ජීව' නමින් ද ඔහු ගේ 'මහාචාර්ය බර්න් ගේ අන්වේෂණ, (Professor Bern's inventions) නම් කතාවලියේ එක් කතාවක් කුංචනාද නමින් ද සිංහලෙන් පළ වී ඇති නිසා ඔහු සිංහල කියවන්නාට අමුත්තෙක් නො වේ.

**'මහාචාර්ය බර්න් ගේ පුනරුත්ථානය'** ලියූ වී සාවිෂෙන්කෝ වෘත්තීය ලේඛකයෙකු නුවූව ද ඔහු ගේ ලේඛන කුසලතාව මේ එක් කතාවෙන් වුව ද පෙනේ.

**'පිටසක්වලින් අමුත්තෙක්, 'අභහරුවා'** යන එකිනෙකට සම්බන්ධ කතා දෙක ලියූ ඇලෙක්සාන්දර් කසාන්ත්සෙව් අද සිටින ජ්‍යෙෂ්ඨතම සෝවියට් විද්‍යා කල්පිත කතා කාරයා ලෙස සැලකිය හැකිය. එක් දහස් නවසිය තිස් ගණන්වල සිට මේ දක්වා සාහිත්‍යකරණයෙහි යෙදෙන ඔහු ගේ කෘතීන් අතර නවකතා විස්සකට වැඩියෙන් ඇත.

විද්‍යාවේ නව තම සීඝ්‍ර දියුණුව මිනිස් වර්ගයා ගේ සංවර්ධනය සඳහා නොව සංහාරය සඳහා යොදගැනීමේ අවදානම මේ ක්ෂේත්‍රයේ සෝවියට් ලේඛකයන් මුල සිටම දුටුවකි. අවි තරගය නිසා වැනසී ගිය කල්පිත ග්‍රහ ලෝකයක් ගැන කියන 'ග්‍රහ ලෝකයක විනාශය' පළමු වන වෙළුම වශයෙන් ඇති ඔහු විසින් මෑත දී ලියන ලද තුන් ඈඳුතු නවකතාව අවි තරගය පොළොවේ සීමාවලින් ඔබ්බට ගොස් ඇති අද මිනිස්වර්ගයාට කරන අනතුරු හැඟවීමකි.

අභහරු ලෝකයේ බුද්ධිමත් ජීවීන් ගේ පැවැත්ම පිළිබඳ සංවාදය උග්‍රව පැවති 1950 දශකයේ දී එබඳු ජීවීන් ඇතැයි යන මතය අතිශයෝක්තියට නගමින් ලියන ලද **'පිටසක්වලින් අමුත්තෙක්** සහ **'අභහරුවා'** යන කතා දෙක, එම මතය බොහෝ විද්‍යාඥයන් ගේ සැකයට භාජන වී ඇති අද වුව ද පාඨකයන්ට නැවුම් රසයක් දීමට සමත් ය.

**ජේ. ර්. ගුණසේකර**

1987 දෙසැම්බර් 05,
හබරකඩ,
හෝමාගම.

# පටුන


| | | | |
|---|---|---|---|
| 1 | අගාධයට ඉහළින් | | |
| | i | ගුප්ත එළිමහන් නිවාසය | 01 |
| | ii | මායා කවය | 06 |
| | iii | පෘථිවියේ භ්‍රමණ වේගය වැඩි වෙයි | 10 |
| | iv | උඩු යටිකුරුව | 16 |
| | v | නවීන අධ්‍යාපන ක්‍රමයක් | 22 |
| 2 | අදිසි එළිය | | 25 |
| 3 | මහාචාර්ය බර්න් ගේ පුනරුත්ථාපනය | | 47 |
| 4 | පිටසක්වලින් ආ අමුත්තෙක් | | 70 |
| 5 | අහහරුවා | | 99 |

# අගාධයට ඉහළින්...

## ඇලෙක්සාන්දර් බෙල්යායෙව්

### I. ගුප්ත එළිමහන් නිවාසය.

මා දකුණු ක්‍රිමියාවේ සිමීස්[1] නගරය අසල සංචාරය කරද්දී කඳු බෑවුමක වූ හුදෙකලා එළිමහන් නිවාසයක් මගේ දැඩි අවධානයට ලක් විය. එම නිවසට යාමට පාරක් තිබුණේ නැත. එය වටේට ම වැට කටු බැඳ අවුරා තිබුණේ ය. එහි වූ ගේට්ටුව නිතර වසා තිබුණේ ය. වැටට එහායින් ගස් වැල් හෝ පඳුරු කිසිවක් දකින්ට ලැබුණේ නැත. අතන මෙතන කනාටු ජුනිපර් ගහක් හෝ ඇද ගැහුණු පයින් ගහක් හැරෙන්නට මුළු පෙදෙස ම මුඩු වූ කහ පාටට හුරු කඳු ගැටවලින් ගහණ විය.

මේ වල් බිහි වූ බිම් කැබෙල්ලේ ජීවත් වීමේ තේරුම කුමක් ද ? ඇත්තෙන් ම එහි ජීවත් වන කෙනෙක් ඇද්ද? කුතුහලයට පත් වූ මම මේ හුදෙකලා නිවාසය අසල විපරමින් හැසිරෙන්නට වීමි.

මේ අබිරහස් නිවසින් පිට ව යන හෝ එයට ඇතුළු වන හෝ කිසිවෙක් මා කිසි විට දුටුවේ නැත. ඉන් මගේ කුහුල බලවත් ව ඇවිස්සුණේ ය. අනුන් ගේ ඉඩම්වලට එබිකම් කර බැලීම ආචාර ශීලී වැඩක් නො වේ. එහෙත් අවට කඳු ගැටවලට නැඟී වැටෙන් ඇතුළු පැත්තේ සිදු වෙන්නේ කුමක් දැයි

1. ක්‍රිමියාවේ සුවදායක නගරයකි.

බලාගැනීමේ ආශාව මැඩගැනීමට මට බැරි විය.

කෙසේ වුවත් දවස් ගණනක් හෝදිසියෙන් සිටීමෙන් පසු එම ඉඩමේ සිටි කළු ඇඳගත් ගැහැනියක් මගේ බැල්මට හසු විය.

මෙය මගේ කුතුහලය තවත් වැඩි වීමට හේතු වූවා පමණි.

මෙම ඉඩමේ වාසය කරන කිසිවකු වෙතොත් ඔවුන් අඩු ගණනේ ජීවත් වීමට ඕනෑ කරන දේ ලබාගැනීම සඳහා පමණක් වත් බාහිර ලෝකය සමග සබඳ කම් පවත්වන්නන් විය යුතු යැයි මම සිතුවෙමි.

මා දන්නා පෙදෙස් වැසියන් අතරින් මම මේ ගැන විමසා බැලුවෙමි. අන්තිමේ දී මහාචාර්ය වාග්නර් එහි ජීවත් වන බව කියන කට කතාවක් මට අසන්ට ලැබුණි.

මහාචාර්ය වාග්නර් !

මෙය මට ඉතා වැදගත් ආරංචියක් විය. මගේ කුතුහලය දහස් ගුණයෙන් වැඩි විය. තමා ගේ අසාමාන්‍ය සොයාගැනීම් නිසා ලෝකය විස්මයෙන් මුස පත් කළ මේ අපූර්ව විද්‍යාඥයා දුන හැඳිනගැනීම සඳහා ඕනෑ ම දෙයක් කැප කිරීමට මම සූදනමින් සිටියෙමි. එද පටන් මම එම ස්ථානය අවට ගැවසෙන්නට පටන් ගතිමි. සැබවින් ම මා නො කළ යුතු දෙයක් කරන බවට හැඟීමක් මා තුළ විය. එහෙත් කුතුහලය විසින් පරදවන ලද හෘදය සාක්ෂ්‍යය ඇති මම ජුනිපර් පඳුරක් පිටුපස වූ මගේ තිප්පොලේ සිට එක දිගට පැය ගණන් ඔත්තු බැලුවෙමි.

දිනක් උදේ හිමිදිරිය පසු වූ හැටියේ මට හිටි හැටි හැටියේ ම ගේට්ටුව කිරි කිරි ගානු ඇසුණි. නො ඉවසිලිමත් වූ මම හුස්ම නො හෙළා සිදුවන දේ බලා සිටියෙමි.

ගේට්ටුව ඇරුණේ ය. ලස්සන යටි රැවුළක් ද, එල්ලා වැටෙන උඩු රැවුළක් ද රෝස පාට කම්මුල් ද ඇති උස

මිනිහෙක් ගේට්ටුවෙන් පිටතට පැමිණ සෝදිසියෙන් වට පිට බැලුවේ ය. ඒ මහාචාර්ය වාග්නර් බවට මට කිසි සැකයක් නැත.

අවට කිසිවකු නැති බවට සෑහීමට පත් වූ මහාචාර්යවරයා හෙම්හිට කඳු ගැටයක සමතලා තැනකට නැග මා කවද වත් නුදුටු විරූ අපූරු ව්‍යායාමයක් කිරීමට පටන් ගත්තේ ය. නොයෙක් තරමේ විශාල ගල් අවට විසිරී තිබුණි. වාග්නර් පරෙස්සමින් එක එක ගල ළඟට ගොස් වරකට එකක් බැගින් ඒවා ඔසවන්නට තැත් කෙළේ ය. එහෙත් බර එසවීමේ ශූරයකුට වුවත් ඔසවන්නට බැරි තරම් ඒ ගල් විශාල විය. ඔහු ඒ එකක් වත් සෙලවීමට පවා අසමත් විය.

මොන විකාර ව්‍යායාමයක් දැයි මම සිතීමි. එහෙත් ඊළඟ මොහොතේ දුටු දෙයින් මා කොතරම් මවිතයට පත් වී ද යත්, මා කෑ නො ගසා සිටියේ වෑයමිනි. එය කොහොම වත් සිදු විය නො හැකි දෙයකි. මහාචාර්ය වාග්නර් මිනිසෙකුටත් වඩා උස ලොකු ගලක් ළඟට ගොස් එහි නෙරා සිටි දරයකින් අල්වා කාඩ්බෝඩ්වලින් තැනූ එකකටත් වඩා පහසුවෙන් එය ඉහළට එසවූයේ ය. ඉන් පසු ඔහු සිය අත දිගු කර එය තමා වටේ පද්දවන්නට විය.

මේ පුදුම සෙල්ලම කොහොම කරන ලද දැයි මට තේරුම් ගන්නට බැරි විය. එක්කෝ වාග්නර් මිනිස් හැකියාවන් ඉක්මවූවෙකු විය යුතු ය. එහෙම නම් වඩාත් කුඩා ගල් ඔසවන්නට ඔහුට බැරි වූයේ ඇයි? නැත්නම්..... මගේ සිතුවිලි අවසාන වන්නටත් පෙර ඔහු දැක්වූ තවත් දස්කමක් නිසා මම සම්පූර්ණයෙන් අන්දුන් කුන්දුන් වීමි.

වාග්නර් ඒ මහ ගල පුංචි ගල් කැටයක් මෙන් උඩ වීසි කෙළේ ය. එය අඩි හැටක් පමණ ඉහළ නැංගේ ය. ගල වේගයෙන් බිම වැටෙනු ඇතැයි මම බියෙන් ගැහෙමින් බලා සිටියෙමි. එහෙත් එය හෙම්හිට පොළොවට පාත් වූයේ ය. එය මිනිස් උසක් තරම් බිමට පාත් වන විට මම තත්පර දහයක් ගැන්නෙමි. ඒ මොහොතේ දී වාග්නර් අත දිගු කොට ගල

පන්දුවක් මෙන් අල්ලා ගත්තේ ය. ගල සමඟ ගැටීමේ දී ඔහු ගේ අතට කිසි අපහසුවක් නූවූ බව පෙනුණි.

"හා ! හා ! " යනුවෙන් මහ හඬින් සිනා සුණු වාග්නර් අල්ලාගත් ගල වේගයෙන් ඉවතට දමාගැසුවේ ය. එය පොළොවට සමාන්තර ව මඳ දුරක් ගමන් කොට එක්තරා සීමාවක දී - හරි කෙළින් බිම ඇද වැටී මහ හඬ නඟමින් පුපුරා කැබලිවලට කැඩී ගියේ ය. !

"හා ! හා ! " යනුවෙන් නැවතත් හඬ නඟා සිනා සුණු වාග්නර් උඩ පැන්නේ ය. ඒ පිම්මට ඔහු අඩි දෙළහක් පමණ ඉහළ ගියේ ය. එම උසෙහි දී ඔහු ගල ගමන් කළ ආකාරයට ම පොළොවට සමාන්තරව මා සිටි පැත්තට පියාඹන්නට විය. ගලට සිදු වුණාක් මෙන් ම ඔහු ද එක්තරා සීමාවක දී වේගයෙන් බිමට පතිත විය. බෑවුම් සහිත බිමට වැටුණ නිසා බේරුණා මිස ඉන් ඔහු ගේ මරණය පවා සිදු වෙන්නට ඉඩ තිබුණි. මගේ තිප්පොල වූ ජුනිපර් පඳුරේ අනිත් පැත්තට වැටුණු වාග්නර් දණ හිස අල්ලාගෙන වේදනාවෙන් කෙඳිරි ගාන්නට විය.

මඳ වේලාවක් දෙගිඩියාවෙන් සිටි මම අන්තිමේ දී මගේ හැංගිමුත්තම එළිදරව් කර මහාචාර්යවරයා ගේ උදව්වට යාමට තීරණය කෙළෙමි.

"ඔබට තුවාල වුණා ද ? මම ඔබට නැගිටින්නට උපකාර කරන්න ද ?" මම ඇසීමි.

මගේ හදිසි පෙනී සිටීම යම්තමින් වත් මහාචාර්යවරයා ගේ පුදුමයට හේතු වූ බවක් නො පෙනුණි.

"නෑ. බොහොම ස්තුතියි. මට තනියම කරගන්න පුළුවනි." හෙතෙම කී ය. එහෙත් තව වරක් නැගිටින්නට උත්සාහ කළ හේ බිම ඇද වැටුණේ ය. වේදනාව නිසා ඔහුගේ මුහුණ විරූප වී තිබුණේ.ය. ඔහු ගේ දණ හිස ඉදිමීගෙන එන බව මම දුටිමි. දැන් නම් ඔහුට මගේ උපකාරය අවශ්‍ය බව පැහැදිලි ය.

අවස්ථාව මට වහා ක්‍රියා කිරීමට බල කෙළේ ය.

"වේදනාව නිසා ඔබේ ශක්තිය හීන වීමට පෙර ගෙදර යමු." කියමින් මම ඉදිරිපත් වීමි. ඔහු විරුද්ධ නො වී ය. අපි සෙමින් ගේ දෙසට යන්නට පිටත් වීමු. සෑම සෙලවීමක් ම ඔහුට වේදනා සහගත බව මට පෙනුණි.

ඔහු වාරු කරගෙන යන්නට සිදු වූ නිසා මට මගේ මුළු ශක්තිය එයට යොදන්නට සිදු විය. එසේ වුවත් දකීමට පවා දැඩි ආශාවෙන් සිටි මහාචාර්ය වාග්නර් දැන හඳුනාගන්නට පමණක් නො ව ඔහුට උදව් කරන්නට ද හැකි වීම නිසා මම මහත් සතුටින් සිටියෙමි. දැන් මම ඔහු ගේ නිවසට ඇතුළු වීම සඳහා ඉදිරියට යමි. එහෙත් ඔහු ගේ දොරටුව වෙතට ගිය විට ඔහු මට ස්තුති කොට මා ආපසු හරවා යවාවි ද? ඔහු ගේ නිවස වටා ඇති වැට ළඟට එන තුරු මා සිත් තුළ තිබූ කරදරය එය යි. එහෙත් ඔහු ගේට්ටුවෙන් ඇතුළු වූ පසු ද නිහඬ ව ගමන් කළේ ය. කොයි හැටියෙන් නමුත් අපි ගුප්ත සීමාව පසු කෙළෙමු. ඔහුට මා හරවා යැවීමට හැකියාවක් තිබුණේ ද නැත. ඔහු තද අපහසුවෙන් සිටියේ ය. ගැස්සීම සහ වේදනාව නිසා ඔහු විසංඥ නුවූවා පමණි. මම ද අන්තයට වෙහෙසී සිටියෙමි. ඔහු ඇතුළට ගෙන යන ගමන් ම මම මිදුල වටා නෙත් යැවීමි. එම ඉඩම හොඳ හැටි ඉඩ කඩ ඇති තැනක් විය. මිදුල මැද මෝරේන් ගේ උපකරණය (Maurain's apparatus) වැනි මෙවලමක් සවි කර තිබුණේ ය. ඊට එහා පැත්තේ බිම ඝන වීදුරුවලින් ආවරණය කරන ලද කවාකාර ආවාටයක් විය. ආවාටය වටේම ගේ දෙසට සහ තව කීප අතකට යාර බාගයක තරම් පරතරයක් ඇති ව බිම සවි කළ ලෝහමය කොකු තිබුණේ ය.

මා පසුව දැනගත් පරිදි මහාචාර්යවරයා ගේ සේවිකාව වන අර කළු හැඳගත් ගැහැනිය අප හමු වීමට ගෙයින් පිටතට දුව ආ නිසා මට වැඩිපුර තොරතුරු බලාගන්නට කාලයක් ලැබුණේ නැත.

## II මායා කවය

වාග්නර් බොහෝ අසරණ තත්ත්වයක සිටියේ ය. ඔහු අමාරුවෙන් හුස්ම ගත්තේ ය; තේරුමක් නැති විකාර දෙඩෙව්වේ ය.

සත්තකින්ම ම අර ආශ්චර්ය ජනක යාන්ත්‍ර පද්ධතියට - එනම් මහාචාර්යවරයා ගේ මොළයට - මේ අනතුරින් හානියක් වෙන්න ඉඩ නැතැයි සිතා මම සිත සනසාගතිමි.

මහාචාර්යවරයා මනෝ විකාරයෙන් ගණිත සූත්‍ර කියෙව්වේ ය. වරින් වර කෙදිරි ගැවේය. සේවිකාව කළ යුතු දෙයක් ගැන සිතාගත නො හැකි ව වරින් වර මැසිවිලි කීවා ය.

මට මහාචාර්යවරයාට ප්‍රථමාධාර දෙන්නටත් ඔහුට සාත්තු කරන්නටත් එහි නවතින්නට සිදු විය.

පසු ද උදේ වන තුරු මහාචාර්යවරයාට සිහිය ආවේ නැත. ඔහු උදේ ඇස් හැර හොඳ සිහියෙන් මා දෙස බැලුවේ ය. "ඔබට බොහොම ස්තුතියි." ඔහු දුබල හඬින් කී ය. මම ඔහුට බීමට වතුර වීදුරුවක් දුනිමි. එය පිළිගන්නා ලෙසින් හිස නැමූ ඔහු මට පිටතට යන ලෙස හිසින් සන් කෙළේ ය.

පෙර දින සිදු වූ අවුල් නිසා ද ගත වූ රැයේ නිදි වැරීමෙන් ද වෙහෙසට පත් ව සිටි මම රෝගියාට විවේකයෙන් ඉන්න ඉඩ දී පිටතට ගොස් උදසන සිසිල් වාතය ටිකක් විඳින්නට තීරණය කෙළෙමි. මිදුල මැද සවි කර තිබූ නුපුරුදු මෙවලම් යළිත් මගේ සිත් ඇදගත්තේ ය. මම අත් දිගු කරගෙන ඒ දෙසට ගියෙමි.

"නවතින්න, ඉස්සරහට යන්න එපා." බිය පත් ගෘහ සේවිකාව ගේ හඬ මා පිටුපසින් ඇසුණේ ය. එවිට ම මගේ අත්වලට ලොකු බරක් පැටෙව්වාක් වැනි දැඩි පීඩනයක් දැනුණි. ඒ බරින් මම ඒ දෙසට ඇදී ගොස් මුනින් අතට වැටුණෙමි. මේ අදෘශ්‍යමාන බර නිසා මගේ අත් තදින් බිම ඇනුණේ ය. මම හැකිතාක් වැර යොදා අත් ඉවතට ඇදගතිමි. අත්ල ලේ පාට වී තිබුණි. එය බොහෝ වේදනා සහගත විය.

ගෘහ සේවිකාව සිත් කැලඹීමෙන් යුතු ව මා පසෙකින් සිටියා ය.

"අනේ දරුවා, ඔයා මොන තරම් ලාමක ද ? මිදුල පැත්තට වත් යන්න එපා, ඔයාව චප්ප වේවි. දෙයියන්නෙ නාමෙට යන්න එපා."

කිසිවක් තේරුම් ගත නො හැකි වූ මම ගෙතුළට ගොස් වෙළුම් පටියකින් අත වෙළාගතිමි.

දෙ වන වර අවදි වන විට මහාචාර්යවරයා මැනවින් ප්‍රබෝධමත් ව සිටියේ ය. ඔහු ගේ ඉන්ද්‍රියයන් ඉතා ශක්ති සම්පන්න බව පෙනුණි.

"ඔය මොකද ?" මගේ අත දෙසට ඇඟිල්ල දිගු කරමින් ඔහු ඇසුවේ ය. මම එය විස්තර කෙළෙමි.

"ඔබ නූලෙන් බේරිලා තියනවා." වාග්නර් කීවේ ය.

මට මෙය ඔහු ලවා ම පැහැදිලි කරවාගන්නට තදින් ඕනෑ කම තිබූ නමුත් ප්‍රශ්න ඇසීමෙන් ඔහු වෙහෙසට පත් කරන්නට අකැමැති නිසා ඉන් වැළකුණෙමි.

එද හැන්දෑවේ ඔහු ගේ ඉල්ලීම පරිදි ඇඳ ජනේලය අද්දරට ඇල්ලූ පසු වාග්නර් සිය කැමැත්තෙන් ම මට එය මෙසේ පැහැදිලි කළේ ය.

"විද්‍යාව සියලු භෞතික බල වේගයන් ප්‍රගුණ කරනවා. විද්‍යාඥයන් ඒවායේ සියලු නියාමයන් සොයා ගන්නවා. ඒත් ඒ බල වේගයන් ගේ ගති ලක්ෂණ සම්බන්ධයෙන් ඔවුන් ලබා ඇති දැනුම අල්ප යි. විදුලිය හෝ ගුරුත්වය හෝ ගෙන බලමු. අපි ඒවායේ ගුණාංග හදරා ඉන් ප්‍රයෝජන ගන්නවා. එහෙත් ඒවාට ආවේණික ගති ලක්ෂණවල අත්‍යන්ත ගුප්ත භාවය අනාවරණය කරගැනීම පහසු නැහැ. ඒ නිසා අපට කොහොම වත් ඒවායේ සම්පූර්ණ ප්‍රයෝජනය ලබාගන්න බැහැ. ඇත්තෙන් ම විදුලිය නම් වඩා පහසුවෙන් දමනය කළ හැකි බව ඔප්පු වී තිබෙනවා. අප එය වැඩෙහි යොදවන බව කිව හැකි යි. අපි

විදුලිය ගබඩා කරනවා. එය තැනින් තැනට සම්ප්‍රේෂණය කරනවා. එය අපට අවශ්‍ය පරිදි පරිහරණය කරනවා. එහෙත් ගුරුත්වය පාලනය කිරීමට ඉතා අමාරු බලවේගයක්. අපට එහි කැමැත්තට ඉඩ දීමට සිදු වී තිබෙනවා. ගුරුත්වය අපේ ඕනෑ කම් ඉටු කිරීම සඳහා යටත් කරගන්නවා වෙනුවට එහි ගති ස්වභාවයට යටත් වීමට අපට සිදු වී තිබෙනවා. අපට ගුරුත්ව බලය අපේ කැමැත්තට අනුව හසුරුවන්නට හැකි නම්- විදුලිය බලය මෙන් රැස් කර තබා ගන්නට හැකි නම් - එය මොන තරම් බල සම්පන්න උපකරණයක් වේවි ද? ගුරුත්වය පාලනය කිරීම හැම ද මගේ ප්‍රියතම සිහිනය වුණා."

"ඉතින් ඔබ ඒක කළා ද?" මම හදිසි අවබෝධයකින් හඬ නැඟීමි.

"ඔව්, මම එය කළා, මම හොයාගත්තා අපට ගුරුත්ව බලය දමනය කළ හැකි ශිල්ප ක්‍රමයක්. එහි පළමු වන සඵලත්වය ඔබ දුටුවා. එය මට කොච්චර වටිනවා ද?" තමා ගේ බිඳුණු දණ හිස අත ගාමින් වාග්නර් කීවේ ය. "අත්හදා බැලීමක් වශයෙන් මම මගේ නිවසට කිට්ටුව කුඩා ප්‍රදේශයක ගුරුත්ව බලය අඩු කළා. මා එහි දී කොතරම් පහසුවෙන් එතරම් විශාල ගල එසෙව්වා ද යනු ඔබ දුටුවා. මම ඒක කළේ මගේ මිදුලෙ එතරම් ම විශාල ප්‍රදේශයක ගුරුත්ව බලය වැඩි කිරීමේ වියදමින්, මගේ මායා කවයේ අත්‍යධික ගුරුත්ව බලයක් තියනවා. ඔබ මගේ ගුරුත්ව වර්ධිත මායා කවයට කිට්ටු වුණු වෙලාවේ ඔබේ කුතුහලය ඔබේ ම මරණයට හේතු වන්න තිබුණා."

"බලන්න," වාග්නර් කවුළුව දෙසට අතට දිගු කරමින් කීවේ ය. "අර ඔබට පේනවා නේද මේ පැත්තට පියාඹා එන කුරුලු රංචුව? බාගෙද උන් ගෙන් එකෙක් මගේ ගුරුත්ව වර්ධිත කලාපයට ඇතුළු වෙන්න පුළුවන්."

ඔහු නිහඬ ව සිටිද්දී මම අප දෙසට පියාඹා එන කුරුලු රැන දෙස උනන්දුවෙන් බලාගෙන සිටියෙමි. උන් දැන් පියාඹන්නේ මිදුලට ඉහළිනි. ක්ෂණයකින් ඉන් එකෙක් ගලක් මෙන් හරි කෙළින් බිමට ඇදවැටුණේ ය. කුරුලු සිරුර විනාශ වී තිබුනේ

සාමාන්‍ය ක්‍රමයට නො වේ. එය සිගරට් කඩදසියකට වඩා ගන කම නැති පැල්ලමක් මෙන් බිම තැවරී තිබුණේ ය.

"දැක්ක නේද?"

ටික වේලාවකට පෙර මටත් මේ ටික සිදු වෙන්න තිබූ බව සිහි වන විට මගේ ඇඟ හිරි වැටී ගියේ ය.

"ඔව්." මහාචාර්යවරයා මගේ සිතුවිල්ල අනුමාන කළාක් මෙන් කීවේ ය. "ඔබ පපඩමක් මෙන් තැළී යන්න තිබුණා, ඔබේ ම ඔළුවේ බරට." මඳක් නැවතී සිනාවක් පුණු මහාචාර්යවරයා යළි මෙසේ කී ය.: "පීමා, මගෙ ගෘහ සේවිකාව කියනවා, මගේ සොයාගැනීම අපේ ආහාර ගබඩාව හොර බළලුන් ගෙන් පරෙස්සම් කරගැනීමට නම් අගෙයි ලු. උන් ගේ පාද විතරක් බිම ඇලෙන්න සලස්සන්නලු. ආයෙත් නම් එන එකක් නැතිලු."

මඳක් නැවතී සිටි මහාචාර් වාග්නර් යළි මෙසේ කියන්නට වන්නේ ය.

"ඒත් බළලුන්ට වඩා හානිකර වුත් භයංකර වුත් තව සත්තු ඉන්නවා. ඒ තිය සහ දත්වලින් නොව තුවක්කු සහ බෝම්බවලින් සන්නද්ධ වුණ කකුල් දෙකේ සත්තු යි. පාලනය කර වැඩට යොදගත් ගුරුත්වයෙන් ඔවුන්ගෙන් බේරීමට මොන තරම් බලවත් ආරක්ෂක පවුරක් ඇති කරගත හැකි දැයි සිතා බලන්න. දේශ සීමාව දිගට ම සතුරාට කිසි සේත් පසු කර යන්නට බැරි බාධකයක් ඉදි කරගන්නට පුළුවනි. ගුරුත්ව වර්ධිත කලාපයට ඇතුළු වන ගුවන් යානා අර කුරුල්ලා වැටුණා වගේ බිම ඇද වැටේවි. කාල තුවක්කු උංඩවලට වත් එය පසු කර යන්න හැකි වෙන්නෙ නෑ. ඉදිරියට එන සතුරා හමුවේ ගුරුත්ව බලය නැති කර යන්තම් චලනයකින් පවා සතුරු සේනාවක් ඉහළ යන්න සැලැස්වීමෙන් එය අනික් අතට ක්‍රියා කරවන්නත් පුළුවනි..... එහෙත් මේ අතින් මා ලබා ඇති ජයග්‍රහණයන් හා සමාන කරන විට මේවා තිකං පොඩි ළමයකු ගේ සෙල්ලම් විතරයි. මා සොයාගත තියනවා ධ්‍රැවයන් හැර

මුළු පොළෝ තලයේ ම ගුරුත්වාකර්ෂණය අඩු කළ හැකි ක්‍රමයක්."

"කොහොමද ඔබ ඒක කරන්නෙ ?"

"පෘථිවි ගෝලය වඩා වේගයෙන් භ්‍රමණය වෙන්නට සැලැස්වීමෙන්." තමා පොඩි ළමයින්ගේ බමරයක වේගය වැඩි කිරීම ගැන කතා කරන්නාක් මෙන් වාග්නර් කීවේ ය.

"මොනවා ! පෘථිවියේ භ්‍රමණ වේගය වැඩිකිරීමට?"

"ඔව්, එහි වේගය වැඩි වන විට කේන්ද්‍රාපසාරී [1] බලය වැඩි වීම නිසා පොළොව මතුපිට ඇති සියලු දේ සැහැල්ලු වෙනවා. ඔබ මා සමඟ දවස් කීපයක් නැවතී සිටීමට කැමති නම්..."

"ඔව් මම හරි කැමති යි."

"එහෙම නම් මට බිම පය ගහන්ට පුළුවන් වූ හැටියේ පරීක්ෂණය පටන් ගනිමු. මා හිතනවා එය ඔබට බොහොම ප්‍රයෝජන වත් වේවි කියා."

## III පෘථිවියේ භ්‍රමණ වේගය වැඩි වෙයි.

දවස් කීපයක දී මහාචාර්ය වාග්නර් ට නැගිටින්නටත් ටිකක් නොන්ඩි ගසමින් වුව ද ඇවිදින්නටත් හැකි විය. මට තමා ගේ පුස්තකාලය පාවිච්චි කිරීමේ නිදහස දුන් ඔහු දවසේ වැඩි කාලයක් පොළොව යට පිහිටි පරීක්ෂණාගාරයේ ගත කෙළේ ය. ඔහු කිසි විටෙකත් සිය පරීක්ෂණාගාරයට එන්නට මට ආරාධනා කෙළේ නැත.

දිනක් මා පුස්තකාලයේ සිටිද්දී මහත් කලබලයෙන් ඇත සිට ම කෑ ගසමින් ආ වාග්නර් එයට ඇතුළු විය.

1. කේන්ද්‍රාපසාරී බලය : (Centrifugal Force) වස්තුවක් වෘත්තාකාර පථයක ගමන් කරන විට එම වස්තුව හෝ වස්තුවේ කොටස් භ්‍රමණ කේන්ද්‍රයෙන් පිටතට යොමු කරවන බලය.

"හරි, මම යන්ත්‍රය ක්‍රියා කිරීමට සැලැස්සුවා. දැන් පොළවේ භ්‍රමණ වේගය වැඩි වෙන්න ඕනෑ. අපි බලමු. මොකද වෙන්නෙ කියා."

මම අති විශේෂ දෙයක් බලාපොරොත්තු වූයෙමි. පැයින් පැය ගත විය. දවස ගෙවී ගියේ ය. එහෙත් අමුත්තක් සිදු නො වී ය.

මහාචාර්යවරයා තමා ගේ එල්ලෙන උඩු රැවුළ සැලෙන සේ සිනා සෙමින් මෙසේ කී ය:

"ටිකක් ඉන්න, කේන්ද්‍රාපසාරී බලය කෝණික ප්‍රවේගයේ[1] වර්ගයට කෙළින් ම සමානුපාතික යි. පෘථිවිය තරමක් විශාල බමරයක්. එහි වේගය වැඩි කරන්න ලේසි නෑ."

පසුදා උදේ මා ඇඳෙන් නැගිටින විට කොහොම නමුත් මා වෙනදට වඩා සැහැල්ලු බව මට දැනුණේ ය. පරීක්ෂා කර බැලීම සඳහා මම පුටුවක් එසවීමි. එයද බොහෝ සැහැල්ලු බව දැනුණේ ය. එහෙනම් කේන්ද්‍රාපසාරී බලය වැඩ කරනවා.! මම ආලින්දයෙන් පිටතට ගොස් රුක් සෙවනක හිඳ කියවන්නට තැන්පත් වීමි. එහෙත් සෙවන වේගයෙන් ගමන් කරන බව මට දැනුණේ ය. මෙහි තේරුම කුමක් විය හැකි ද? ඉස්සරට වඩා වේගයෙන් සූර්යයා ගමන් කරනවා ද ?

"එහෙනම් ඔබට දැනුණා ද?" ඈත සිට මා දෙස බලා සිටින වාග්නර් කියනු මට ඇසුණේ ය. "පොළොව වඩ වඩා වේගයෙන් කරකැවෙනවා. දවාල සහ රාත්‍රිය වඩ වඩා කෙටි වෙනවා."

"ඒත් මේකෙන් අපට මොකද වෙන්නෙ ?" කලබල වූ මම ඇසීමි.

---

1. කෝණික ප්‍රවේගය (Angular Velocity) ඒකාකාරී වේගයක් ඇතිව වෘත්තාකාර පථයක ගමන් ගන්න වස්තුවක් එහි භ්‍රමණ කේන්ද්‍රය යා කිරීමෙන් සෑදෙන අරය පාදක කොට -එම වස්තුව තව කිසියම් දුරක් ගමන් කිරීමේදී කෝණයක් සෑදෙයි. වස්තුව තත්පරයක් තුළ ගමන් කිරීමේ දී එසේ ගෙවා යන කෝණය එහි කෝණික ප්‍රවේගය යි. වස්තුව ගමන් කරන වේගයට සමානුපාතික ව එහි කෝණික ප්‍රවේගය ද අඩු වැඩි වේ.

"අපි ටිකක් ඉඳල බලමු."

වෙනදට වඩා පැය දෙකක් කලින් එද ඉර බැස ගියේ ය.

"මා කල්පනා කරන්නේ මේ සිදු වීම් නිසා ලොව පුරා මොන තරම් කලබැගෑනියක් වෙලා ඇද්ද කියලයි. මා ඒක දැනගන්න කැමති යි." මම මහාචාර්යවරයාට කීමි.

"මගේ කන්තෝරු කාමරයේ දී ඔබට එය දැනගත හැකි යි. අන්න එහෙ රේඩියෝවක් තියනවා." ඔහු කීවේ ය.

මම වහා කන්තෝරු කාමරයට ගොස් රේඩියෝව කරකවා ලෝකයේ ජනතාව බලවත් කැළඹීමට පත් ව සිටින බව දැනගතිමි.

එහෙත් මේ පටන් ගැන්ම පමණකි. පොළොව වඩ වඩා වේගවත් වන අතර දවස වඩ වඩා කෙටි වන්නට විය.

"තිරක්ෂයේ තිබෙන සෑම දේක ම බරින් හතළිහෙන් පංගුවක් දැන් අඩු වෙලා." දවාල සහ රාත්‍රිය පැය හතරකින් අවසන් වූ පසු වාග්නර් මට කී ය.

"ඇයි, තිරක්ෂයේ?"

"භ්‍රමණයේ දිගම අරය ඇත්තේත් පෘථිවි ආකර්ෂණය වැඩියෙන් ම දුර්වලත් ඒ නිසා ම කේන්ද්‍රාපසාරී බලය වැඩිත් එහි නිසා."

විද්‍යාඥයන් දැනට ම මින් සිදු විය හැකි අන්තරාය තේරුම් ගෙන ඇත. තිරක්ෂය අසල ප්‍රදේශවල මිනිසුන් කේන්ද්‍රාපසාරී බලය අඩු උතුරු සහ දකුණු ධ්‍රැව දෙසට ඉවත්ව යාම දැනට ම ඇරඹී ඇත.

මේ අතර බර අඩු වීම ප්‍රයෝජනවත් බව පෙනී ගිය තැන් ද ඇත. දුම්රිය එන්ජින්වලට විශාල රථ සමූහයක් වඩා පහසුවෙන් ඇදගෙන යා හැකි විය. ගුවන් යානයට බලය සැපයීමට පමණක් නො ව වඩාත් වේගයෙන් යාමට මෝටර් සයිකල් ඇන්ජිමක් ප්‍රමාණවත් විය. මිනිස්සු වඩා සැහැල්ලු සහ වඩා ශක්තිමත් වූහ. මම ද වඩ වඩා උද්‍යෝගිමත් වීමි. අසාමාන්‍ය ප්‍රීති ජනක හැඟීමක් !

කෙසේ වුවද රේඩියෝව පළමු විපත් ගැන ද වාර්තා කිරීමට පටන් ගත්තේ ය.

දුම්රිය පීලි පැනීම්- විශේෂයෙන් වංගු සහ බෑවුම් ඇති තැන්වල-බහුලව සිදු විය. එහෙත් රිය මැදිරි සෑහෙන තරම් උස තැන්වල සිට පහළට පෙරළෙන විට ද එතරම් අලාබ හානි .නො වී ය. දුම්රිය අනතුරුවල මරණ ද අඩු විය. සුළඟ ධූලි වලාවන් නංවමින් කුණාටු මෙන් බලවත් ව හැමී ය. ලෝකයේ මුහුදු තීරවල ජල ගැලීම් ඇති විය.

කෝණික ප්‍රවේගය දහත් ගුණයකින් වැඩි වූ විට තිරක්ෂය මතුපිට වූ මිනිසුන් ගේ සහ ද්‍රව්‍යවල බර නැති වී ගියේ ය.

එද ර රේඩියෝව භයානක ප්‍රවෘත්ති ගෙනාවේ ය. කේන්ද්‍රාපසාරී බලය වැඩිවන විට ඇති වන අඩු ආකර්ෂණය නිසා අප්‍රිකාවේ සහ ඇමෙරිකාවේ තිරක්ෂ රේඛාසන්න ප්‍රදේශවල මිනිසුන් උඩුබැල්ලෙන් වැටෙන අවස්ථා වැඩි වැඩියෙන් වාර්තා විය. ඊට පසු වඩාත් භය ජනක වාර්තා එම පෙදෙස්වලින් එන්නට පටන් ගත්තේ ය. හුස්ම හිර වීමෙන් මිය යාමේ අවදනම.....

"කේන්ද්‍රාපසාරී බලය පෘථිවිය ඔතා ඇති වායුමය කවරය ඉරාදනවා. පොළොවේ ආකර්ෂණය තව දුරටත් පවතින්න බැහැ." මහාචාර්යවරයා සන්සුන් ලෙස තත්ත්වය පැහැදිලි කර දුන්නේ ය.

"ඒත්..... ඒත් ඉතින් අපිත් හුස්ම ගන්න බැරුව මැරිල යාවි නේද?" මම කැළඹීමෙන් යුතු ව ඇසීමි.

මහාචාර්යවරයා උර හිස් හැකුළුවේ ය.

"අපි ඕනෑ ම තත්වයකට සූදනම් වෙලයි ඉන්නේ."

"ඒත් ඔබ මෙය පටන් ගත්තේ ඇයි? මේක ලෝක විනාශයක්! ශිෂ්ටාචාරය සහමුලින් නැතිකර දමීමක්."

"ඔබට පසුව තේරේවි. මා එය කළේ ඇයි කියා."

"සත්තකින් ම තවත් පරීක්ෂණයක් සඳහා පමණක් නෙමෙයි නේද?"

"ඉතින් එය පරීක්ෂණයක් සඳහා වුවත් මොකද? මට තේරෙන්නෙ නෑ ඔබේ කැළඹීම. සුළි සුළඟකින් හරි ගිනි කඳු පිපිරීමකින් හරි දහස් ගණන් මිනිසුන් මැරෙනවා. මේකත් ඒ වගෙ ස්වාභාවික විපතක් කියා හිතන්න."

මම මේ පිළිතුරෙන් සෑහීමට පත් නො වීමි. එපමණක් නො ව මේ මිනිහා කෙරෙහි මා තුළ පළමු වරට පිළිකුලක් ද ක්‍රෝධයක් ද පහළ වූයේ ය.

යමෙක් විද්‍යාත්මක පර්යේෂණයක් සඳහා ලක්ෂ ගණන් මිනිසුන් ගේ ජීවිත කැප කරන්නේ නම් ඔහු අනුකම්පාව ගැවී වත් නැති රාක්ෂසයෙකු විය යුතු යැයි මම සිතුවෙමි.

මගේ පීඩාවන් වැඩි වන තරමට වාග්නර් කෙරෙහි මා තුළ ඇති වූ ක්‍රෝධය ද උත්සන්න විය. පුදුමයක් නො වේ. ලෝකය කැබලි වලට කැඩී යන බව කියන භයංකර වාර්තා ද දවාල සහ රාත්‍රිය ක්‍රමයෙන් වැඩි වන වේගයකින් මාරු වීම ද කෙනෙකු පිස්සු වට්ටන්න ප්‍රමාණවත් ය. කොහෙත් ම නො නිද සිටි මම අවුල් සිතැති බිය සුල්ලෙකු බවට පත් වීමි. එහා මෙහා යාමේ දී මට තදින් පරෙස්සම් වීමට සිදු විය. යන්තම් පේශි තෙරපුමක දී පවා මා ඔලුව සිලීමේ වදින තෙක් වේගයෙන් ඉහළ යාමට පුළුවන. ද්‍රව්‍ය ආම්බාන් කිරීම අපහසු වන තරමට ඒවායේ බර අඩු විය. බර ගෘහ භාණ්ඩ පවා යන්තම් අත ගැසූ කෙණෙහි ලිස්සා යන සුලු විය.

කරාම ජලය සෙමින් වැගුරුණ අතර දිය පාර ඇදේට යන්නාක් මෙන් පෙනුණේ ය. ශරීරයේ සෑම චලනයක් ම ගැස්සීමක් බඳු විය. බරක් ඇත්තේ ම නැති තරමට සැහැල්ලු වූ අත් පා බෝනික්කු ගේ නූල්වලින් රැඳවූ අත් පා මෙන් එහාට මෙහාට පැද්දුණේ ය. ශරීරය ක්‍රියා කරවන පේශි බර අඩු තත්ත්වය යටතේ වැඩියෙන් බල සම්පන්න වූ නිසා ඒවාට චලනයෙහි දී ඇති වන වෙනස්කම්වලට සමානුපාතික ව සිටීමට බැරි විය.

ගෘහ සේවිකාව වූ ෆ්‍රීමා ද මා මෙන් ම කෝපයට පත් ව සිටියා ය. කෑම පිසීම ඇට වදයක් විය. හැළි වළං පියාඹද්දී ඒවා අල්ලන්නට අදක්ෂ අන්දමින් එහෙ මෙහෙ දුව පනින්නට සිදු වූ නිසා කෑම පිසීම විකට නැටුමක් බවට පත් විය.

වාග්නර් පමණක් හොඳ සනීපයෙන් යුතු ව සිනා සෙමින් සිටියේ ය.

මා පිටතට ගියේ මගේ සාක්කුවල ගල් පුරවාගෙන ය. නැත් නම් මා ගුවනට ඇද වැටෙන්නට තිබුණි. පොළොව පෙර දිගට වේගයෙන් කරකැවෙන විට සාගර ජලය බටහිරට තල්ලු වී ගොඩ බිමට ගලා යාම නිසා මුහුදු පත්ල පෑදෙන හැටි මම බලා සිටියෙමි. මම ගැස්සීමෙන් ද හිස කරකැවිල්ලෙන් ද හුස්ම හිරවීමෙන් ද දැඩි ලෙස පීඩා වින්දෙමි.

වායුව තවත් තුනී වෙයි..... අවසානය තව තවත් ළං වෙයි. මා විසින් කුමන ආකාරයේ මරණයක් තෝරා ගත යුතු දැයි සිතන තරමට මම දුක්ඛිත තත්ත්වයට පත් වීමි. අහසට වැටෙන්න ද? එහෙම නැත්නම් හුස්ම හිර වී මැරෙන්න ද? හුස්ම හිර වී මිය යාම වඩා නරක එක වුවත් එය තෝරාගත්තොත් අවසානයේ පොළොවට කුමක් වේ දැයි මට මැරෙන තුරු බලා ඉන්නට පුළුවන !

නෑ. එක පාර සියල්ල අවසාන කරන එක හොඳයි තවත් හුස්ම හිරවීමක් ආ විට මම සිතුවෙමි. එසේ සිතා මගේ සාක්කු හිස් කිරීමට පටන් ගතිමි.

කාගෙදෝ අතක් මා නැවැත්වීය.

"නවතින්න." මට වාග්නර් ගේ කට හඬ ඇසුණි. මේ තුනී වායු ගෝලය තුළ දී මට එය ඇසුණේ යන්තමිනි. "දැන් අප පොළොව යට පිහිටි ආගාරයට යා යුතු වේලාව යි."

වාග්නර් සිය බාහුව මගේ බාහුව අස්සෙන් රිංගවා ආලින්දයෙහි හති ලමින් සිටි ෆ්‍රීමාට හිසින් සන් කෙළේ ය. අපි තුන් දෙනා ම මිදුලෙහි ලොකු රවුම් 'කවුළුව' කරා ගියෙමු. එහි යාමේ චේතනාවක් නැති ව සිටි මම අවසිහියෙන් මෙන් ගමන්

කෙළෙමි. පොළොව යට පිහිටි පරීක්ෂණාගාරයට ඇතුළු වන විශාල දෙර විවෘත කළ වාග්නර් මා එතුළට තල්ලු කෙළේ ය. මම සිහි නැති ව හෙම්හිට ගල් බිමට පතිත වීමි.

## IV උඩු යටිකුරුව.

මා කොතෙක් කල් සිහි නැති ව සිටියා දැයි නො දනිමි. මගේ පළමු වින්දනය වූයේ මා අලුත් වාතය ස්වශනය කිරීම යි. ඇස් හැර බැලූ මම, මා සිටි තැනට නුදුරින් ගෙබිම මැද විදුලි බුබුලක් දල්වෙමින් තිබෙනු දුටිමි. ගෙබිමේ බල්බයක් සවිකර තිබෙන්නේ මන්දැයි මම පුදුම වීමි.

"පුදුම වෙන්න එපා." මට මහාචාර්ය වාග්නර් ගේ කට හඬ ඇසුණි. "ගෙබිම ඉක්මනින් සීලිම බවට පත් වේවි. ඔබට දැන් කොහොම ද?"

"හුඟක් හොඳයි, ඔබට ස්තුතියි."

"හොඳයි, එහෙනම් නැගිටින්න.... " ඔහු මගේ අත අල්ලමින් කීවේ ය. මම නැගී සිටියෙමි. වීදුරුමය වහළ තෙක් ඉහළ ගිය මම යළි සෙමින් බිමට පාත් වීමි.

"එන්න, ඔබට මගෙ පොළොව යට නිවාසය පෙන්නන්න."

එහි කාමර තුනක් විය. ඉන් දෙකක් විදුලි පහනින් එළිය කර තිබුණි. ලොකු ම එක වූ තුන්වන කාමරය හිරු එළියෙන් ආලෝකමත් විය. එයට ඉර එළිය වැටුණේ වීදුරු සීලිමෙන් නොහොත් ගෙබිමෙනි. අප මේ වේලාවේ දී බර රහිත බව අත් දකිමින් ගුවනේ පා වෙවී සිටි නිසා එය ගෙබිම ද සීලිම දැයි මට ඉඳුරා දත නො හැකි විය.

බර රහිත තත්ත්වය නිසා කාමර බලන්නට යාම මහත් ආයාස කර ගමනක් විය. අපට ඇඹරෙමින් සහ කරකැවෙමින් ද ගෘහ භාණ්ඩ අල්ලමින් සහ තල්ලු කරමින් ද මේසවල හැපෙමින් ද ඇතැම් විට ගුවනේ පා වෙමින් ද එකිනෙකා අල්ලා ගන්නට අත් දිගු කරමින් ද ගමන් කරන්නට සිදු විය.

අප එකිනෙකා ගෙන් වෙන් ව සිටියේ අහල් කීපයකින් වුවත් බලවත් වැර වෑයමින් සම බර පවත්වා ගන්නා තුරු මේ අහල් කීපය යා කරන්නට බැරි විය. අප තල්ලු කරන දේ අප සමග ම පා විය. පුටුවක් කාමරය මැද ඉහළ නැංගේ ය. පැත්ත පෙරළී තිබූ වීදුරුවලින් වතුර ඉවතට ගලා ගියේ ඉතා හෙමිනි.

ඉන් පසු මම හතරවන කාමරයට ඇතුළු වන දෙරක් දුටිමි. මේ කාමරයෙන් යන්ත්‍රයක රෝද කරකැවෙන විට පිට වෙන හඬ වැනි හඬක් පිට විය. ඒ කාමරයට යන්නට වාග්නර් මට ඉඩ දුන්නේ නැත. නො අනුමානයෙන් එය පොළොවේ භ්‍රමණ වේගය වැඩි කරන උපක්‍රමයට අයත් යන්ත්‍ර සූත්‍ර සවි කර තිබුණු කාමරය විය යුතු ය.

කෙසේ වුවත් අපේ ගුවන් පා වීම නැවතී මින් මතු අපේ ගෙබිම වශයෙන් සැලකෙන වීදුරු සීලිම කරා අපි පහත් වීමු. දැන් සියල්ල උඩු-යටි කුරු වී ඇත. කලින් ගෙබිම දැන් අපේ සීලිම ය. මුල දී මා දුටු ගෙබිම මැද සවි කර තිබූ විදුලි බුබුල දැන් කෙටි රාත්‍රි කාලයන් හි අපට අලෝකය සපයමින් අපේ හිසට උඩින් සීලිමේ දල්වෙයි. පා වෙමින් තිබූ ගෘහ භාණ්ඩ ද අප මෙන් ම තැන්පත් වූ නිසා අපට ඒවා අස් පස් කිරීමට සිදු වුණේ නැත.

ඇත්තෙන් ම වාග්නර් හැම දේ ම කල් තියා දැක තිබුණි. අපට සෑහෙන තරම් බෝතලවල පිරවූ ඔක්සිජන් ද ඕනෑ තරම් ටින්වල ඇසුරූ කෑම ද සපයා තිබුණි. ගෘහ සේවිකාවට කඩේ යාමට උවමනාවක් නො වී ය. දැන් අප සීලිමට මාරු වී ඇති නිසා ඇවිදීම ඉතා පහසු බව දැනුණි. එහෙත් සාපේක්ෂකව කතා කරතොත් අප ඇවිද්දේ පා ඉහළ තබාගෙන ය.! එහෙත් මිනිහා ඕනෑ ම දේකට පුරුදු වෙයි. මම එය තරමක් හොඳින් කෙළෙමි. මගේ පා යටින් පහත බැලූ මට ආලෝකය විනිවිද වැටෙන ඝන වීදුරුවක් තුළින් මෙන් පහළින් ඇති අහස පෙනුණි. හරියට ඉහළින් ඇති අහස පිළිබිඹු වන කවාකාර විශාල කැඩපතක් මත අප සිටින්නාක් මෙන් මට දැනුණි.

ඇතැම් විට එය අසාමාන්‍ය සහ බියකරු දේ පිළිබිඹු කෙළේ ය.

ගෘහ සේවිකාව තමාට බටර් ගෙන ඒමට අමතක වූ බව කීවා ය. ඒවා ගෙන ඒම සඳහා නිවසට යා යුතු බව ඈ කියා සිටියාය.

"ඒත් ඔබට යන්න බෑ. ඔබ පහළට වැටේවි-මා කියන්න අදහස් කළේ ඉහළට... ඔව්, අහසට - හප්පේ ! මේක දැන් හරි ම අවුල් ජාලයක්.......... අන්තෝ ජටා බහි ජටාවක්."

"මම බිම තියෙන ලෝහමය කොකු අල්ලා ගන්නවා. ඒක කරන හැටි ප්‍රොෆෙසර් මට කලින් උගන්නා තියනවා. අපි ඔළුව ඉහළට ඇතිව සිටි කාලයේ සීලිමේ කොකු හයි කරපු කාමරයක මම අතින් ඇවිදින්න පුරුදු වුණා."

මහාචාර්ය වාග්නර් සෑම දෙයක් ගැන ම කලින් සිතා බලා ක්‍රියා කර ඇත.

මම ගැහැනියක ගෙන් මෙතරම් නිර්භීත භාවයක් බලාපොරොත්තු නො වූයෙමි. කෙළවරක් නැති අජටාකාශයට ඉහළින් අතින් ඇවිදීමේ අන්තරායට මුහුණ පෑමට - ඒත් බටර් ටිකක් ලබා ගැනීම සඳහා - ඈ නිර්භය වන හැටි !

"එහෙම වුණත් ඒක හරි අවදානම් වැඩක්." මම කීමි.

"ඔබ හිතන තරම් නො වෙයි." වාග්නර් මගේ අදහසට විරුද්ධත්වය පළ කෙළේ ය. "අපේ බර තව ම නො සැලකිය යුතු තරම්. එය ශුන්‍යයේ (-බිංදුවේ) සිට නගින්න පටන් ගත්තා විතරයි. බලන්න, අපට යමක් අල්වා ගන්න ඕනෑ කරන්නේ ඉතා සුලු පේශි බලයක්. අතික් අතට මාත් ඈ සමඟ යනවා-මටත් මගේ දින පොත ගේන්න අමතක වුණා."

"ඒත් පිටත වාතය නැහැ."

"අපි වායු හෙල්මට් දාගන යනවා."

ගැඹුරු මුහුදේ කිමිදුම්කරුවන් මෙන් හැඳගත් ඔවුහු තම ගමන පටන් ගත්හ. ඔවුන් පිට වූ පසු - ඔවුන්ට පිටු පසින් වූ

දෙබිඩි දෙරේ ඇතුළු පලුව වැසුණි. ඊට පසු පිටත දෙර පලුව ද වැසෙන හඬ මට ඇසුණි.

බිම වැතිරී, මුහුණ ඝන වීදුරුවට තද කරගත් මම අති මහත් බියෙන් සැලෙමින් ඔවුන් ඉදිරියට යන හැටි බලා සිටියෙමි. ගෝලාකාර හෙල්මට්ටු ලාගත් දෙදෙනා බිමට සවි කර තිබූ කොකු එකිනෙක අල්වමින් - පරක් තෙරක් නැති අහස් අගාධය දෙසට විහිදුණු පා ඇති ව-අත්වලින් ඇවිදිමින් යුහුව ගේ දෙසට ගියහ. එය කොතරම් භයංකර දර්ශනයක් වී දැයි සිතාගන්න වත් බැරි ය.

මඳ වේලාවකින් ඔවුහු යළි පිටතට ආහ.

ඔවුන් ආපසු ගමනින් බාගයක් පමණ එද්දී සිදු වූ දෙය නිසා මම භ්‍රාන්ත වූයෙමි. සේවිකාව අතින් බටර් බඳුන ගිලිහිණ. ඇ එය අල්වා ගන්නට තැත් කරද්දී කොක්ක අත හැරුණි. ඇ ඉමක් කොනක් නැති ආකාශ අගාධයට වැටෙන්නට පටන් ගත්තාය. වාග්නර් ඈ බේරා ගැනීමට උත්සාහයක් කළේ ය. ඔහු වහා තමා ගේ පපුවට සවි කළ කඹයක් දිග හැර එහි කොන කොක්කක අමුණා සේවිකාව පසු පස වේගයෙන් හඹා ගියේ ය. අවාසනාවන්ත ගැහැනිය තරමක් හෙමින් වැටෙද්දී බලවත් තෙරපුමකින් සිය වේගය වැඩි කර ඇට ඉස්සර වෙන්නට වාග්නර් සමත් විය. ඔහු තමා ගේ අත සේවිකාව දෙසට දික් කළ නමුත් කේන්ද්‍රාපසාරී බලය ඈ මඳක් ඉවතට තල්ලු කෙළේ ය. යළිත් ඈ අල්වා ගත නොහැකි තරම් ඈත් විය. දෙදෙනා අතර පරතරය ටිකින් ටික වැඩි වෙන්ට විය. ඈ අල්වා-ගැනීමේ වෑයම අත් හළ වාග්නර් මුළුමනින් දිග හැරී තිබූ කඹයේ එල්ලී ආකාශ අගාධයෙන් ආපසු පොළොවට හෙමිහිට නගින්නට පටන් ගත්තේ ය...

අවාසනාවන්ත ගැහැනිය තමා ගේ අත් දෙක වනමින් ඉක්මනින් දුබල වී යනු මම දුටිමි. මරණයේ දර්ශණය මුවා කරන්නට මෙන් එවිට රාත්‍රිය පැමිණියේ ය.

ඇට මොන අන්දමේ හැඟීම් ඇති වෙන්නට ඇද්දැයි .....

සිතෙන විට මගේ ඇඟ කිලි පොලා ගියේ ය. ඇට කුමක් සිදු වේවි ද? අජටාකාශයේ ඇති අධික ශීතල නිසා කුණු නොවන ඇගේ මළ සිරුර-එය පසුකර යන ග්‍රහයකු විසින් ඇදගනු ලබන තුරු සඳ වැටෙමින් පවතිනු ඇත.

මේ සිතුවිලිවලට තදින් යොමු වී සිටි නිසා වාග්නර් මා ළඟට එන තුරු ම මම නො දත්තෙමි.

"ලස්සන මරණයක්". ඔහු සන්සුන් ලෙස කීවේ ය.

කිසිවක් කීමට අදහස් නොකළ මම දත්මිටි කෑවෙමි.

මම බියෙන් සැලෙමින් මට පහළින් පැතිර ඇති අගාධය ගැන මෙනෙහි කෙළෙමි. ආකාශය වනාහි අපට ඉහළින් පිහිටි නීල වර්ණ පදසයක් නොව විස්තීර්ණ අගාධ පාතාලයක් බව ද.... එම ආකාශයේ පෘථිවිය නමැති අංශුවට ඇලී ජීවත් වන අප ඇත්ත වශයෙන් පොළෝ දරුවන් නො ව අහස් දරුවන් බව ද පුදුමාකාර පැහැදිලි බවකින් යුතු ව මම ප්‍රත්‍යක්ෂ කෙළෙමි. අසරණ ආකාශ දරුවන්. පෘථිවියේ ආකර්ෂණය අපේ ශරීර පමණක් නොව අපේ සිත් සතන් පවා එයට ඇදගෙන විලංගු ලා ගෙන අප පොළොවට බැඳුණවුන් කරගෙන ඇත. දන් ඒ බැම්ම කැඩී ඇත. ලෞකික පැවැත්මේ අනියත භාවය මම අවබෝධ කෙළෙමි. මිනිස් සිත අහස් පාතාලයේ අනන්ත අවකාශය පිළිබඳ අගාධයේ පොළොව හා එක් ව ඉපිද යළි නිරුද්ධ වනු ඇත.

සිතුවිල්ලේ ගැලී සිටිය දී මා ඉදිරියේ පුදුම දේ සිදු විය.... පොළොවෙන් ගල් ඉදිරී උඩු අතට වැටුණි.... අනතුරු ව පර්වත සම්පූර්ණයෙන් ගැලවී යන්නට විය.... දහවල සහ රාත්‍රිය වඩ වඩා ඉක්මනින් මාරු වෙන්නට විය. සූර්යයා අති මහත් වේගයෙන් අහස් අගාධය හරහා පිම්මේ ගියේය -රාත්‍රිය පැමිණියේ ය. තාරකා ද එම උමතු වේගයෙන් ම ගමන් කෙළේය. යළි සූර්යයා... යළි තාරකා... හිරු එළිය වැටී ඇති වේලාවක අන්ධකාර ආවරණය පහ වී ක්ෂිතිජය අනාවරණය වනු මම දුටිමි; සිඳී ගිය මුහුදු පත්ල සහ විනාශ වී ගිය බිම්

පෙදෙස් දුටිමි. ලෝක විනාශය අත ළඟ බව මට සහතික ය.

එහෙත් තව ම ලෝකයේ මිනිස්සු සිටියහ..... අපේ රේඩියෝවෙන් තාමත් ශබ්ද නිකුත් වෙයි..

පෘථිවිය ධ්‍රැවයන් දක්වා මුළුමනින් හිස් ය... හැම තැන ම විනාශය..... ඉතිරිව පවත්නා එක ම තැන රේඩියෝ විකාශනාගාරය...... රංගල් දූපතේ [1].... පිළිතුරු බලාපොරොත්තු වෙමින් එය සිය සංඥා නිකුත් කරයි, එහෙත් පිළිතුරු නැත...... රේඩියෝ තරංග සම්පූර්ණ හිස් බව තුළින් වේගයෙන් විහිදිණ... පොළොව නිහඬ ය. අහස නිහඬ ය.

දිවා-රාත්‍රීන් කොයි තරම් වේගයෙන් අනුපිළිවෙළින් මාරු වී දැයි කිවහොත් සියල්ල අවුල් ජාලයක් බවට පත් විය.... අහස හරහා වේගයෙන් පළා යන සූර්යයා අන්ධකාර පසු බිමෙහි ගිනිමය රේඛාවක් ඇන්දේ ය. වායු ගෝලයේ අවසාන සුන්බුන් සමග පොළොවට සිය ගත නිල් අහස් වියන අහිමි විය. වඩ වඩා කුඩා වූ චන්ද්‍රයා තව දුරටත් තමා එය වෙතට ඇද ගන්නට අසමත් වූ පෘථිවිය කෙරෙන් ඉවතට ඇදී ගියේ ය......

වීදුරු ගෙබිම පිටතට නෙරා ඇතැයි ද එය වෙව්ලතැයි ද මට හැඟුණි.... ඉක්මනින් ම එය පුපුරා ගොස් මා අගාධයට වැටේවි.

මේ මා ළඟින් සිට මුණු මුණු ගාන්නේ කවරෙක් ද?

හා ! මහාචාර්ය වාග්නර් !

මම අමාරුවෙන් නැගිට්ටෙමි. උමතු වේගය මගේ සිරුර බෙල හීන කර තිබුණි. මම අමාරුවෙන් හුස්ම ගතිමි.

"ඔබ......" මම පිළිකුලින් කෙළ ගැසීමි. "ඔබ ඇයි මේක කළේ? ඔබ මිනිස් වර්ගයා මරාදලා. ඔබ පොළොවේ ජීවිත විනාශ කරලා..... මේවට ඔබ උත්තර දෙන්න ඕනෑ. වහාම පොළොවේ භ්‍රමණ වේගය අඩු කරන්න. නැත්නම්...."

එහෙත් මහාචාර්යවරයා හිස සැලුවා පමණකි.

1. උත්තර සාගර සීමාවේ පිහිටි දූපතකි.

"කතා කරපන්." මම ක්‍රෝධයෙන් පුපුරමින් අත මිට මොළවා කෑ ගැසීමි.

"මට කළ හැකි දෙයක් නෑ. සමහර විට මගේ ගණන් බැලීම වැරදි වෙන්න පුළුවන්."

"ඒත් උඹ මේ අපරාධයට වන්දි ගෙවන්න ඕනෑ." මම බලවත් කෝපයෙන් කෑ ගසා වාග්නර් පිටට පැන ඔහු ගේ බෙල්ල මිරිකන්නට වීමි. ඒ මොහොතෙහි වීදුරු ගෙබිම බිඳ වැටෙන්නාක් මෙන් මට දැනුණි. වීදුරු තහඩුව පුපුරා මා ආකාශ අගාධයට ඇද වැටෙන්නට විය. මගේ අත් තව ම වාග්නර් ගේ බෙල්ල මිරිකාගත් ගමන් ය.

## V නවීන අධ්‍යාපන ක්‍රමයක්.

මා ඉදිරියේ මහාචාර්ය වාග්නර් ගේ සිනාබර මුහුණ ය. වික්ෂිප්ත වූ මම ඔහු දෙස ද යළි වට පිට ද බැලීමි.

හිමිදිරි උදසන. ගන නිල් අහස් වියන. ඈත නිල් වන් මුහුද. ඔබ මොබ සරන සුදු සමනල යුවලක් පරිසරයේ ශාන්ත භාවය තීව්‍ර කළහ. ලොකු බටර් කැටියක් දැමූ තසිමක් රැගත් සේවිකාව අප පසු කර ගියා ය.

"මේ මොකද? මේ සියල්ලේ තේරුම කුමක් ද?" මම මහාචාර්යවරයා ගෙන් ඇසීමි.

ඔහු තමා ගේ උඩු රැවුළ සලමින් සිනා සුණේ ය.

"ඔබේ අවසරයක් නැතිව, අඩු ගණනේ මීට පෙර ඔබ ගැන හැඳිනීමක් වත් නැතිව, ඔබේ පෞද්ගලිකත්වය මගේ පර්යේෂණයක් සඳහා යොදා ගැනීම ගැන මම ඔබෙන් සමාව අයදිනවා. ඔබ මා ගැන දන්නවා නම් - ජේන හැටියට නම් ඒ ගැන සැකයක් නෑ - ඔබ දැන සිටින්නට ඕනෑ, මා අවුරුදු ගණනක සිට තනි මිනිහෙක් නූතන දැනුම් සම්භාරයට මුහුණ දෙන්නේ කොහොම ද යන ප්‍රශ්නය විසඳීමට ක්‍රියා කරන බව. මගේ ම මොළයේ එක් එක් භාගය තනි ව ස්වාධීන ලෙස

ක්‍රියා කරන්නට සැලැස්වීමෙන් මා සම්බන්ධයෙන් නම් මම එය විසඳගෙන තියෙනවා, ඉන් මම නිදි මත සහ වෙහෙස සම්පූර්ණයෙන් නැති කරගෙන තියෙනවා."

"මා ඒ ගැන කියවා තිබෙනවා ?" මම කීවෙමි.

වාග්නර් එය පිළිගත් බව දක්වමින් හිස සැලී ය.

"එහෙත් හැම දෙනාට ම එහෙම කරන්න බැහැ. ඒ නිසා අවසානයේ මා තීරණය කළා මෝහන විද්‍යාව ඉගැන්වීමේ උපකරණයක් වශයෙන් යොදගන්නට. සාම්ප්‍රදයික අධ්‍යාපනයටත් මෝහනය යම් තරමකින් සම්බන්ධ වෙනවා. අද උදේ මගේ උයන් සක්මන සඳහා මා ගිය වෙලාවේ ඔබ ජුනිපර් පඳුර පිටුපස සිටිනු මා දුටුවා. එය ඔබ එහි සැහවී සිටි මුල් වතාව නොවෙයි නේද ?" මහාචාර්යවරයා ඇස්වල උපහාසාත්මක ඉභියක් ඇතිව ඇසුවේ ය.

වික්ෂිප්ත වූ මම මුව අයාගෙන ඔහු දෙස බලා සිටියෙමි.

"ඉතින්, මා හිතුවා ඔබ මෝහනයට යටත් කිරීමෙන් ඔබට පොඩි දඬුවමක් දෙන්නට."

"මොනවා! එහෙනම් මේ ඔක්කොම......"

"මෝහනය විතරයි. ඔබ මා දුටු මොහොතේ සිට සිදු වූ සියල්ල මෝහනය විතරයි. ඒත්, ඔබට ඒ ඔක්කොම හැබෑ සිදුවීම්. එහෙම නේද ? හැබැයි, ඔබට ඒ සිදුවීම් අමතක වන එකක් නම් නෑ. ඒත් ඒක ගුරුත්වය සහ කේන්ද්‍රාපසාරී බලය පිළිබඳ ප්‍රායෝගික පාඩමක් විතරයි. එසේ වුවත් පාඩම අවසානයේ දී කලබලයට පත් වීමෙන් ඔබ තරමක් කුළැටි ශිෂ්‍යයකු වග ඔප්පු කළා."

"ඉතින් ඒකට කොච්චර වෙලාව ගත වුණා ද?"

මහාචාර්ය වාග්නර් සිය ඔරලෝසුව දෙස බැලුවේ ය.

"මිනිත්තු දෙකයි. වැඩිය නෑ. තරමක් ඵලදයක ශිල්ප ක්‍රමයක්. ඔබ එහෙම හිතන්නෙ නැද්ද?"

"ඒත් ටිකක් ඉන්න." මම හඬ නහා කෑ ගැසුවෙමි.

"එහෙනම් අර තහඩු වීදුරු කවුළුව සහ බිම සවි කරපු කොකු මොනවා ද?..." මම මිදුල දෙසට අත දිගු කෙළෙමි. මම විස්මයෙන් ගොළු වුණෙමි. එහි කිසිවක් නො වී ය.

"එහෙනම් ඒකත්.... මෝහනය?"

"අන්න හරි, ඒකත් මෝහනය තමා. ඒත්....ඇත්ත කියන්න. මගේ භෞතික විද්‍යා පාඩම ඔබට කරදරයක් වුණා ද?"

මා කතා කරන්නට පෙර වාග්නර් සිය සේවිකාව ඇමතුවේය.

"ජිමා කෝපි ලෑස්ති ද?"

"එහෙමයි."

"එහෙම නම් අපි උදේ ආහාරය ගනිමු."



# අදිසි එළිය.

## ඇලෙක්සාන්දර් බෙල්යායෙව්

"විරෝවල් කීර්තිමත් දෙස්තර කෙනෙක් බව පේනවා." සායනයේ නැවතීම් කාමරයේ පුටුවක වාඩි වී සිටි රෝගියා තිකමට මෙන් කීවේ ය.

"ඒක එහෙම ම වෙන්න ඕනෑ, අන්ධයෙකුට වුවත් ඒ බව පේන කොට" ඊළඟ පුටුවේ සිටි අමුත්තා ඊට පිළිතුරු දෙන්නාක් මෙන් කීවේ ය.

"ඔබ කොහොමද දැනගත්තෙ මා අන්ධයෙන් බව?"

"ඔබේ පැහැදිලි නිල් පාට ඇස්වලට මාව රවටන්න බෑ. ඒවා හරියට බෝනික්කෙකුගේ ඇස් වාගේ නිශ්චල යි," කී අමුත්තා ආචාර සම්පන්න ලෙස සිනාසුණේ ය. "එච්චරත් නෙමෙයි. මම මගේ ඇඟිලි ඔබේ ඇස් ඉදිරියෙන් කීප වරක් එහාට මෙහාට ගෙන ගියා. ඒත් ඔබ එක පාරක් වත් ඇසිපිය ගැහුවෙ නෑ."

"හරි කල්පනා කාරයෙක් වගෙයි." අන්ධ මිනිහා සොම්නස් සිනාවක් මුවට නංවමින් කී ය. හේ කදිමට පීරා තිබූ තමා ගේ කෙස් කළඹ සුරතින් පිරිමැද්දේ ය. "ඔව්, මගෙ ඇස් පේන්නෙ නෑ. විරෝවල් ගැන කියද්දී පේනව කීවේ පුරුද්දට. ඇරත් විරෝවල්ගෙ සරු-සාර බවත් ප්‍රසිද්ධියත් තේරුම් ගන්න කෙනෙකුට ඇස් පේන්න ඕනෑම නෑ. බලන්න. එයා පදිංචිව ඉන්නෙ නගරයේ හොඳම හරියෙ. මේ විශාල මන්දිරය එයාගෙ පුද්ගලික නිවාසය. ගේට්ටුවෙන් ඇතුළු වුණ තැන පටන් රෝස සුවඳ, පළල් තරප්පු පේළිය. මුර කාරයො. මන්දිරය පුරා

අගනා විලවුන් සුවඳ. ලිපි කරුවෝ. වැඩ කාරයෝ. කාන්තාවන්ට විශේෂ සේවිකාවෝ. බර අය කිරීම්. සහාය දෙස්තරවරුන් ගේ මූලික පරීක්ෂණ, බිමට සුමුදු බුමුතුරුණු. පිරිසිදු කොට්ට මෙට්ට, පිළිගැනීම් කාමරයේ සුවඳ ම හරි සුබෝපභෝගි යි."

"පරෙස්සමෙන් පිළියෙල කරපු මනෝවිද්‍යාත්මක විස්තරයක්." අනෙකා තමා ගේ සුදුමැලි මුහුණට උපහාස සිනාවක් නංවමින් කීවේ ය. අන්ධ මිනිහා ගේ විස්තරය විමසා බලන්නට මෙන් හේ පිළිගැනීම් කාමරය සිසාරා නෙත් යැවී ය. සියලු සැප පුටුවල තමා ගේ වාරය එන තුරු බලා සිටින රෝගීහු වූ හ. ඔවුහු සියලු දෙනා ම පාහේ අඳුරු උපැස් පැළඳගත් අය හෝ ඇස් වෙළුම් පටිවලින් වෙලාගත් අය වූ හ. හැම මුහුණක් ම බලාපොරොත්තුව, සුවපත් වීමේ ආශාව සහ විශ්වාසය පළ කරන්නක් විය.

"ඔබේ ඇස් පෙනීම නැති ව ගියේ බොහොම ළඟ දී නේද? කොහොම ද ඒක වුණේ" අමුත්තා යළිත් ඇසී ය.

"ඇයි මගේ පෙනීම ළඟ දී නැති වෙච්ච බව ඔබ හිතන්නෙ ?" අන්ධ මිනිහා බැම ඔසවමින් ඇසුවේ ය.

"උත්පත්තියෙන් අන්ධ අය හැසිරෙන විධිය ඔයිට වෙනස්. ඔබේ දෘෂ්ටි ස්නායුවට හානි පැමිණිලා වෙන්න පුළුවන්."

"ඔව්, මම විදුලිය කාර්මිකයෙක්. මම යුනිවර්සල් ඉලෙක්ට්‍රිකල් කොම්පැණියෙ ලැබ් එකේ වැඩ කළා. අලුත් වර්ගයක අල්ට්‍රා වයලට් ලාම්පුවක් ගැන...."

"ඒක වෙන්න පුළුවන්. මාත් හිතුවෙ ඒ වගෙ දෙයක් කියල තමයි." අත් දෙක පිරිමදිමින් කී අමුත්තා සිය හිස අන්ධ මිනිහා ගේ කණ ළඟට කිට්ටු කර පහත් හඬින් මෙසේ ද කී ය.

"ඇයි ඔබ මේ වංචාකාර දෙස්තර විරෝවල් පස්සෙ යන්නෙ ? ඔබේ ලෙඩේට අර හන්දියෙ ඉන්න සපතේරුවා ගෙන් ලබාගත හැකි පිහිටක් දෙස්තර විරෝවල් ගෙන් ලබාගන්න බැහැ. ඔබේ පොකැට්ටුවේ තියන අන්තිම පැන්ස බාගයත්

හූරාගන්නා තෙක් ඔහු ඔබට නිදහසේ යන්න ඉඩ දෙන එකක් නැහැ. ඊට පස්සෙ ඔහු තමාට පුළුවන් හැම දෙයක් ම කළ බව කියාවි; කාට වත් මීට වැඩි දෙයක් කරන්න බැරි බව කියාවි. ඇත්ත තමයි. මොන තරම් දක්ෂ විශේෂඥයෙකුටවත් ඊට පස්සෙ ඔබෙන් පැන්ස බාගයක් හූරගන්න ලැබෙන එකක් නැහැ. ඔබට හුහක් සල්ලි තියනව ද? ඔබ ජීවත් වෙන්නෙ කොහො ම ද ?"

"ඔබ මා මෝඩයෙකුට ගණන් අරන් වාගෙයි." අන්ධ මිනිහා කළකිරුණු විලාසයකින් කීවේ ය. එච්චරත් නෙමෙයි, අන්ධයෙකුට වුණත් ජේනවා ඔබ වෙනත් දෙස්තර කෙනෙක් වෙනුවෙන් තැරැව් කරන බව."

"ඔබ හරියට හරි. මම තැරැව් කරනවා තමයි. මගේ නම ක්රූස්."

"ඉතින් දෙස්තරගෙ නම ?"

"ඒකත් ක්රූස්."

"ඒ නම ම යි !"

"එච්චරත් නෙමෙයි. ඒ මිනිහ ම යි."

තියමින් ක්රූස් කෙකර සිනාවක් පෑවේ ය. "මම මා වෙනුවෙන් ම තැරැව් කරනවා. මේ දෙස්තර ක්රූස් ඔබට සේවය කිරීමට සැරසී සිටිනවා. මම කැමති යි ඔබේ නම දැනගන්න."

"මගේ නම ඩොබල්"

"ඩොබල් මහත්තයා, ඔබ හමු වීම ගැන මම බොහොම සන්තෝස වෙනවා. මම දන්නවා දැන් ඔබ මා ගැන හිතන්නෙ මොකක් ද කියල. කවුරුත් සල්ලි හම්බ කරන්න දඟලන මේ වාණිජ නගරයෙ දෙස්තරල එකිනෙකාගෙ ලෙඩ්ඩුන් උදුරාගන්න අන්තිම කැත උපා යොදන බව ජේනව. එහෙම වුණත් වෙන දෙස්තර කෙනෙකුගෙ පිළිගැනීම් කාමරයට ම ඇවිල්ල තමා වෙනුවෙන් ම තැරැව් කරන දෙස්තරෙකුත් ඉන්න එකයි මට පුදුමෙ. - මෙන්න මේකයි ඔබ හිතන්නෙ. හරි නේද ?"

"ඉතින් එහෙම හිතන එකේ වැරැද්ද මොකද?"

"එහෙනම් මම ඔබට කියන්නම් ඩොබල් මහත්තයා, ඔබ සම්පූර්ණයෙන් වැරදි යි."

"එහෙම කියල මගෙ අදහස වෙනස් කරන්න ලේසි නෑ. ඔබ විරෝවල් ගෙ ලෙඩුන් උදුරාගන්න හදන බව පැහැදිලි යි. නැද්ද?"

"හොඳයි, අපි ඒක පස්සෙ බලාගම්මු." දෙස්තර ක්රූස් උනන්දුවෙන් එහෙත් හෙමින් කීවේ ය. "අපි ඒක පස්සෙ බලමු. ඔබට කඩන්න අමාරු තර්ක මා ළඟ තියෙනවා. බලන්න. මම විශේෂ වර්ගයක දෙස්තර කෙනෙක්. මම ගාස්තු අය කරන්නෙ නෑ. එච්චරත් නෙමෙයි. මම ලෙඩාගෙ නඩත්තු ගෙවනවා."

අන්ධ මිනිහා ගේ ඇසි පිය තදින් ගැහුණේ ය. "පුණ්‍ය කටයුත්තක්" හේ පහත් හඬින් මිමිණුවේ ය.

"පින් සඳහා ම නො වෙයි." ක්රූස් උත්තර දුන්නේ ය. "බලන්න, ඩොබල් මහත්මයා, මම ඔබට අවංකව උපකාර කරන්න ලෑස්ති යි. ඔබත් මට පෙරළා උපකාර කරාවි යැයි මම බලාපොරොත්තු වෙනවා. ඕනෑම මොහොතක ඔබට මගේ ප්‍රතිඥාව පිළිගන්න පුළුවන්. මම කොටින් කියන්නම්. මගෙ දෙමව්පියෝ මට සෑහෙන ධනයක් ඉතිරි කළා. ඒ නිසා මට සැප සේ ජීවත් වෙන්නත් මගෙ පර්යේෂණ කටයුතු කරගෙන යන්නත් පුළුවන් කම තියනවා. එමෙන් ම මම ඔබේ රෝගය ගැන විශේෂ සැලකිල්ලක් දක්වනවා."

"ඔව්, ඉතින් ඔබ මට යෝජනා කරන්නේ මොකක් ද?"

"දැනට මුකුත් නෑ. විරෝවල් ඔබ ළඟ ඇති අන්තිම පැන්ස බාගයත් සුද්ද කරගත්තට පස්සෙ මගෙ වාරය ඒවි. මට දැනගන්න ඕනෑ ඔබ ළඟ දැන් කීයක් විතර ඉතිරි ව තියනව ද කියන එක යි. මාව විශ්වාස කරන්න. මම මේ එන්නෙ ඔබේ මුදල් පස්සෙ හෙම නෙමෙයි."

"මා ළඟ එච්චර මුදලක් නෑ. මට බය ඒකයි." කියමින්

ඩොබල් දිග සුසුමක් හෙළී ය. "මට සිදු වූ අනතුර මහ ජනයා අතර ප්‍රසිද්ධියට පත් එකක්, එහි තොරතුරු පුවත් පත්වල පළ වුණා. ඉතින් ඒක මට වන්දි මුදලක් ගෙවීමට කොම්පැනියට බල කිරීමක් වුණා. මට අඩු ගණනේ අවුරුද්දක් ජීවත් වීමට සෑහෙන තරම් මුදලක් ලැබුණා. ඒක වුණත් පොඩි වාසනාවක් නෙමෙයි. දැන් කාලෙ හැටියට කෙනෙකුට එබඳු සහනයක් වත් ලබාගන්න පුළුවන් කලාතුරකින්."

"හරි, දැන් ඔබ ළඟ කොච්චර කාලෙකට පිරිමහින මුදලක් තියෙනව ද?"

"මාස හතරකට විතර."

"ඊට පස්සෙ?"

"අනාගතයට එබී බැලීම මගෙ සිරිත නෙමෙයි."

"ඔබ හරියට හරි. දැන් කාලෙ ඇස් පේන කෙනෙකුට වත් අනාගතය දිහා බැලීම අමාරු වැඩක්. මා හිතනවා දෙස්තර විරෝවල් ඔබේ මාස හතර තව ටිකක් අඩු කරාවි කියා. ඉතින් ඊට පස්සෙ ඔබට ප්‍රතිකාර ගන්නත් ජීවත් වෙන්නත් කිසි ම මුදලක් නැති වේවි. එහෙම වුණොත් ඔබ මා ළඟට නො එන්න හේතුවක් නැහැ."

එවිට ම "නොම්මර හතළිස් පහ" යි යතුරුවෙන් හෙදිය හඬ නැඟුවා ය. ඩොබල් ට පිළිතුරු දීමට කාලයක් නො වී ය. හේ නැඟී සිටියේ ය. කැඳ දමා මැදපු හිස් වැස්මක් පැළඳි හෙදිය පැමිණ ඔහු ගේ අතින් අල්ලා රෝගීන් පරීක්ෂා කරන කාමරය කරා කැටුව ගියා ය. ක්රූස් නිකමට මෙන් මේසය මත සඟරාවලින් එකක් ගෙන එහි පිටු පෙරළන්නට විය.

වැඩි වේලාවක් ගත වීමට පෙර ඩොබල් ආපසු ආවේ ය. ඔහු උනන්දු සහගත සතුටු මුහුණක් ඇති ව සිටියේ ය. ක්රූස් වහා ගොස් ඔහුට එක් වූයේ ය.

"මොකද වුණේ? ඇත්තෙන් ම විරෝවල් ඔබේ පෙනීම ලබාදෙන්න පොරොන්දු වුණා නේද?"

"ඔව්, ඔව්" ඩොබල් ප්‍රීතියෙන් ඉපිලෙමින් කීවේ ය.

"ඒක නො කීවත් ඔබේ මුහුණෙන් ම පේනවා. යමු, මම ඔබ ව කාරෙකෙන් ගිහින් බස්සවන්නම්." කියමින් ක්‍රුස් කෙකර සිනාවක් පෑවේ ය.

"විරෝවල් ගෙ උපකාරයෙන් ඔබට නැවත පෙනේවි. ඇත්තෙන් ම මොනවා හරි පෙනේවි. අඩු ගණනේ ඔබේ සාක්කුව හිඳී ඇති බව වත් පෙනේවි." රියට ගොඩ වූ පසු ක්‍රුස් ඔහු ගේ පුරුදු සිනාවෙන් යුතු ව යළිත් කී ය.

"ඔබ ඇහුවා මා ඔබට පොරොන්දු වෙන්නේ කුමක් ද කියා. ඒක රඳා හිටින්නේ ඔබ මත යි. සමහර විට අනාගතයේ ඔබේ පෙනීම ප්‍රකෘතිමත් කිරීම සඳහා මා සතුව ඇති හැම හැකියාවක්ම යොදන්න වෙන්න පුළුවනි. නමුත් ඊට පළමුවෙන් ඔබත් මා වෙනුවෙන් යමක් කළ යුතුව තිබෙනවා..... නෑ, කරදර වෙන්න එපා. ඒක පුංචි අත් හද බැලීමක් විතර යි. එහි ප්‍රතිඵලය කුමක් වුවත් ඔබට තව දුරටත් අන්ධ භාවයේ අන්ධකාරය තුළ ඉන්න සිදු වෙන්නෙ නෑ."

"මට ඔබ ව හරියට තේරෙන්නෙ නෑ. ඔබ කියනවා අන්ධකාරයෙන් ආලෝකය වෙත් කොට දකගන්නට මට හැකි වේවි කියල. නමුත් විරෝවල් මගෙ පෙනීම නැවත ලබාදෙන්න පොරොන්දු වුණා."

"ඕ, මම දන්නව මා පමණට වඩා පැහිල බව. ඒත් මගෙ වාරය ඒවි."

ඔවුන් නිවසට ළඟා වූ කල ඩොබල් රියෙන් බැස්සේ ය. ක්‍රුස් කථා කෙළේ ය.

"දැන් මම ඔබ ඉන්න තැන දන්නවා. මෙන්න මගෙ තොරතුරු පත. ඒකෙ මගේ ලිපිනය තියනවා. මම බලාපොරොත්තු වෙනවා තුන් මාසෙකින් පමණ ඔබ දකින්න."

"මාත් ඔබ දකින්න බලාපොරොත්තු වෙනවා. මගේ ම ඇස් දෙකෙන් ඔබ දකගන්න. ඔබට ඔප්පු කරන්න විරෝවල්.....

"..... බොරු වෙදෙක් නොව හාස් කම් කරන්න සමත් දෙස්තර කෙනෙක් බව." යි ක්රූස් කාරයේ දෙර වසන ගමන් සිනා මුහුණින් යුතුව කීවේ ය. "කොහොමටත් අපි බලාගම්මු."

තව වචනයකුත් නැතිව අන්ධ මිනිහා පදික වේදිකාව හරහා ගොස් නිවස තුළ නො පෙනී ගියේ ය.

* * *

ඩොබල් අවසාන වරට සුව පහසු දනවන පරිදි පැනවූ අසුන් ඇති ටැක්සියෙහි හිඳගත්තේ ය. ඔහු වෙත ඇත්තේ ටැක්සි ගාස්තුව ගෙවීමට තරම් වන මුදලක් පමණකි. මිනිසුන් ගේ කලකලය ද ට්රැම් රථවල සීනු හඬ ද කෙමෙන් අඩු වීගෙන යන අතර හිරු එළියේ උණුසුම ඔහු ගේ සමට දැනෙන්නට විය. මේ නිහඬ වීදියේ ඉර එළිය අවුරන උස ගොඩනැගිලි නැත. සජීවී ගස් වැල්වල, සරු පසෙහි සහ වසන්තයෙහි සුවඳ ඔහු ගේ නැහැ සිදුරු කරා ළඟා විය. තමා පසු කර යන කුටි සහ කුඩා මැඳුරු සහිත මනහර ගෙවතු ඩොබල් ගේ සිතට නඟා ගත හැකි විය. තාර පාරේ සීස් හඬින් ඔහු පසු කර යන මොටෝ රියකින් පමණක් නිහැඬියාව වරින් වර බිඳුණේ ය. මේ රිය ඇතැම් විට කුඩා මැඳුරුවල වසන්නන් සතු ඒවා විය යුතු ය. ක්රූස් මෙහි වසතොත් ඔහු සැහෙන වත් පොහොසත් කම් ඇත්තෙකු විය යුතු ය.

රියැදුරු තිරිංග තද කර රිය නැවැත්වූයේ ය.

"අපි එහාට ඇවිත් ද?" ඩොබල් රියැදුරා ගෙන් ඇසී ය.

"ඔව්, ඔව්, මම ඔබ උඩට එක්ක යන්නම්."

මල්වල සුවඳ. වැලි පෑගෙන විට නැහෙන කරුකුරු හඬ.

"පරෙස්සම් වෙන්න, මෙතන පඩි පෙළක්."

"බොහොම ස්තුති යි. ඉතිරි හරිය මට යන්න පුළුවනි." ඩොබල් රියැදුරාට ගාස්තුව ගෙවා පඩි පෙළ නැංගේ ය. ඔහු

දෙර තල්ලු කළ විට එය හැරුණේ ය. ඇතුළත සිසිල් ය.

"ඔබ ආවේ ඩොක්ටර් ක්‍රැස් හමු වෙන්න ද?" එය ගැහැණු කට හඬකි.

"ඔව් කරුණා කරල ඩොබල් ඇවිත් ඉන්නවයි කියනවද? එයා දනීවි."

කුඩා උණුසුම් අතකින් ඩොබල් ගේ අත අල්ලා ගැනුණි. "මම ඔබ විසිත්ත කාමරයට එක්ක යන්නම්."

වරින් වර සියුම් ලෙස වෙනස් වන සුවඳ. ගමන් කිරීමේ දී ඇති වන ශබ්ද බිත්තිවල වැදී නගන දෝංකාරය. උණුසුමත් සිසිලත් අතර වෙනස් වන වායු ගුණය. තමා ගේ අත අල්ලාගත් හෙදිය තමා ලොකු සහ කුඩා වූ ද හිරු රැස් පිරුණා වූ සහ තිරවලින් ඇසුරුණා වූ ද ලී බඩුවලින් පිරුණු සහ මුළුමනින් හිස් වූ ද කාමර ඔස්සේ කැඳවාගෙන යන බව ඩොබල් අනුමානයෙන් සිතුවේ ය. මෙය පුදුම තිවසකි. ලෙඩෙකු එතරම් කාමර ගණනක් ඔස්සේ කැඳවාගෙන යාම ඊටත් පුදුම ය. සිහින් හඬින් දෙරක් ඇරුණි. ක්‍රැස් ගේ සුපුරුදු කට හඬ ඔහුට ඇසුණි.

"අහා! මේ කවුද? අයිරින්. ඔයාට ස්තුතියි. ඔයා යන්න."

ඩොබල් ගේ අත හෙදිය ගේ පුංචි උණුසුම් අතින් ක්‍රැස් ගේ සීතල ගොරහැඩි අතට මාරු විය. තව අඩි කීපයක් ඉදිරියට ගිය ඔහුට රෝහල් ගඳක් දැනුණි. කිසිවෙකු වෛද්‍ය උපකරණ සහ පිහන් බඩු අස්පස් කරන විටක දී මෙන් ඒවා ගැටෙන හඬ ඇසුණි.

"එහෙනම් ඩොබල් මහත්තයා ඔබ මා ළහට ආවා?" ක්‍රැස් ප්‍රීතියෙන් කීවේ ය. "එන්න මේ ඇඳිපුටුවේ වාඩි වෙන්න. අන්තිමට මම ඔබ දැකල කොච්චර කල් ද? මට වැරදිලා නැත්නම් මාස තුනයි. මට ජේන හැටියට මා කීවාටත් මාසයක් කලින් විරෝචල් ඔබ ව සුද්ද කරල වගෙයි ! ඔබට මාව ජේනවද? නෑ. ඇත්තෙන් ම අහන්නත් දෙයක් නො වෙයි."

ඩොබල් හිස ඉදිරියට නවාගත් වනම නිහඬව සිටියේ ය.

"හොඳයි, හොඳයි, යාළුවා ලජ්ජ වෙන්න එපා." ක්රුස් ඔහු ගේ පුරුදු කෙකර සිනාව සුණේ ය. "ඔබේ පැමිණීම ගැන ඔබට පසුතැවිලි වෙන්න සිද්ද වෙන්නෙ නෑ."

"මගෙන් ඔබට ඕනෑ කරන්නෙ මොනවද" ඩොබල් ඇසුවේ ය.

"මම ඇත්ත ම කියන්නම්. ඔබේ ලෙඩේ වැනි ලෙඩක් ඇති අයෙක් මම හොය හොයා සිටියා. ඔව්, ඔබට නොමිලයේ ප්රතිකාර කරන්නත් වෙනත් උදව් උපකාර කරන්නත් ලැබීම ගැන මට හරි ම සන්තෝෂ යි. පොරොන්දු කාලය අවසන් වූ වහා ම ඔබේ ඇස්වල පෙනීම නැවත ලබාදීම ගැන මට කළ හැකි සියල්ල කරනවා."

"පොරොන්දු කාලය ? මොන පොරොන්දුවක් ද?" ඩොබල් අවුල් සිතින් ඇසුවේ ය.

"ඇත්තෙන් ම අපි පොරොන්දු පත්රයක් ලියන්න ඕනෑ." ක්රුස් සිනා සෙමින් කී ය. "සත්තකින් ම මටත් මේකෙන් වැඩක් කරගන්න ඕනෑ. මා විසින් භාවිතයෙහි යෙදිය යුතු දෙයක් මා නිපදවා තියෙනවා. එය ඔබ කෙරෙහි ක්රියා කරවා බලන්න මා අදහස් කරනවා. නියතයෙන් ඔබට මෙහි දී පොඩි අවදානමකට මුහුණ පාන්නට සිදු වෙනවා. සියල්ල සතුටුදායක ලෙස සිදු වුණොත් ඔබ අන්ධ ව සිටිය දී පවා මෙතෙක් ලෝකයේ කිසිවෙකු නුදුටු දේවල් ඔබට දකගන්න පුළුවන් වේවි. ඉතින් මම මේ මගේ අලුත් නිපදවීම පිළිබඳ පේටන්ට් බල පත්රය ලබා ගත්තට පස්සෙ ඔබේ ඇස් පෙනීම යළි ලබාදීම සඳහා මිනිස් බලයෙන් කළ හැකි සියල්ල කිරීමට මම පොරොන්දු වෙනවා."

"ඉතින් ඔබ හිතන්නෙ මට ඊට එකඟ වීම හැර වෙන කළ හැකි දෙයක් නැති බව නේද ?."

"හරියට හරි, ඩොබල් මහත්තයා, ඔබ වෙන කොහෙ යන්නද හිඟන පාත්රයක් අරගෙන පාරට බහිනවා මිසක ?"

"හොඳයි, අඩු ගණනේ කියන්න, ඔබේ අත්හදා බැලීමෙන් පස්සෙ මොකද මට වෙන්නෙ කියල." ඩොබල් තරහ මුහුණක් පෙන්වමින් ඇසුවේ ය.

"පර්යේෂණය සාර්ථක වුණොත් කාටවත් නො පෙනෙන විදුලියධාරා, චුම්බක ක්ෂේත්‍ර සහ රේඩියෝ තරංග දකගන්න ඔබට පුළුවන් වන බව මට සහතික යි. කොටින් ම ඉලෙක්ට්‍රෝනවල සෑම චලනයක් ම ඔබට දකින්න පුළුවන් වේවි. කොහෙත්ම විශ්වාස කරන්න බැරි දෙයක්. එහෙත් ඇත්ත වශයෙන් ඉතාමත් ම සරල දෙයක්." ක්‍රූස් කාමරයේ එහාට මෙහාට සක්මන් කරමින් දේශනයක් කරන්නාක් මෙන් කියවන්නට විය.

"ඔබ දන්නවා ඇති අපේ සෑම දැනීමේ ඉන්ද්‍රියයක් ම එයට ආවේණික ක්‍රමයකින් බාහිර ප්‍රබෝධකයන්ට ප්‍රතික්‍රියා දක්වන බව. ඔබේ කනට යන්තමින් ගසන්න. ඔබට ශබ්ද සංඥවක් දනේවි. ඔබේ කළු ඉංගිරියාවට ගහන්න නැත්නම් ඇහිල්ල තබා සෙමෙන් තෙරපන්න. ඔබට ආලෝක සංඥවක් ලැබේවි - ඔබට තරු පෙනේවි. දර්ශන ඉන්ද්‍රියය (ඇස) මෙසේ ආලෝක ප්‍රබෝධකයට පමණක් නොව යාන්ත්‍රික, තාප සහ විද්‍යුත් ප්‍රබෝධකයන්ටත් ප්‍රතික්‍රියා දක්වනවා.

"මම ඉතා සියුම් යන්ත්‍රයක් තනා තියනවා. එය ඉලෙක්ට්‍රෝන දර්ශකයක් (Electronoscope) එය උච්ච සංවේදිතාවක් ඇති ධාරා දර්ශකයක් (Galvanoscope) වගෙයි. එය රිදියෙන් තැනූ, අණු දක්නයකින් පමණක් දක්ක හැකි තරම් ඉතා සියුම් කම්බියකින් දෘෂ්ටි ස්නායුවට හෝ මොළයේ දෘෂ්ටි කේන්ද්‍රයට ම හෝ සම්බන්ධ කරන්න පුළුවන්. ඉන් පසු ඉලෙක්ට්‍රෝන දර්ශකයෙන් යවන විදුලිය ධාරා මොළය විසින් දෘෂ්ටිය (පෙනීම) බවට පෙරළනවා. මෙය ඇත්ත වශයෙන් ඉතා සරල දෙයක්. තියම ප්‍රශ්නය නම් අප්‍රාණික උපකරණයක් වන ඉලෙක්ට්‍රෝන දර්ශකය ඔබේ ද්විනාභීය යාන්ත්‍රිකයෙන් (Bifocal mechanism) සම්පූර්ණ ප්‍රයෝජනය ගන්නා පරිදි සම්බන්ධ කරන්නේ කෙසේ ද යන්න යි. ඔබේ දෘෂ්ටි ස්නායුව

සම්පූර්ණයෙන් විනාශ නො වී ඉන් කොටසක් සප්‍රාණික ව තිබෙනවා විය හැකි යි. ඔබේ මොළයේ දෘෂ්ටි කේන්ද්‍රය සමග එය සම්බන්ධ කළ යුතු සුදුසු තම ලක්ෂ්‍යය සොයාගැනීමත් පහසු දෙයක් නො වෙයි. අප එය සොයා ගන්නා තුරු මොන ම හේතුවක් නිසා වත් ශල්‍යකර්මය කරන්නේ නැහැ. ආසන්න පේශි ඔස්සේ හෝ රුධිර නාල ඔස්සේ මෙය සොයාගත හැකි වෙන්න පුළුවන්. මේ සියල්ලේ පුළුල් කටු සටහනක් මා සකස් කර තියෙනවා. ඔබ තීරණයක් ගන්නා තුරු සැත් කම පමා කළ හැකි යි.

"මම තීරණය ගත්තා." ඩොබල් අධිෂ්ඨාන සහගත ව කී ය. "අපි එයට මුහුණ දෙමු. කරුණු යෙදී තියෙන හැටියට මට නැති වෙන්න ඒ තරම් දෙයක් නෑ. පර්යේෂණය කරන්න. මගේ මොළය සම්පූර්ණයෙන් අරන් දැම්මත් කමක් නෑ."

"හොඳයි. විශිෂ්ටයි. දැන් අඩු ගණනේ ඔබට ජීවිතයේ ඉලක්කයක් තියනවා, මේ ලෝකයේ කවුරු වත් කවදා වත් නො දැකපු දෙයක් දකින්නට. මෙහෙම අවස්ථාවක් හැම කෙනෙකුට ම ලැබෙන්නෙ නැහැ."

"ඇයි ඔබටත් කදිම අවස්ථාවක් තමයි ලැබෙන්නෙ..." ඩොබල් ඇනුම් පදයක විලසින් කී ය.

"....විරෝවල් ගෙ ඔක්කොම ලෙඩුන් ඇදගන්නට පොඩි දැන්වීම් ලෑල්ලක් විතර යි ඕනෑ." ක්රූස් උපහාස සිනාවක් සෙමින් ඇනුම් පදය සම්පූර්ණ කෙළේ ය.

* * *

"අන්ධකාරය. ගැඹුරු පාතාලයක් වැනි අන්ධකාරය. දැලි මෙන් කළු අඳුර. නෑ. මා කියන්නේ බොරු. අන්ධකාරයට මිම්මක් කොයින් ද? මගේ හිසට ඉහළින් ඝන කිලෝමීටර් දහස් ගණනක අඳුර පැතිර තිබෙනවා ද, නැත්නම් ඝන සැන්ටි මීටර් ගණනක් දැයි මම දන්නේ නෑ."

"මා ඉන්නේ ශූන්‍ය අවකාශයේ ද, එහෙම නැත් නම් මා වටා ඇති ද්‍රව්‍යයන් මැද දැයි මට තේරුමක් නැහැ. මක් නිසාද මට අත ගැවෙන තුරු එම වස්තූන් ගේ පැවැත්ම මට දැනෙන්නේ නැහැ."

මෙ බඳු සිතුවිලි පහළ කරමින් ඩොබල් නිහඬ ව සිටියේය.

හෙතෙම ලොකු කාමරයක් තුළ සුදු අතුළ ඇඳ මත වැතිර සිටියේ ය. ඔහු ගේ හිස සහ යුගැස් වෙළුම් පටිවලින් වෙළා තිබුණේ ය. පසෙක සැප පුටුවක දිගා වූ ක්‍රැස් සුරුට්ටුවක් උරමින් හුන්නේ ය.

"ඩොක්ටර්, කියන්න මොකද ඔබ ඔය තරම් තදින් හුස්ම ගන්නෙ?"

"ඇත්තෙන් ම මම දන්නෙ නෑ. සමහර විට මගෙ හිතේ තියෙන කලබල ගතිය නිසා හදවත වේගයෙන් ක්‍රියා කරනවා වෙන්න පුළුවන්. ඇත්තෙන් ම ඩොබල් මහත්තයා, මම ඔබටත් වැඩිය කලබල වෙලා. මොකද මේ තරම් වෙලාවක් ? ඇයි තව ම කිසිත් නැත්තෙ?"

හදිසියෙන් ම ඩොබල් හිස මදක් එසවීය.

"ඩොක්ටර් මේ අහන්න."

"නිදගන්න. නිදගන්න. හෙල්ලෙන්න එපා." කියමින් ක්‍රැස් වහා නැගිට ඩොබල් හිසින් අල්වා කොට්ටය මත බැවී ය.

"මේ අහන්න, මගෙ හිතේ.... මට මොනව හරි පේනව වගෙයි."

"හා ! අන්තිමේ දී....." ක්‍රැස් කලබලයෙන් තොල් මතුළේ ය. "....මොනවද ඔබට පේන්නෙ ?"

"මට පේනව.... මගේ හිතේ මට පේනව.. කියන්න ඩොක්ටර් අන්ධ අයට මායා දර්ශන පේන්න පුළුවන් ද?" ඩොබල් අතිශයින් කැළඹීමට පත්ව සිටියේ ය.

"ඉතින් දෙයියන්නෙ නාමෙට මට කියන්න..... මොනව ද

ඔබට පේන්නෙ ?" ක්රූස් පුටුවෙහි ඇඹරෙමින් කෑ ගැසුවේ ය.

එහෙත් ඩොබල් නිහඬව කල්පනාවට සම වැද සිටියේ ය. ඔහු සිතුවිලි ගොනු කරගන්නටත් කිසිවකට කන් දෙන්නටත් තතනන බව ඔහු ගේ මුහුණින් පෙනුණි.

ක්රූස් නැගිට දෙරටුව කරා පා නහා සීනුව එබුවේ ය. හෙදිය ඇතුළට ආ විට හේ ඩොබල් ගේ සිතුවිලි කඩන්නට බියෙන් මෙන් අඩක් ඉඟියෙන් කතා කළේ ය.

"නයිට්‍රොග්ලිසරීන් පෙති... ඉක්මන් කරන්න.... මට හෘදයාබාධයක් හැදීගෙන එනවා."

"ඩොක්ටර් ක්රූස් ! ඔව් ඔව්, දැන් මට පේනවා.... අන්ධකාරයට පණ ඇවිල්ලා..." ඩොබල් විකාරෙන් මෙන් දෙඩවන්නට විය. "ඔව් පා වෙලා යනවා.. කැටි වුණ ආලෝකය... මීදුම වාගෙ ..... පා වෙලා යනවා."

"මොන පාට ද?" ක්රූස් අමාරුවෙන් හුස්ම ගනිමින් කෑ ගැසුවේ ය.

"ආලෝකය සුදුයි.. නෑ, එය අළු පාටට වෙනස්... නිලට හුරු පාටක්. අලෝකය පුල්ලි පුල්ලි පා වෙනවා. එය ලය මානයෙන් යුතු තරංග වශයෙන් විහිදෙනවා."

"තරංග !" ක්රූස් අමාරුවෙන් හුස්ම ගත්තේ ය. "වළාමේ... මෙන්න මේ මොහොතේ මගෙ පණ යන්න එනවා.... නර්ස් ..... හනික ගේන්නකො.... දෙය්යන්නෙ නාමෙට ඉක්මන් කරන්න." හේ හෙදිය අතින් පෙත්ත උදුරාගෙන ගිල දමා දස පියාගෙන පුටුවේ දිගා වූයේ ය. කෙමෙන් ඔහු ගේ හුස්ම ගැනීම පහසු විය. ඔහු වරින් වර පමණක් බර කොට හුස්ම ගත්තේ ය.

"පා වී යන ආලෝක තරංග..... ඉන් සමහරක් කෙටි යි.... සමහරක් දිග යි." ඩොබල් තමා අත් දකින දර්ශනය ගැන දෙඩවන්ට විය.

"රේඩියෝ ටැලිග්‍රාෆය වැඩ කරනවා වෙන්න ඕනෑ. ක්රූස් සිතුවේ ය. "ආ ! ඒක තමයි. මට දැන් හොඳ යි හුහක් සනීප

යි. ඔක්කොම හරි. මිස්ටර් ඩොබල්. මම අහගෙන ඉන්නවා, කියන්න කියන්න."

"ඒක විශ්වාස කරන්න බැරි දෙයක්. හරියට සේයා රූ තහඩුවක පින්තූර එන්නා වගෙයි. සෑම ආකාරයක ම අලෝකය මට පේනවා. බිංදු, ලප, චාපවළලු, තරංග, සිහින් ලෙලදෙන සිහිති කිරණ, දිගට හරහට එහෙ මෙහෙ දුවමින් එක් වෙනවා - විසිර යනවා - රඟ දෙනවා. අලංකාර මෝස්තර සහිත අලංකාර අලෝක ජාල.... හරි ම සංකීර්ණ යි. තෝරා බේරාගන්න හරි අමාරු යි."

"ආශ්චර්ය යි ! අද්භූත යි!" ක්රුස් තමා ගේ නව සොයාගැනීමේ ප්‍රතිඵලයෙන් උද්දාම වී උදන නහන්නට විය. ඔබ තව ම මේ උපකරණයට හරියට පුරුදු වී නැති නිසාත් ධාරාවන් තෝරා බේරාගැනීමට නො දන්න නිසාත් හරිහැටි හඳුනාගන්න අමාරු යි. ඒ නිසා මුල දී මෙය අවුල් ජාලයක් ලෙස පෙනීයාම නො වැළැක්විය හැකි දෙයක්. ඔබට මේ උපක්‍රමය පාලනය කරගත හැකි වීමට වැඩි කලක් යන්නෙ නෑ. එවිට ඔබට දුර්වල හා බල සම්පන්න ධාරාවන් තෝරාගන්නට හැකි වේවි. ඒත් යාලුවා, වචන ගැන ලෝබ වෙන්න එපා. කියන්න, ඔබට මොනවද පේන්නෙ ?"

"දැන් තව දුරටත් කිසි අඳුරක් නෑ." ඩොබල් කී ය. හැම දෙයක් ම දීප්තිමත්. දීප්තියේ වෙනස විතර යි. පාටː නිල්, රතු, කොළ, දම්, ගන නිල්. අන්න වම් පැත්තෙන් වටකුරු ආලෝක බෝලයක් එනවා. ඇපල් ගෙඩියක් තරම් මහතට, හරියට පුංචි සූර්යයෙක් වාගේ - නිලට හුරු රැස් විහිදමින්....

"ඒ මොකක් ද?" ක්රුස් උද්යෝගයෙන් උඩ පැන්නේ ය. "ඔබට ඒක පේනවා ! ඒ සූර්යයා වෙන්න බෑ. ජනේලයේ ඔප් නැගූ හැඩලයට වැටී බබලන ඉරේ පිළිබිඹුව වෙන්න ඕනෑ. ඒත් කොහොම ද ඒක ඔබට පේන්නෙ ?

"මට පේන දෙර හැඩලයක් වත් බෝලයක් වත් නෑ. මට පේන්නෙ නිලට හුරු රැස් විහිදුවන අලෝක ගුලියක් විතරයි."

"ඒත් මොකද? මොන රැස් ද?"

"ඩොක්ටර් මට හිතෙන්නෙ ලෝහයට වැටුණු හිරු රැස්වල ශක්තිය එහි මතුපිට තලයෙන් ඉලෙක්ට්‍රෝන ඇද දමන බව යි."

"ඔව්, ඔව්, ඇත්තෙන් ම ඔබ හරි. මට ඕක හිතාගන්න බැරි වුණේ මොකද? හොඳයි අපි පරීක්ෂණයක් කරමු. ඔබට විදුලි පහනට යන තියමු කම්බිය පේන්නෙ නැහැ නොවැ, ඔන්න මම ස්විච්චය දල විදුලිය ධාරාව යවනවා..... ඉතින්...."

"හෝ ! මට ඒක පේනවා. සීලිමේ දිගට ම අලෝක වැලක් දිලිහෙනවා." ඩොබල් සිය ඇඟිල්ල දිගු කර පෙන්නුවේ ය. ක්‍රැස් හිස වැනී ය. එතැනින් බිත්තිය දිගේ පහළ.... අර බලන්න විදුලිය පිටතට කාන්දු වෙන හැටි... ඔබට විදුලිය කාර්මිකයෙක් කැඳවන්න වේවි. කම්බිය දිගට ම යනවා. සමහර විට කාමර කීපයක් දිගේ.... එතනින් එක විදියට යනවා. මට විදුලිය බුබුලක් පේනවා. සාමාන්‍ය බල්බය නෙමෙයි - තාප දීප්ත තන්තුවක් දිගේ දුවන ඉලෙක්ට්‍රෝන ධාරාවක්."

"එඩිසන් ගේ ආචරණය" (Adison's effect) ක්‍රැස් හිස වනමින් කී ය.

"ඩොක්ටර් ක්‍රැස්, ඔබ දන්නවද මට ඊටත් වඩා අපූරු දෙයක් පේනවා. මගේ හිස හරවන්නේ නැතිව..... කරුණා කර මගේ ඇඳ ළඟට එනවද?.... මේ.... මේ ඔබේ ඔළුව නේද? මේ ඔබේ හදවත වෙන්න ඕනැ."

"ඔබ හරි, දෙය්යනේ ඔබට ඇත්තෙන් ම මගෙ මොළයේ සහ හදවතේ විදුලිය ධාරා දකින්න පුළුවන් ද? ඒත් මොකද ඒකේ ඒ තරම් පුදුමය ? අපේ සෑම පටකයක් පාසා ම සංකීර්ණ ක්‍රියාවලියකුත් විද්‍යුත් ශක්තියකුත් පවතිනවා. මොළයත් හදවතත් තියම විද්‍යුත් ජනක යන්ත්‍ර" ක්‍රැස් කීය.

"ඔබේ මොළයෙන් දම් පාට ආලෝකයක් නිකුත් වෙනවා. ඔබ තදින් කල්පනා කරන විට එය වඩ වඩා දීප්තිමත් වෙනවා. ඔබ උද්වේගවත් වෙනකොට හදවත වැඩි වැඩියෙන් දිලිසෙනවා." ඩොබල් කීවේ ය.

"ඩොබල් ඔබ විද්‍යාවට නිධානයක්, දුර්ලභ තනි රත්රන් නිධානයක්. ඔබට කිවහැකි දේ කරන්න පුළුවන් කිසිම ගැල්වනෝමීටරයක් නෑ. ඔබ ගැන සහ මගේ ම ප්‍රතිඵලය ගැන මම දන් ඇත්තෙන් ම ආඩම්බර යි. අද රෑ මම නගරය වටේ ම ඔබ කැටුව යනවා. ඔබ මට කියන්න ඕනෑ ඔබට පෙනෙන දේ."

* * *

දැන් ඩොබල් හමුවෙහි අලුත් ලෝකයක් අනාවරණය වී ඇත. එද හැන්දෑවේ ක්රූස් මොටෝ රියෙන් ඔහු නගරයට එක් කරගෙන ගිය වේලෙහි ඔහු ගේ සන්තානයේ අසිරිමත් දර්ශනයන් නො මැකෙන ලෙස ඇඳීගියේ ය.

නගරය පුරා හැම අතින් ම ඇද තිබූ විදුලි රැහැන් ඔස්සේ විදුලිය ධාරා ගලාගෙන ගිය හැම තැනක ම ඩොබල්ට ආලෝක ධාරා දර්ශනය විය. මෝටර් වාහනවල මැග්නිටෝවලින් සහ වීදි ඔස්සේ දිවෙන ට්රෑම් රථවල මෝටර්වලින් - කවි චක්‍රවලින් ගිනි මල් විහිදෙන්නාක් මෙන් දීප්තිමත් ඉලෙක්ට්‍රෝන ක්ෂණික ව විහිදෙනු ඔහුට පෙනුණේ ය. වීදි දිගට ඉහළින් ඇද තිබූ ට්රෑම් කම්බි චුම්බකාලෝක කලාපයන් ගෙන් වට වුණු ගිනියම් වූ ලෝහමය යොත් මෙන් දිස් විය. මේ ආලෝක ධාරා කම්බි දිගේ රියැදුරා ගේ ආසන වේදිකාවට ගොස් එතැනින් වැසි, ඇක්සල්, රෝද සහ පීලි ඔස්සේ පොළොවයට වූ කේබලයක් කරා දිවී ය. ගණනින් බොහෝ වූ කේබල් දීප්තිමත් ව බැබළුණ අතර ආවරණය කරන ලද තැන්වල පමණක් මඳ ගලායෑම් ඩොබල් ට පැහැදිලි ව පෙනිණි. ඔහුට පිටුපසින් ඇත නගර සීමාවේ වැගිරෙන ගිනි ඇල්ලක් ඔහුට දිස් විය. එය විදුලිය පොළ (Power Station) කි.

හඳිසියේ මෙතරම් උස ගොඩනැගිලි විශාල ගණනක් දක්නට ලැබීම ඔහුට පුදුමයක් විය. ඔහුට ඒවා හැබෑවට ම දක්නට ලැබුණේ නැත. ඔහු දුටුවේ විදුලි කම්බිවලින් සෑදුණු දිලිසෙන සැකිලි සහ ඉන් එකිනෙකට දුබල ලෙසින් දිවෙන

ටැලිපෝන් කම්බි පමණකි. ඔහු අහස සිඹින ගොඩනැගිලිවල සැකිලි පමණක් දුටු අතර ඒවාට සිතින් ඇඳුම් අන්ද සම්පූර්ණ ගොඩනැගිලි මනැසින් දකීමට ද සමත් විය. ගොඩනැගිලිවල තනහි තන්හි වූ විදුලිය මෝටර ලොම් රෙදිවලින් දමූ අණ්ඩ මෙන් දිස් විය.

මුළු මහත් නගරය මත රේඩියෝ තරංගවලින් අහස පොළොව යා කරමින් තාරකා දක්වා ඉහළට විහිද යන ආලෝකය ද ලෙලදෙන ආලෝක ප්‍රවාහයන් ද ආලෝක වර්ෂා සහ ගංගා ද හිරු ගැබින් එන ඉලෙක්ට්‍රෝනමය බ්‍රහ්මාණ්ඩ කිරණවල (Cosmic rays) ක්‍රියාකාරිත්වය ද පෘථිවියේ ම චුම්බක ධාරා ද ඔහු දකගත්තේ ය.

"ඔබට පෙනෙන දේ දකගැනීම සඳහා තමන්ගේ ම ඇස් වුවත් පරිත්‍යාග කිරිමට මැළි වන විද්‍යාඥයෙක් මුළු ලෝකයේ ම නැහැ." ඩොබල් ට සවන් දෙන අතර උද්යෝගයෙන් ඇළලී ගිය ක්‍රැස් උදම් වෙමින් කීවේ ය.

"එහෙත් ඩොබල් මහතාණනි, අපි ප්‍රායෝගික වැඩවලට බහින්න පෙරාතුව හෙට ලොකු ම පුවත් පත්වලින් එන වාර්තා කරුවන්ට සම්මුඛ සාකච්ඡා දෙන්න ඕනැ. අනිද්ද මම විද්‍යාඥයන් ගේ සමාජයට ඔබ ඉදිරිපත් කරනවා."

* * *

නව නිෂ්පාදනය ප්‍රබල උද්වේගයක් ඇති කෙළේ ය. සෑම පුවත් පතක් ම ඒ පිළිබඳ කරුණුවලින් පිරුණේ ය.

ක්‍රැස් ගේ යශෝරාවය දසත පැතිරෙන්නට වන. ඩොබල්ට සම්මුඛ සාකච්ඡා සහ ඡායා රූප ගත කිරීම්වලට අතරක් නැති ව මුහුණ දෙන්නට සිදු විය. මේ අතර ඔහු ගේ සේවය ලබාගැනීමට නොයෙකුත් දීමනා ඉදිරිපත් විය.

සතුරා විසින් එවනු ලැබිය හැකි ගුවන් විදුලිය පණිවුඩ අල්ලාගැනීම සඳහා හමුද මූලස්ථානයට ඔහු ගේ සේවය වුවමනා විය. ඩොබල් ට විවිධ තරංග ආයාමයන්හි රේඩියෝ පණිවුඩ

ආලෝක ධාරාවන් මගින් ග්‍රහණය කළ හැකි විය. තවද දිග හෝ කෙටි රේඩියෝ තරංග ඔහුට එක සේ දැකිය හැකි වූ නිසා ඔහු ට්‍යුන් කිරීම අවශ්‍ය නො වන රිසිවරයක් විය.

ප්‍රධාන වෙළෙඳ සමාගමක් වූ ඉලෙක්ට්‍රෝ රෙපයාර් ආයතනය පෙළොව යට වූ කේබල් ආවරණයන් කැඩී ගිය තැන් සොයා බැලීමේ රැකියාව ඔහුට පිරිනැමීමට ඉදිරිපත් විය. එම කාර්යය සඳහා අවශ්‍ය වන විදුලිය කාර්මිකයන් සමූහය සහ උපකරණ රාශිය ගැන බලන විට කුමන වැටුපක් ගෙවා හෝ ඩොබල් ලබාගැනීම ලාබ බව එම සමාගම ගණන් බලා තිබුණේ ය.

අවසාන වශයෙන් ඩොබල් කලින් රැකියාවෙහි යෙදී සිටි යුනිවර්සල් ඉලෙක්ට්‍රිසිටි වෙළෙඳ සමාගම ඔහුට රැකියාවක් ඉදිරිපත් කළා ය. නොයෙක් වර්ගවල ලාම්පු සහ කපාට (Valves), දෝලන රේඛක (Oscilligraphs), පාරජම්බුල උපකරණ, ඇක්ස් කිරණ, සහ කෘත්‍රිම ගැමා කිරණ සමාගමේ පරීක්ෂණාගාරයේ දී මේ සජීවි උපකරණය ලවා පරීක්ෂා කරවා ගැනීම ඔවුන් ගේ බලාපොරොත්තුව විය. ඔවුහු විද්‍යුත් චුම්බක දෝලනය (Electromagnetic Oscillation) පරමාණු න්‍යෂ්ටික විඛණ්ඩනය (Bombarding of atomic nuclei) සහ අන්තරීක්ෂ කිරණවල ඇතැම් ගති ලක්ෂණ ගැන ද පරීක්ෂණ කළ හ. ඇසට නොපෙනෙන කිරණ සම්බන්ධ පරීක්ෂණ පැවැත්වීමේ දී ඩොබල් වැනි සජීවි උපකරණයක් ඔවුන්ට ඉතා ම ප්‍රයෝජනවත් විය.

ක්රූස් යුනිවර්සල් ඉලෙක්ට්‍රිසිටි සමාගමේ යෝජනාව භාර ගැනීමට ඩොබල්ට අවසර දුන්නේ ය.

"ඒත් ඔබ මගේ නිවසේ නවතින්න ඕනෑ. අපේ කොන්ත්‍රාත්තුව තව ඉදිරියට තියනවා. මට ඕනෑ කරන පරීක්ෂණ සියල්ල මම තව ම ඉවර කරල නෑ."

* * *

මෙසේ ඩොබල් යළිත් වැඩ කරන්නට පටන් ගත්තේ ය. උදේ අටට ඔහු ඔසෝන් වායුවේ, රබර්වල සහ ඇසිඩ්වල ගඳින් පිරුණු පරීක්ෂණාගාරයේ වාඩි වෙයි. අනෙක් අය උදේ හිරු එළියේ හෝ සවස විදුලි පහන් එළියේ හෝ පූර්ණ අන්ධකාරයේ හෝ වැඩ කරන විට ඩොබල්ට මුළු කාලය ම ගෝල වැනි - රෝද වැනි - වලා වැනි - ඉරි වැනි - තාරකා වැනි දීප්තිමත් ආලෝක දර්ශනවලින් පිරුණු තමා ගේ මායා ලෝකය තුළ ගත කරන්නට සිදු විය. යන්ත්‍රෝපකරණවලින් නඟින කන් පාරවන කටුක ඝෝෂාව මැද්දේ, ඉන් නඟින දීප්තිමත් චුම්බක ක්ෂේත්‍රයන් ද විසිර යන ඉලෙක්ට්‍රෝන ප්‍රවාහයන් ද විවිධ බාධකවලින් ඒවා පාලනය කරන හැටි ද බලා සිටින්නට ඔහුට සිදු විය. තමා කියන හැම දෙයක් ම සටහන් කරගන්නා ලඝු ලේඛකයන් දෙදෙනා සඳහා තමා දකින සෑම දෙයක් ම කියවමින් ඩොබල් එහි වාඩි වී සිටියේ ය.

අතිශයින් සිත් ගන්නා ආශ්චර්ය ජනක ප්‍රපංචයන් නැරඹූ හෙතෙම විද්‍යාඥයන් කිසිසේත් බලාපොරොත්තු නුවූ දේ ඔවුනට කීවේ ය. විශාල තම වාෂ්ප යන්ත්‍රයට වඩා විශාල වූ ද බර වූ ද විදුලිය උපදවන යන්ත්‍රයක් ක්‍රියාකරවූ විට ඩොබල් මෙසේ කීවේ ය.

"හාය් ! ඇස් නිලංකාර කරන එළියක් නොවැ. මේ ජෙනරේටරය නගරයෙන් වැඩි කොටසක් ආලෝකමත් කරනවා. එහි චුම්බක ක්ෂේත්‍රය නගරයේ ඉම දක්වා පැතිරෙනවා. මට හැම දේ ම - මිනිසුන් වන නුඹලා පවා පේනවා. මා වටේට ඉලෙක්ට්‍රෝන බමනවා. මා හරියට දිලිහෙන මී වදයක් වගෙයි. අර ලාඩ්නර් මහත්තයා - එයා තමා ගේ නාසයෙන් ගිනි පුළිඟු පිට කරනවා. අර කෝර්ලිස් ලැමොට් මහත්තයා - එයා ගෙ ඔළුව හරියට 'මෙඩූසා' රකුසියක ගෙ ඔළුව වගෙයි. රකුසු ඔළුවෙන් සර්පයන් පිට වෙන්නා වගේ එයා ගෙ ඔළුවෙන් ගිනි දලු පිට වෙනවා. සෑම ලෝහ කැබෙල්ලක් ම ගිනියම් වී දිලිහෙනවා. හරියට දිලිහෙන නූල්වලින් ගොතලා වගේ."

මේ ඩොබල් නමැති සජීවී උපකරණයේ - සිතන සහ කතා කරන යන්ත්‍රයේ - උපකාරයෙන්, මෙතෙක් නුපුරුදු ක්‍රමවලින්

විසඳගත නො හැකි වූ ප්‍රශ්න රාශියක් විසඳගත හැකි විය. ඩොබල් ගේ වටිනා කම ඉමහත් විය. ඔහුට හොඳින් ගෙවන ලදි.

"මම හිතනවා අන්ධ මිනිසුන් ගෙන් වැඩි ම වාසනාවන්තයා මා බව. ඒත් ඇස් පේන මිනිසුන් මට වඩා වාසනාවන්තයන් බව මට සහතික යි." දිනක් සවස් කාලයේ ක්‍රූස් සමඟ දවසේ පර්යේෂණ ගැන කතා කරමින් සිටි ඩොබල් කීවේය. සෑම සැන්දෑවක ම හෙතෙම ගැල්වනෝස්කෝපය වැඩි දියුණු කිරීම සඳහා ක්‍රූස් සමග වැඩ කළේ ය.

"ඩොබල් මහත්තයා අපේ කාලය අදින් ඉවර යි. අපේ ගිවිසුමේ කොන්දේසි අනුව මම කැමති යි ඔබේ සාමාන්‍ය පෙනීම නැවත ඔබට ලබා දෙන්න. හැබැයි, මා එහෙම කළොත් ඉලෙක්ට්‍රෝනවල චලනය දකීමේ හැකියාව ඔබට නැති වෙනවා. ඔබේ වර්තමාන තත්ත්වය, වර ප්‍රසාද සහ වාසි ලබා දුන් ඒ හැකියාව ඔබට අහිමි වෙනවා."

"හරිම වරප්‍රසාදයක් ! රසායනාගාර උපකරණයක් හැටියට පමණක් ජීවත් වීමේ ඊතියා වරප්‍රසාදය. ඔව් ඔබට බොහොම ස්තුති යි. දැන් මට ඒක ඇති වෙලා. මට සාමාන්‍ය පෙනීම ඕනෑ. මට ඇවිදින කතා කරන ගැල්වනෝස්කෝපයක් නො ව සාමාන්‍ය මිනිහෙක් වෙන්න ඕනෑ."

"ඒක ඔබේ වැඩක්." ක්‍රූස් තරුම සිනාවක් සුණේ ය. "එහෙනම් අපි ප්‍රතිකාරය පටන් ගනිමු."

* * *

අන්තිමේ දී ඩොබල් ගේ ජීවිතයෙහි අතිශය වාසනාවන්ත දවස පැමිණියේ ය. හෙතෙම දෙස්තර ක්‍රූස් ගේ රැලි වැටුණු සුදුමැලි මුහුණ ද ඔහුට සහාය වන තරුණ හෙදිය ද වීදුරුව දිගේ බේරෙන වැහි වතුර ද සරත් අහසෙහි වූ දුඹුරු වලා සහ ගස්වල කහ පාට කොළ ද දුටුවේ ය; සොබා දහම තමා ගේ දීප්තිමත්, පාටවලින් සැරසී ඔහු පිළිගැනීමට පසුබට නො

වූවා ය. එහෙත් මේවා නො වැදගත් දේ ය. ඇස් පමණක් ඇතොත් කෙනෙකුට දැකීමට යහපත් දේ ඉක්මනින් සොයගත හැකි ය.

මද වේලාවක් ක්‍රැස් සහ ඩොබල් ඔවුනොවුන් දෙස නිහඬ ව බලා සිටියහ. අනතුරුව ක්‍රැස් ගේ අත තදින් මිරිකමින් ඩොබල් ඔහුට අතට අත දුන්නේ ය.

"මට මගේ කෘතඥතාව ප්‍රකාශ කරන්න වචන නෑ." ඩොබල් කීය. ක්‍රැස් හුනස්නෙන් නැගිට සිය උරහිස් හැකුළුවේය.

"මට ස්තුති කරන්න එපා. එය අවශ්‍ය නෑ. මගේ පර්යේෂණය සාර්ථක වීම තමා මට ලැබුණ විශාල තෑග්ග. මම විරෝවල් නො වෙයි. මම බොරු වෙදෙක් නො වෙයි. ඔබට පෙනීම ලබාදීමෙන් මම එය ඔප්පු කළා. විරෝවල් ගෙ ශල්‍යාගාරය ඉක්මනින් ම පාලුවට යාවි. මා ගැන කීවා ඇති. ඔබ දන් සනීප වත් සාමාන්‍ය මිනිහෙක්. ඇත්තෙන් ම ඔබේ උස මහත සහ ශක්තිමත් භාවය ගැන කෙනෙකුට ඊර්ෂ්‍යා හිතෙනවා. ඉතින් ඔබ කරන්න යන්නෙ මොනවද කියල හිතල හෙම තියෙනවද ?

"මම ඔබේ ඇහවීම පිළිගන්නවා. මම තව දුරටත් ඔබේ රෝගියා නො වෙයි. මා මෙහි සිටීමෙන් ඔබට බරක් විය යුතු නෑ. අද මම හෝටලයකට යනවා. ඊට පසු වාසය කරන්න තැනකුත් රස්සාවකුත් හොයා ගන්නවා.

"හොඳයි ඩොබල්, මම ඔබට හැම අතින් ම සුබ අනාගතයක් පතනවා."

* * *

දිනක් ක්‍රැස් ඇතුළු වීමේ කාමරයට කැඳවන ලදි. එහි කොලරය ඉස්සූ කබායක් තුළ තොප්පිය අතින් ගත් ඩොබල් සිටියේ ය. ඔහු ගේ තොප්පියේ වාටියෙන් සිහින් දිය පාරක් ගෙබිමට වැගුරුණේ ය. බොහෝ කෙට්ටු වී සිටි ඔහු විඩා පත් බවක් පෙන්වීය.

"ඩොක්ටර් ක්රුස් මම ඔබට මගේ පෙනීම ලබාදීම ගැන නැවතත් ස්තුති කරන්න ආවා."

"කියන්න ඔබ රස්සාවක් හොයාගන්න තරම් වාසනාවන්ත වුණා ද?"

"රස්සාවක් ?" ඩොබල් දුක් මුසු ලෙස සිනා සුණේ ය. "මට පෙන්න පටන් ගත්ත. ඩොක්ටර් ක්රුස්. හැම දේම හොඳ හැටි පේන්න පටන් ගත්ත. මම ඔබෙන් ඉල්ලා සිටින්න කැමති යි, ඩොක්ටර් මා නැවතත් අන්ධ කරන්න. සඳහට ම අන්ධ කරන්න, ඉලෙක්ට්රෝනවල චලනය විතරක් දක්ක හැකි ලෙස."

"සිය කැමැත්තෙන් අන්ධ වෙන්න.? ඒත් ඒක හරි භයානක යි." ක්රුස් මහ හඬින් කී ය.

"මට වෙන කරන්න දෙයක් නෑ. කරුණු යෙදිල තියන හැටියට මා බඩගින්නෙ මැරේවි."

"බෑ මට ඒක කරන්න බෑ. කොහෙත් ම බෑ. මිනිස්සු මා ගැන මොනව හිතාවි ද? අනික් අතට ඔබ පමා වුණා වැඩි යි. මම මගේ ඉලෙක්ට්රෝන දර්ශකය වැඩි දියුණු කළා. සැලකිය යුතු වෙනස් කම් කීපයක් කළා. පේටන්ට් බලපත්රය අරගෙන එය යුනිවර්සල් ඉලෙක්ට්රිකල් කොම්පැනියට වික්කා. දන් ඔවුන්ට ඔබේ සේවය උවමනාත් නැහැ."

මොහොතක් නිහඬව සිටි ඩොබල් තොප්පිය හිසේ දමාගෙන වැස්සේ ම ආපසු යන්ට හැරුණේ ය.

# මහාචාර්ය බර්න් ගේ පුනරුත්ථානය

වී. සාවිශෙත්කෝ.

ලෝකයේ මහා ජාතීන් ඔවුනොවුනට විරුද්ධ ව යුද වැදීමට වහසි බස් කියාගැනීමේ නොහොත් සීතල යුද්ධයේ ග්‍රහණයට ලෝකය අසුව තිබූ නව සිය පනස් ගණන්වල දී මහාචාර්ය බර්න් විසින් තමා ගේ ප්‍රසිද්ධ දේශනයක දී අයින්ස්ටයින් ගේ පහත සඳහන් සුප්‍රසිද්ධ කියුම උපුටා දක්වන ලදි.

"තුන් වන ලෝක යුද්ධය පරමාණු බෝම්බවලින් කළොත් සතර වන ලෝක යුද්ධය කරන්නට සිදු වන්නේ පොලු මුගුරුවලිනි."

විසි වන ශත වර්ෂයේ මහා විද්‍යාධරයා ලෙසින් අවිවාදයෙන් සැලකෙන මහාචාර්ය බර්න් ගේ මුවින් පිට වීම නිසා මේ කියුම සාමාන්‍ය නර්මාලාපයකට වැඩි ප්‍රබල හැඟීමක් ලෝක්ය තුළ ඇති කෙළේ ය. මේ සම්බන්ධයෙන් අදහස් පළ කරන ලියුම් රාශියක් බර්න් වෙත ගලා ආවේ ය. එහෙත් ඒවාට පිළිතුරු සපයන්නට බැරි විය. ඒ අවුරුද්දේ ම සරත් ඍතුවේ මධ්‍යම ආසියාවට ගිය ඔහු ගේ දෙවන භූ භෞතික විද්‍යා පර්යේෂණ ගමනේ දී හෙතම මරණයට පත් වූයේ ය.

මේ කුඩා පර්යේෂණ කණ්ඩායමේ බර්න් ගේ එක ම සහායකයා වූ ඉංජිනේරු තීමායර් පසු ව එම අනතුරේ තොරතුරු මෙසේ අනාවරණය කෙළේ ය;

"අපි අපේ පර්යේෂණ මධ්‍යස්ථානය ගෝබී කාන්තාරයේ අභ්‍යන්තරයට ගෙන යාමට තීරණය කළා. උපකරණ සහ භූ

චලන විද්‍යා පර්යේෂණවලට අවශ්‍ය පුපුරන ද්‍රව්‍ය හෙලිකොප්ටරයට පැටවූ පසු මහාචාර්ය තුමා පළමු වටය යාමට පිටත් වුණා. මම ඉතිරි උපකරණ බලාගෙන සිටියා. හෙලිකොප්ටරය ඉහළ නංවන කොටම ඇන්ජිමේ යාන්ත්‍රික දෝෂයක් ඇති වුණා. ඇන්ජිම කීප වරක් ක්‍රියා විරහිත වුණා. එතකොටත් යානය වේග ගන්වා තිබුණේ නෑ. එය මීටර් සීයක් පමණ උඩ සිට හරි කෙළින් බිමට ඇද වැටුණා. යානය පොළොවේ හැපීමේ දී තද බල පිපිරීම් දෙකක් ඇති වුණා. වේගවත් ගැටීම නිසා ඩයිනමයිට් මහ හඬින් පුපුරන්න ඇති. මහාචාර්යවරයාත් හෙලිකොප්ටරයත් අනෙක් හැම දේත් කුඩේකුඩු වුණා."

තීමායර් තමා වට කර සිටි පුවත් පත් වාර්තා කරුවන්ට කිසිවක් අඩු නො කර, කිසිවක් එකතු නො කර මේ කතාව නැවත නැවතත් කීවේ ය. විශේෂඥයන්ට එය ඇදහිය හැකි කතාවක් බව පෙනුණේ ය. ඇත්තෙන් ම බර පැටවූ හෙලිකොප්ටරයක් එතරම් උසක සිට, කඳුකරයේ කාන්තාරයක, ඝනත්වයෙන් අඩු වායුවේ දී ක්‍රියා විරහිත වූ විට ඇති විය හැක්කේ එබඳු ප්‍රතිඵලයක් පමණකි. විපත ගැන සොයා බලන්නට ගුවනින් එහි ගිය විශේෂඥ කණ්ඩායම ද තීමායර් ගේ කියුම අනුමත කළහ. එහෙත් ඇත්ත වශයෙන් සිදු වූ දේ දන සිටියේ තීමායර් පමණකි. ඔහු සිය මරණ මංචකයේ දී පවා බර්න් ගේ රහස රැකගත්තේ ය.

* * *

දෙදෙනෙකු ගෙන් පමණක් සමන්විත වූ බර්න් ගේ පර්යේෂණ නඩය ගෝබී කාන්තාරයේ ගොඩ බට ස්ථානය එහි අවට පරිසරයෙන් මඳක් වත් වෙනස් නො වී ය. අවසාන හුළඟ හැමූ අත මේ යැයි කියා පාන එක් බඳු වැලි කඳු ය. කර - කර හඬින් පයට පෑගෙන එක් බඳු රන්වන් සිහින් වැල්ල ය. දවාලට සුදු පාටින් ඇස් අඳුරු කරවන, රැය ළඟා වන විට ලේ-රතු පාටට හැරෙන, හැම ද අහසෙහි සිරස් චාපයක් මවන

එක් බඳු සැඩ හිරු ය. තුරු වදුලක් හෝ කුරුල්ලෙක් හෝ නැත. වන රොදක් නැත. බැලූ බැලූ අත සිහින් වැල්ල විනා කුඩා ගල් කැටයකුදු නැත.

බර්න් සහ ඔහු ගේ සහායක තීමායර් කාන්තාරයේ නියමිත තැනට ළඟාවී ඔවුන් පසුගිය පර්යේෂණ ගමනේ දී කතින ලද ආවාටය හමු වූ වහා ම මහාචාර්යවරයා එතැන පිහිටීම දක්වෙන සිය සටහන් පොතේ කොළය ඉරා පුළුස්සා දැම්මේ ය. දන් එතැන වටාපිටාවෙන් වෙනස් වන්නේ ඔවුන් එහි සිටීම නිසා පමණකි. ඔවුහු කුඩාරමින් පිටත කැන්වස් පුටු දෙකක දිගා වී සිටියහ. එතැනට නුදුරුව වැල්ල මත වසා සිටි දවැන්ත කුරෙකු වැනි හෙලිකොප්ටරයේ රාමුව සහ පියා පත් අව්වට දිලිසෙමින් තිබුණේ ය. හිරු ගේ අවසාන රැස් වැදී ඉතා දිගට වැටුණු යානයේ සෙවනැල්ල ඈතට විහිදුණේ ය.

"මධ්‍යම යුගයේ විසූ එක් වෛද්‍යවරයෙක් මිනිහා ගේ ආයු කාලය සීමාවක් නැති ව දික් කරගත හැකි ක්‍රමයක් දක්වා තිබුණා." මහාචාර්යවරයා කතාවට මුල පුරමින් කීවේ ය. "ඔහු කියන හැටියට ඒ සඳහා කෙනෙකු කළ යුතු දේ නම් කුටියක හෝ වෙනත් සුදුසු තැනක ශීත කරණයට භාජන වී-සිසිර නිද්‍රාවෙන් අවුරුදු අනූවක් හෝ සීයක් ගත කිරීමයි. ඊට පසු යළි උණුසුම් භාවයට පත් වී අවුරුදු දහයක් ජීවත් විය යුතු යි. යළි සුදුසු කාලය එළඹෙන තුරු සිසිර නිද්‍රාවට පත් විය යුතු යි. යළි එම වෛද්‍යවරයා මොන හේතුවක් නිසා හරි තවත් අවුරුදු දහස් ගණනක් ජීවත් වීමට අදහස් නො කර හැට අවුරුදු වියේදී ස්වාභාවික මරණයකට පත් වුණා.!" බර්න් ඇස් ඉහි කරමින් උපහාස සිනාවක් සහිතව කියා සිගරට් හෝල්ඩරය පිරිසිදු කොට එහි තව සිගරට්ටුවක් රුවාගත්තේ ය.

"හ්ම්ම්..... මධ්‍යම යුගය...... විශ්වාසයෙන් පමණක් සෑහීමට පත් නොවන අපේ මේ විසි වන ශත වර්ෂය, මධ්‍යම යුගයේ පිස්සු අදහස් ක්‍රියාවට නැංවීමට යුහුසුළු වී සිටිනවා. මධ්‍යම

යුගයේ විසූ රස විද්‍යාඥයන් රසදිය හෝ ඊයම් රන් බවට පත් කිරීමේ බලයක් ඇතැයි සැලකූ පාරසමණිය (Philosopher's Stone) බවට රේඩියම් පත් වී තියනවා. අප තවම අනවරත චලනය (Perpetual motion) - (අලුත් ශක්තිය සැපයීමෙන් තොරව යන්ත්‍ර ක්‍රියා කිරීමේ ශක්තිය) සොයාගෙන නැහැ. එය ප්‍රකෘතියේ නියමයන්ට එකඟත් නෑ. එහෙත් අපි න්‍යෂ්ටික ශක්තියේ සදතන සහ ස්වයං නවීකරණ ප්‍රභවයන් සොයාගෙන තියෙනවා... ඉතින් ..... ඔව්, මධ්‍යම කාලීනයන් ගේ තවත් විකාර අදහසක් - මුළු යුරෝපයම වාගේ 1666 දී ලෝකය විනාශය වේ යැයි බලාපොරොත්තු වුණා. ඒ කාලයේ ඊට හේතුව වශයෙන් සැලකුවේ 666 අංකය නපුරු ය යන අන්ධ විශ්වාසය සහ අලුත් තෙස්තමේන්තුව කෙරෙහි වූ අන්ධ භක්තිය යි. ඒත් අද පරමාණු සහ ජලකර බෝම්බ නිසා ලෝකාවසානය පිළිබඳ අදහසට තිරසාර පදනමක් වැටී තියෙනවා. ඒ වගේම ශීතකරණය පිළිබඳ මධ්‍යම කාලීන වෛද්‍යවරයාගේ හිතලු අදහසට අද විද්‍යාත්මක තේරුමක් තියෙනවා..... ඔව්...... ඔබ අහල ඇති ජීව නිරෝධය (Anabiosis) - (ජීවිතය අත්හිටුවීම) ගැන එය 1701 දී ලීවැන් හොක් (Leeuwenhock) හොයා ගත්තා. ඉන් අදහස් කරන්නේ සිසිල් කිරීමෙන් හෝ තෙත් ගතිය ඉවත් කිරීමෙන් හෝ ජීවන කාර්යය මන්ද ගාමී කිරීම යි. බලන්න, ශීතය හා තෙත් රහිත බව ජෛව රසායනික ක්‍රියාදමය බරපතල ලෙස හීන කරනවා. විද්‍යාඥයන් බොහෝ කාලයකට පෙර මත්ස්‍යයන් සහ වවුලන් ජීව නිරෝධ තත්ත්වයට පත් කිරීමට සමත් වී තියෙනවා. ශීතය - ඇත්තෙන් ම ප්‍රමාණවත් ශීතය - ජීවය විනාශ කරන්නේ නෑ; එය ආරක්ෂා කරනවා. සායනික මරණය (Clinical death) කියා තව තත්ත්වයක් තියනවා. හද ගැස්ම නැවතුණ වහාම නැත්නම් ශ්වසනය අත්හිටි වහාම රෝගියෙක් මැරෙන්නේ නෑ. ප්‍රතිකාර කිරීමෙන් ඔහු යළි ජීවනය කරා ගෙන ආ හැකියි. දෙස්තරවරුන් මේ තත්ත්වයට සායනික මරණය කියා කියනවා. පසුගිය යුද්ධය දෙස්තරවරුන්ට සායනික මරණ පිළිබඳ ව වැදගත් අධ්‍යයනයක් කිරීමට අවස්ථාව සැලසුවා. තදබල ලෙස තුවාල ලත් මිනිසුන් හද ගැස්ම මුළුමනින් ම නැවතී විනාඩි

කීපයකට පසු ව වුවත් නැවත ජීවනය කරා ගෙනෙන්නට හැකි බව සොයා ගන්නට පුළුවන් වුණා. මොවුන් මරණීය තුවාල ලත් අය බව අමතක කරන්න එපා. ඔබ භෞතික විද්‍යාඥයෙක් නිසා ඔබට මේවා තේරෙනවා ද කියා මා දන්නෙ නෑ."

"මම එය ගැන යම් යම් දේ අහලා තියනවා." නීමායර් හිස කසමින් කීය.

"මරණය යන වචනයේ භයානක කම සායනික යන වෛද්‍ය ලේබලය එයට එකතු කලාම ටිකක් අඩු වෙනවා. එහෙම නේද? ඇත්තෙන්ම ජීවිතය සහ මරණය අතර අතරමැදි තත්ත්වයන් කීපයක් තියෙනවා. නින්ද, සිහිසුන් බව සහ ජීව නිරෝධය ඉන් කීපයක්. ඉන්ද්‍රියයන් අවදියෙන් සිටින අවස්ථාවේ දී ක්‍රියා කරනවාට වඩා අඩුවෙන් ක්‍රියා කරන්නට සැලැස්වූ විට ඒ තත්ත්වයන් ඇති වෙනවා. පසුගිය අවුරුදු කීපය තිස්සේ ම මා මේ සම්බන්ධයෙන් ක්‍රියා කළා. ඉන්ද්‍රියන් ගේ ක්‍රියාකාරීත්වය උපරිම වශයෙන් අඩු කිරීමට - එය සායනික මරණය යනුවෙන් හැඳින්වෙන අවස්ථාව දක්වා අඩු කිරීමට - මා සමත් වුණා. එයට මුලින් ම සිය ජීවිතයෙන් වන්දි ගෙව්වේ මීයන්, ගෙම්බන් සහ රට හාවුනුයි. පසුව ශීතකරණයේ නීති රීති සහ උපක්‍රම හොඳින් පැහැදිලි වුණාට පසු අපේ ගෙදර හිටපු 'මිමී' කියන සුරතල් චිම්පන්සියා ටික කලකට මරා දැමීමේ අවදානමට මම මුහුණ දුන්නා."

"ආ.....හරි, හරි. මම ඌ දැකල තියනවා. අර පුටුවෙන් පුටුවට පැන පැන සීනි බෝල ඉල්ලන පුංචි එකා."

"අන්න හරි" බර්න් සන්සුන් ලෙස කියාගෙන ගියේ ය. "මාස හතරක් මම මිමී ව පාලන උපකරණවලින් වටකර හිමාංකයට සිසිල් කරන ලද පුංචි 'මිනී පෙට්ටියක' වැතිර ඉන්නට සැලැස්සුවා."

බර්න් තමාගේ වෙව්ලන ඇඟිලිවලින් තව සිගරට්ටුවක් තෝරා ගත්තේය.

"අන්තිමේ දී වඩා වැදගත් වූ ද අවශ්‍යතම වූ ද පරීක්ෂණය කිරීමට කාලය ආවා, මම මාවම පරීක්ෂණයට භාජනය කළා. මම සම්පූර්ණ ජීව නිරෝධයකට භාජනය වුණා. ඔබට සමහර විට මතක ඇති මහාචාර්ය බර්න් තදබල ලෙස අසනීප වෙලා ය යන කතාව පැතිර ගිය කාලය. ඒ පසුගිය අවුරුද්දේ. ඇත්ත වශයෙන් ම ඒක ඊට වැඩි දෙයක්. පුරා මාස හයක් තිස්සේ මම 'මැරිල' හිටියා. නීමායර්, මම ඔබට කියන්නම්, ඒක අසාමාන්‍ය වින්දනයක්-කිසි ම වින්දනයක් නැති තත්ත්වයකට එහෙම කියන්න පුළුවන් නම්. සාමාන්‍ය නින්දේ දී-අඩු ගණනේ පසුව හරි-අපට කාලයේ ලය මානය දැනගන්න ලැබෙනවා. ඒත් මෙහි දී ඒක එහෙම නෙමෙයි. ඒක නිර්වින්දන ඖෂධයකින් ඇති කරන ලද සිහි සුන් බව වැනි තත්ත්වයක්. පරිපූර්ණ නිහැඩියාව සහ අන්ධකාරය. ඊට පසු ජීවිතය කරා ආපසු පැමිණීම."

බර්න් පා දෙපසට විහිදගෙන, අව්වට දුඹුරු පැහැ ගැහැණු යුගත් හිස පිටු පස බැඳගෙන පුටුවේ දිග ඇදී හුන්නේ ය. උපැස් කාච පිටු පස වූ ඔහුගේ දැස් කල්පනාකාරී බවක් පළ කෙළේ ය. ඔහු සිය කතාව වෙනත් අතකට යොමු කෙළේ ය.

"සූර්යයා, පරක් තෙරක් නැති අජටාකාශයේ කොනක් දුබල ලෙස එළිය කරන ගිනිමය ආලෝක ගෝලයක්. එය වටා ඇති අනෙක් සිසිල් ගෝල සියල්ලේ පැවැත්ම සූර්යයා මත රඳා පවතිනවා... ඉතින් මිනිස් වර්ගයා සිතීමට හැකියාව ඇති සතුන් ගේ ගෝත්‍රය - මේ පුංචි ගෝලවලින් එකක පහළ වුණා. මිනිස් වර්ගයා පහළ වුණේ කොහොම ද? ඒ ගැන ගිණිය නොහැකි තරම් මිථ්‍යා මත සහ සංකල්ප පවතිනවා.

"ඒත් එක දෙයක් නියත යි. එනම් මිනිස් වර්ගයා ගේ පහළ වීමට අති මහත් ව්‍යසනයක් අවශ්‍ය වූ බව යි. මිනිසා පහළ වීමට පෙර පෘථිවියේ සිටි උසස් ම සත්ත්ව වර්ගය වූ වානරයන් ගේ ජීවත් වීමේ තත්ත්වයන් වෙනස් කළ භූ විද්‍යාත්මක විපර්යාසය කුමක් ද? කවුරුත් පිළිගන්නා කාරණය නම් මේ ව්‍යසනය පොළෝ තලය හිමෙන් වැසීයාම බව යි. උතුරු අර්ධ ගෝලය හිමෙන් වැසීයාම නිසා ඇති වූ ආහාර දුර්ලභත්වය

උසස් වානරයන්ට මස් ලබා ගැනීම සඳහා ගල් සහ පොලු අතට ගන්නටත් වැඩ කිරීමට සුදුසු පරිදි හැඩ ගැහෙන්නටත් බල කළා."

"ඔව්, ඒක එහෙම වෙන්න පුළුවන්." නීමායර් බර්න් ගේ කීම අනුමත කෙළේ ය.

"ඉතින්, පොළෝ තලය හිමෙන් වැසී ගොස් හිම යුගය පහළ වුණේ ඇයි ? එයට ඇත්තේ එක ම තර්කානුකූල කල්පිතයක් පමණ යි. එම කල්පිතය හිම යුගය සහ පෘථිවියේ භ්‍රමණ අක්ෂයේ පූර්වායනය (Precession) සම්බන්ධ කරනවා. පරහත් ඇති ව කැරකෙන හැම බඹරයක් මෙන් ම පෘථිවියේ අක්ෂයත් පූර්වායනයට භාජන වෙනවා. හෙමින් සිදු වන පරිභ්‍රමණයන්ට සහ වඩාත් හෙමින් සිදු වන පරිභ්‍රමණයන්ට හේතුව මෙයින් පෙන්නා දෙනවා. මේ බලන්න... කියමින් මහාචාර්යවරයා ගිනි කූරක් ගෙන වැල්ලේ ඉලිප්සයක් ඇන්දේ ය. ඉන් පසු එහි නාභියෙහි කුඩා සූර්යයෙක් ද ඇල වුණු අක්ෂය සහිත කුඩා ගෝලයක් ලෙසින් පෘථිවිය ද ඇන්දේ ය. "ඔබ දන්නවා ඇති පෘථිවි අක්ෂය එහි කක්ෂ තලයේ අක්ෂයට අංශක 23.27 කෝණයකින් ඇල වෙලා බව. පෘථිවි අක්ෂය අවකාශයේ කේන්ද්‍රීය කෝණය සහිත කේතුවක් පෙන්වනවා. මෙන්න මෙහෙම... ඔබ මට සමාවෙන්න ඕනෑ කාලයක් තිස්සේ අප කවුරුත් දනගෙන හිටපු දේවල් යළිත් ඔබ හමුවේ කියා පෑම ගැන. ඒත් නීමායර් මට ඒවා වැදගත්. කොයි හැටිත් එය පොළොව සහ එහි කක්ෂය සම්බන්ධ ප්‍රශ්නයක් නො වෙයි. වැදගත් කාරණය නම් දීර්ඝ කාලයක් තුළ දී සූර්යයා සහ පෘථිවිය අතර සම්බන්ධය වෙනස් වූ ආකාරය යි."

"අවුරුදු හතළිස් දහසකට පෙර දකුණු අර්ධ ගෝලය සූර්යයා දෙසට හැරුණා. එවිට උතුරු අර්ධ ගෝලය හිමෙන් වැසී ගියා. බොහෝ ප්‍රදේශවල, වැඩිපුර ම මධ්‍යම ආසියාවේ විය හැකි යි, මිනිස් වානර ගෝත්‍ර පහළ වුණා. ඔවුන් භූ භෞතික අවශ්‍යතාවන් නිසා රංචු වශයෙන් සංචාරය කළා. පූර්වායන චක්‍රය අතරතුරේ දී පළමු සංස්කෘතීන් පැන නැඟුණා.

අවුරුදු දහ තුන් දහසකට පසු උතුරු හා දකුණු අර්ධ ගෝලයන් සූර්යයාට ඇති සම්බන්ධය පිළිබඳ වූ ස්ථාන වෙනස් කරගත්තා. ඉන් පසු දකුණු අර්ධ ගෝලයේත් ගෝත්‍ර පහළ වුණා."

"උතුරු අර්ධ ගෝලයේ මීළඟ හිම යුගය තව අවුරුදු දොළොස් දහසක් හෝ දහතුන් දහසක් අවෑමෙන් ඇති වේවි. දැන් අසාමාන්‍ය ලෙස දියුණු වී සිටින මිනිස් වර්ගයා එයට සාර්ථක ලෙස මුහුණ දෙන්නට තරම් බලසම්පන්නයි..... හැබැයි, ඔවුන් සමූලඝාතනය නො වී ඉදිරියටත් පැවතුණොත් පමණ යි... ඒත් මම තදින් විශ්වාස කරනවා මිනිස් වර්ගයා එතරම් කල් නොපවතීවි කියා! ඉතා වේගයෙන් දියුණු වේගන යන නවීන විද්‍යාව විසින් පහළ කර ඇති හැකියාවන් අනුව අපි අපේ ම අවසානය කරා ළඟා වෙමින් සිටිනවා..... මම ලෝක යුද්ධ දෙකක් අතර තුර කාලය තුළ ජීවත් වුණා. ඒ ලෝක යුද්ධ දෙකට ම මා සම්බන්ධ වී තියෙනවා. පළමු වැන්න සොල්දාදුවකු වශයෙන්. දෙ වැන්න විද්‍යාඥයෙකු වශයෙන්. මම පරමාණු සහ ජලකර බෝම්බ පිළිබඳ අත්හදා බැලීම්වලට සහභාගි වුණා. ඒ අනුව මට කොයි හැටියකින් වත් හිතා ගන්න බැහැ තුන් වන ලෝක යුද්ධය කොහොම එකක් වේවි ද කියා. ඒක හිතන්නත් භයානක දෙයක්. ඊටත් වැඩිය නරක දේ නම් විද්‍යා දැනුමෙන් පරතෙරට පත් මිනිසුන් මෙතරම් මාස ගණනක දී යුද්ධ පටන් ගන්නා බව ප්‍රකාශ කිරීම යි. ඔවුන් කතා කරන්නේ සතුරා ගේ කාර්මික මධ්‍යස්ථානවලට අති විශාල පරමාණු ප්‍රහාර එල්ල කිරීම සහ අති මහත් විකිරණ ශීලී ශූන්‍ය ප්‍රදේශ ඇති කිරීම වැනි දේවල් පිළිබඳව යි. වැඩිපුර මොකද, ඔවුන් ගණන් බලනවා න්‍යෂ්ටික විකිරණ මගින් පස, වාතය සහ ජලය වඩා සාර්ථක ලෙස විෂ සහිත කරන්නේ කොහොම ද කියා. ළඟ දී මට අමෙරිකන් විද්‍යා සඟරාවක දකින්න ලැබුණා, පොළොවට වැඩි ම විකිරණ ප්‍රමාණයක් කැවීමට හැකි වන පරිදි පරමාණු බෝම්බයක් අඩු ම ගණනේ පොළොව යටට අඩි 50 ක් කා වැදිය යුතු ය කියා. මේක විද්‍යාවේ භයංකර භීෂණයක් !" බර්න් යුගතින් හිස බදගෙන අඩි බිම හැප්පුවේ ය. හිරු බැස ගොස් ඇත. උණුසුම් රාත්‍රිය ඇරඹී ඇත. ඉක්මනින්

කළු පාට වේගන යන අඳුරු නිල් වත් අහසෙහි දුබල ලෙස දිලිසෙන තරු කීපයක් එල්ලී තිබුණේ ය. කාන්තාරය ද කළු පාට ය. ආකාශය කාන්තාරයෙන් වෙන් කොට ගත හැක්කේ එහි තාරකා තිබෙන නිසා පමණකි.

නැවත සන්සුන් බවට පත් වූ මහාචාර්යවරයා කල්පනාකාරී විලාසයකින් පහත් හඬින් කතා කරන්නට විය. ඔහු ඒකාකාරී හඬින් පැවසූ දේ නිසා පරිසරය උණුසුම්ව තිබියදීත් නීමායර් ගේ සිරුර වෙව්ලන්නට විය.

"සමහර විට න්‍යෂ්ටික බෝම්බ අපේ මුළු ග්‍රහය ම අළු කර දමන එකක් නැහැ. එහෙත් මුළු මහත් වායු ගෝලය විකිරණ ශීලිත්වයෙන් ඇළලී යන්නට පුළුවන්. ඔබ දන්නවා ඇති විකිරණය දරු උපත් කෙරෙහි බල පාන හැටි. ප්‍රහාරයෙන් පසු ඉතිරි වන අය ඇති වන සංකීර්ණ තත්ත්වයන්ට මුහුණ දෙන්නට බැරි තරමට ජීව ගුණයෙන් හීන අබල දුබල අය පරම්පරා කීපයක් තුළ ම බිහි කරාවි. සමහර විට මිනිසුන් සාමූහික සිය දිවි නසාගැනීමකට වඩාත් උචිත අවි නිපදවීමට සමත් වේවි. ඒ නිසා යම් හෙයකින් තුන් වන ලෝක යුද්ධය පමා වුවත් ඒ පමා වන තරමට එහි ප්‍රතිඵල වඩා බියකරු සහ තීරණාත්මක වේවි. සටන් කිරීමට ඉඩ ලැබුණ විටක දී මිනිසුන් ඉන් වැළකුණ අවස්ථාවක් මගේ ජීවිතයේ දී මා මෙතෙක් දැක නැහැ. ඉතින් මීළඟ චක්‍රය අවසානයේ දී අපේ ග්‍රහය මත එක් බුද්ධිමත් සත්ත්වයෙකු වත් ඉතිරි වෙන එකක් නැහැ."

"පෘථිවිය දීර්ඝ කාලයක් මුළුල්ලේ නිහඬ නිසල සූර්යයා වටා ගමන් කරාවි. ඒත් එය මේ කාන්තාරය වැනි නිහඬ නිසල තැනක් වේවි." මහාචාර්යවරයා සුරත කාන්තාරයේ මුඩු බිම දෙසට යොමු කරමින් කීවේ ය. "යකඩ මළ කෑම නිසා විනාශ වී යාවි. ගොඩනැගිලි දිරාපත් වේවි. ඉන් පසු අලුත් හිම යුගයක් ඒවි."

"ඝන හිම තට්ටු අපේ ග්‍රහයේ මුහුණත පිස ද හැර අපේ අවාසනාවන්ත ශිෂ්ටාචාරයේ නටබුන් ඉවත් කර දමාවි. අවසානයේ පොළෝ තලය නව මානව වංශයක් සඳහා පිරිසිදු

කර සූදනම් කරනු ලැබේවි."

"අද මිනිසුන් වන අපි අනෙක් සෑම සත්ත්ව වර්ගයක ගේ ම සංවර්ධනය ආපස්සට අදිමින් සිටිනවා. අපි ඔවුන් දඩයම් කර මරාදනවා. දුර්ලභ සත්ත්ව වර්ගයන් විනාශ කරනවා. මිනිසුන් වඳ වීමෙන් පසු නිදහස ලබන සත්ත්ව ලෝකයේ සංඛ්‍යාත්මක සහ ගුණාත්මක ප්‍රබල සංවර්ධනයක් ඇති වේවි. අලුත් හිම යුගයෙන් පසු කාලයේ දී උසස් වර්ගයේ වානරයන් සිතීම පටන් ගන්නට තරම් දියුණු වේවි. ඔවුන් අපේ අයට වඩා වාසනාවන්තයින් වෙනවා ඇතැයි අපට බලාපොරොත්තු විය හැකි යි."

"ඒත් මහාචාර්ය තුමනි, පොඩ්ඩක් ඉන්න." නීමායර් කෑ ගැසී ය. "ඔබ කියන විදියට සිය පණ නසාගන්න අපි ඔක්කොම පිස්සො නෙමෙයි."

"ඔබ හරි." සියුම් උපහාස සිනාවකින් යුතු ව බර්න් එය අනුමත කෙළේ ය. "ඒත් සිහි බුද්ධිය ඇති මිනිසුන් දහස් ගණනකට වත් හරි ගස්සන්න බැරි තරම් හානියක් එක පිස්සෙකුට සිදු කළ හැකි යි. කොයි හැටිත් මා තීරණය කරල තියනවා අභිනව මානව වංශය පහළ වන අවස්ථාවේ දී පෙනී සිටින්නට." ඔහු ආවාටය දෙසට හිස යොමු කරමින් මෙසේ ද කී ය: "මගේ උපකරණවල ප්‍රතියෝජකය වශයෙන් අවුරුදු අට දහසක පමණ අර්ධ ආයු අවධියකින් යුත් කාබන් විකිරණ ශීලි සමස්ථානිකයක් (Isotope) යොද තිබෙනවා. ප්‍රතියෝජකය සකස් කර ඇත්තේ ශත වර්ෂ එක සිය අසූවක දී ක්ෂය වෙන්නට යි. ඒ කාලය වන විට විද්‍යුත් දර්ශකයේ තහඩු වෙන් වන තරමට සමස්ථානිකයේ විකිරණය අඩු වී පරිපථය සම්පූර්ණ වේවි. එතකොට මේ අජීවි කාන්තාරය නැවතත් සරුසාර උප නිවර්තන ප්‍රදේශයක් වෙලා තියේවි. නව වානර වර්ගයන්ට ඉතා හිතකර දේශ ගුණයක් මෙහි ඇති වේවි."

නීමායර් අතිශයින් කැළඹීමට පත් ව සිටියේ ය.

"හරි, හරි. යුදකාමීන් පිස්සො තමයි. ඒත් ඔබේ වැඩ පිළිවෙල ගැන කොහොමද? ඔබ හදන්නෙ අවුරුදු දහ අට

දහසක් හිමායිත වෙන්න නේද?"

"මොකද නිකම් ම හිමායිත වීම?" බර්න් සන්සුන් ව ඇසී ය. දැන් අපට තියනවා ප්‍රතිවර්තනය කළ හැකි සම්පූර්ණ සිද්ධි දමයක්: ශීත කරණය, නින්දේ උපසමය ලැබීම, ජීව නිරෝධය ....."

"ඒත් ඒක විහිත් පණ නහගැනීමක්. පැහැදිලි සිය දිවි නසාගැනීමක්." නීමායර් කෑ ගැසී ය. ඔබට මාව නං කවද වත් ඕකට කැමති කරගන්න බෑ. එන්න, ඔබය අදහස අත්හැර දන්න. තවමත් පමා වුණා වැඩි නැහැ."

"නෑ, නෑ. වෙනත් අමාරු පරීක්ෂණයකට වඩා මෙහි ඇති අවදනමක් නැහැ. ඔබ ම දන්නවා මීට අවුරුදු හතළිහකට පෙර සයිබීරියානු තුන්ද්‍රාවල නිත්‍ය හිම තට්ටුවක තිබී සොයාගත් මැමත් මළ සිරුර ගැන. එහි මස් කොතරම් හොඳින් ආරක්ෂා වෙලා තිබුණා ද කිවහොත් බල්ලෝ ඒවා ගිජු ලෙස කෑවා. මැමත් මළ සිරුරක් ස්වභාවික තත්ත්වයන් යටතේ එතරම් හොඳින් ආරක්ෂා වී තිබුණා නම් විද්‍යාත්මක ව ගණනය කළාවූත් හොඳින් අත්හද බැලුවාවූත් තත්ත්වයන් යටතේ මගේ සිරුර සුරකෙනු ඇතැයි විශ්වාස කරන්න බැරි ඇයි ! ඔබේ නවීන තම අර්ධ සන්නායක තාප මූලද්‍රව්‍ය (Thermo elements) විශ්වාස දයක ලෙස සහ සරල ලෙස උෂ්ණය විදුලි ධාරාවන්ට හැරවීමෙනුත් ඒ අතර ම ශීතය නිපදවීමෙනුත් ඒවාටූ අයත් කාර්යයන් මැනවින් ඉටු කරාවි යැයි මා සිතනවා. අවුරුදු දහ අට දහසකට නො අඩු කාලයක් මුළුල්ලේ ඒවා මගේ බලාපොරොත්තු කඩ නො කරනවා ඇති. එහෙම නේද ?"

නීමායර් උරහිස ගැස්සුවේ ය.

"ඇත්තෙන් ම මගේ තාප මූලද්‍රව්‍යමය උපකරණ ඔබ ව අමාරුවේ දන්නේ නෑ. ඒවා විශිෂ්ට සරල නිර්මාණ. ආවාටයේ තත්ත්වයත් තිබිය හැකි තරම් උසස් මට්ටමක තියනවා. ඉතා අල්ප උෂ්ණත්ව අඩු වැඩි වීමක්. තෙතමනය ඇත්තේ ම නැහැ.

මැමත් සිරුර සුරකුණු තරම් දිගු කලකට ඒවා සහතික කරන්න. පුළුවනි. ඒත් අනෙක් උපකරණ ගැන කොහොම ද? අවුරුදු දහ අට දාහ තුළ ඉන් එකක් වත් නරක් වුණොත් .....?"

බර්න් සිය සිරුර කෙළින් කර තාරකාමය පසු බිම ඉදිරියේ යළි දිග ඇදුණේ ය.

"අනික් උපකරණ එතරම් දිගු කාලයක් තිස්සේ වැඩ කරන්න ඕන නෑ. ඒවා ක්‍රියා කළ යුත්තේ දෙ වරයි: හෙට උදේ සහ නැවත ශත වර්ෂ එක සිය අසූවකට පසු පෘථිවියේ මීළඟ ජීවන චක්‍රය පටන් ගන්නා විට පමණ යි. ඉතිරි මුළු කාලය තුළ ඒවා මා සමඟ කුටිය තුළ පවතිනවා ඇති."

"මහාචාර්ය තුමනි, මට අවංක ව කියන්න, ඔබ තවමත් මිනිස් වර්ගයා ගේ අවසානය ගැන හැබෑවට ම විශ්වාස කරනවද?"

"ඒක විශ්වාස කරන එකත් බොහොම බිය කරු දෙයක් තමයි." බර්න් සිතුවිලි බර ව කී ය. "ඒත් මම විද්‍යාඥයෙක් වගේ ම මිනිහෙක්. ඉතින් මම මා ගැන ම බලාගන්න ඕනෑ. දැන් එන්න. අපි නිදගම්මු. අපට හෙට කරන්න හුඟක් වැඩ තියනවා."

බොහෝ වෙහෙසී සිටි නමුත් නීමායර්ට හොඳින් නින්ද ගියේ නැත. ඒ උණුසුම නිසා හෝ මහාචාර්ය බර්න් කී දෙයින් ඔහු තුළ ඇති වූ කම්පනය නිසා හෝ විය හැකි ය. ඔහු ගේ මොළය තදින් ඇවිස්සී තිබීම නින්ද නො යාමට ප්‍රධාන හේතුව වූ බව නිසැක ය. හිරු ගේ පළමු රැස් කුඩාරමට වැටෙත් ම නීමායර් නැගිටින්ට සැරසුණේ ය. ඔහු අසල වැතිර සිටි බර්න් වහා ඇස් හැරියේ ය.

"අපි පටන් ගම්මු."

ආවාට පත්ලේ ගැඹුරෙහි සිටි ඔවුන්ට ගන නිල් වන් අහසින් කඩක් දක්ක හැකි විය. යටින් පටු වූ ආවාටය කෙමෙන් පුළුල් වූවක් විය. බර්න් සහ නීමායර් විසින් පසු ගිය දවස් කීපය මුළුල්ලේ සවි කරන ලද යන්ත්‍රෝපකරණ බිත්ති කුහරකයක

පිහිටුවා තිබුණි. තාප මූලද්‍රව්‍යමය ශක්තිමත් කේබල් පොටවල් ආවාටයෙහි වැලි බිත්ති තුළින් ඒවාට ඇද තිබුණි.

අවසාන වරට බර්න් කුටියෙහි වූ සියලු උපකරණවල ක්‍රියාකාරිත්වය පිරික්සා බැලුවේ ය. ඔහු ගේ උපදෙස් පරිදි නීමායර් ආවාටය මුදුනේ කුහරයක් තනා එහි විදුලි ආරෝපණයක් (Charge) සවි කර එහි සිට කුටියට විදුලි රැහැන් ඇද්දේ ය. සූදානම් වීම් නිම වූ පසු ඔවුහු මතු පිටට බඩ ගෑහ.

"අද කාන්තාරයේ දර්ශනය කදිම යි. නැද්ද? මාගේ ආදරණීය සහායකය, ඇත්තෙන් ම එහි පෙනුම විශිෂ්ට යි නේද? තව පැය කීපයකින් මම මගේ ජීවිතය මේ ලෝකයෙන් වෙන් කරනවා. ඒකට තමයි ඔබ නිතර ම සිය දිවි නසාගැනීම යැයි කියන්නේ. හැම දෙයක් ගැන ම ලිහිල් විදියට හිතන්න. ජීවිතය ප්‍රහේලිකාවක්. කාලය නමැති කෙළවරක් නැති පීත්ත පටියේ නූල් පොටක් වැනි ජීවිතය තේරුම් ගන්න මිනිස්සු දැඩි ලෙස උත්සාහ කරනවා ..... එන්න, දැන් මට වෙන් වීමේ වචනයක් කියන්න. අපට මින් පසු වල් පල් කතා කර කර ඉන්න වෙලාවක් ලැබෙතැයි හිතන්න අමාරු යි."

නීමායර් කිසිත් නො කියා මොහොතක් තමා ගේ තොල් තද කරගෙන සිටියේ ය.

"මම දන්නෙ නෑ මොනව කියන්න ද කියා. මට නම් තාම විශ්වාස කරන්න බෑ ඔබ මේ වැඩේ කරාවි කියා, ඔබ එය කරන බව හිතන්නත් මට බය යි."

"හ්ම්.... ඔබ මගේ හිත ටිකක් සැහැල්ලු කළා." බර්න් සෙමෙන් කීවේ ය. "කෙනෙකු ගැන දුක් වෙන්න කෙනෙක් ඉන්න එක හිතට සහනයක්. වෙන් වීම දික්ගස්සමින් අපි එකිනෙකා කණගාටු විය යුතු නෑ. ඔබ ආපසු ගියාම අප එකහ වුණු හැටියට හෙලිකොප්ටරයේ අනතුර රහ දක්වන්න. මා නො කීවත් ඔබ දන්නවා ඇති මේ පරීක්ෂණයේ ඉතා අවශ්‍ය කොන්දේසිය රහස්‍ය භාවය බව. සති දෙකක් යන්නට

පෙර සරත් වැලි කුණාටු පටන් ගනීවි. ආයුබෝවන්. මා දිහා ඔය විදියට බලන්න එපා."

මහාචාර්යවරයා නීමායර්ට අතට අත දුන්නේ ය.

"මම හිතනවා කුටිය ඉඩ තියෙන්නෙ එක් කෙනෙකුට පමණ යි. කියා." නීමායර් ගොත ගසමින් කීවේ ය.

"ඔව්, එක් කෙනෙකුට විතරයි." බර්න් කී ය. ඔහු ගේ මුහුණේ ලෙන්ගතු බව පිළිබිඹු විය. ඔබ මෙයට එකඟ කරවාගන්නට කලින් උත්සාහ නො කිරීම ගැන මා පසුතැවිලි වීමට පටන් ගෙන ඇති බවක් මට හැඟෙනවා." ඉන් පසු අඩියක් ඉදිරියට තබා හේ මෙසේ කී ය.

"මිනිත්තු පහක දී ඔබ ආවාටයෙන් ඉවත් වෙන්න."

ඉක්බිති මහාචාර්යවරයා ගේ පැසුණු හිස ආවාටය තුළ නො පෙනී ගියේ ය.

බර්න් කුටියේ පිටු පස වූ දෙර අගුළු ලෑවේ ය, ඇඳුම් මාරු කර - නළ බොහෝ ගණනක් යොදන ලද කිම්දෙන ඇඳුම් කට්ටලයක් වැනි ඇඳුමක් ලා ගත්තේ ය. සිරුරේ බාහිර හැඩයට ගැළපෙන පරිදි තනන ලද ප්ලාස්ටික් මෙට්ටය මත වැතුරුණේ ය. ඉන් පසු ඔහු සිරුර මඳක් ඔසවා හරි බරි ගැහී ඇඟට තද වන කිසි යම් කොටසක් නැති බවට සෑහීමට පත් විය. පාලන පුවරුව ඉදිරි පස දැල්වෙන සංඥා පහන උපකරණ සියල්ල නිවැරදි බව දැක්වී ය.

මහාචාර්යවරයා පිපිරීම් පියුසයේ බොත්තමට අත තබා මොහොතක් පමා වී එය තද කෙළේ ය. කම්පනයක් ඇති වූ නමුත් එහි ශබ්දය කුටියට කා වැදී ගියේ නැත. දැන් ආවාටය වැසී ඇත. බර්න් අවසාන වරට ශීත කරණ උපකරණවල සහ නිර්වින්දනය සපයන යන්ත්‍රයෙහි සුවිච්ය දමා බාහුව මෙට්ටයේ එයට නියමිත තැන තබා සිය බැල්ම සීලිමේ වූ දිලිසෙන ගෝලය දෙසට යොමු කර තත්පර ගණන් කරන්නට පටන් ගත්තේ ය.

පොළොව මතු පිට සිටි නීමායර් ට ඇවිරුණු බොල් ගිගුරුම් හඬක් ඇසුණේ ය. වැලි සහ දූලි කඳු අහසේ ඉහළට විසිරී ගියේ ය. බර්න් ගේ කුටිය දන් අඩි 45 ක් ගැඹුරෙහි - වැලි තට්ටුව යට - වැළලී ඇත. නීමායර් වට පිට බැලුවේ ය. කාන්තාරයේ නිහැඬියාව ඔහු තුළ බිය මුසු හැඟීමක් ඇති කෙළේ ය. ඔහු හෙමින් හෙලිකොප්ටරය බලා ගමන් කෙළේ ය.

දවස් පහකට පමණ පසු ඔහු හෘදය සාක්ෂ්‍යයට එකඟ ව ක්‍රියා කරන්නෙකු ලෙසින් හෙලිකොප්ටරය පුපුරුවා හැරියේ ය. ඉන් පසු ඔහු මොංගෝලියාවේ කුඩා ගම්මානයකට ළඟා විය.

හරියට සතියකට පසු කාන්තාරයේ එක් පැත්තක වූ වැලි කඳු අනෙක් පැත්තට ගෙන යමින් ද පහත් තැන් පිළිබඳ සලකුණු සියල්ල ඉවත් කරමින්ද සරත් සුළඟ හමන්නට විය. කාලය මෙන් අනන්ත වූ වාලුකා තලය බර්න් ගේ පර්යේෂණ ගමනේ අවසාන වාඩිය පිළිබඳ සලකුණු සියල්ල පිස ද හැරියේ ය. එය පිහිටා තිබූ තැන් වටාපිටාවෙන් වෙන් කොට හඳුනාගත හැකි කිසිවක් ඉතිරි නො වී ය.

* * *

තිව් තිවී දල්වෙන කුඩා එළියක් අඳුර අතරින් කෙමෙන් දිස් විය. එය ස්ථිර ව දල්වෙන්නට වූ විට විකිරණ ශීලී ප්‍රතියෝජකයේ සංඥා ආලෝකය බව බර්න්ට ප්‍රත්‍යක්ෂ විය.

ඔහු ගේ උඩු හිත කෙමෙන් පැහැදිලි වන්නට විය. නිත්‍ය හෝරා යන්ත්‍රයට සම්බන්ධ විද්යුත් දර්ශකයේ තහඩු තමා ගේ වම් පසට වැටී ඇති බව ඔහු දුටුවේ ය. හෝරා යන්ත්‍රයේ කටුව "19" සහ "20" අතර විය. ඉන් තමා විසි වන සහස්‍ර වර්ෂයේ මැද භාගයෙහි ජීවත් වන බව බර්න් දැනගත්තේ ය. ඔහු ගේ මොළය හොඳින් වැඩ කෙළේ ය. එය යට පත් කරගත් උද්යෝගිමත් හැඟීමකින් පිරී තිබුණේ ය.

බර්න් සිරුර පිරික්සා බලන්නට අදහස් කෙළේ ය. කට අයා යළි පියාගත්තේ ය. තව ම හිරි වැටි ඇති දකුණු පය හැර අන් සියලු අවයව ප්‍රතික්‍රියා දැක්විය. දකුණු පය තවම 'නිදි' ඇති. නැත් නම් උෂ්ණය ඕනැවට වඩා නගින්නට ඇති. සිරුර උණුසුම් කරනු සඳහා ඔහු කඩිසර සෙලවීම් කීපයක් සිදු කෙළේ ය. අවසානයේ ඔහු නැඟී සිටියේ ය. උපකරණ දෙස නෙත් යැවූ ඔහුට වෝල්ට මීටරයේ (=විදුලිය ධාරා මානයේ) කටුව පහත බැස ඇති බව දක්නට ලැබිණ. එසේ ම ඇකියුම්ලේටරය (=විදුලිය ධාරාවක් එය තුළින් යැවීමෙන් නැවත ආරෝපණය කළ හැකි බැටරිය) ද මිදුණු පිති ඉවත් කිරීමේ දි මඳක් බැස තිබුණි. ඔහු තාප බැටරි සියල්ලේ ස්විච්ච දමූ පසු කටු වහා සෙල වී ඉහළ නගින්නට විය. එකෙණෙහි ම ඔහුට නීමායර් සිහි විය. නීමායර් ගේ තාප මූලද්‍රව්‍ය ඔහු අමාරුවේ දමා නැත. ඔහු පිළිබඳ මතක බර්න් තුළ අපූර්ව වූ ද වේදනාත්මක වූ ද දෙයාකාර සිතුවිල්ලක් පහළ කෙළේ ය. "නීමායර් සිටියේ බොහොම කලකට ඉස්සර. කවුරුවත් එච්චර කල් ජීවත් වෙන්නෙ නෑ."

ඔහු ගේ බැල්ම සීලිමේ වූ ලෝහමය ගෝලය දෙසට යොමු විය. එය අඳුරු ය. කිසි දිලිසුමක් නැත. බර්න් නො ඉවසිලිමත් වීමට පටන් ගත්තේ ය. ඔහු නැවත වෝල්ටමීටරය දෙස බැලී ය. ඇකියුම්ලේටරය හොඳින් විදුලිය යවන්නේ නැත. එහෙත් තාප බැටරි ක්‍රියා ගැන්නුව හොත් පොළොව මතුපිටට නැඟීමට තරම් (= විදුලිය ධාරා මානයේ) බලයක් ලැබෙනවා ඇත. ඔහු සිය ඇඳුම් මාරු කර කුටියේ සීලිමෙහි වූ සොල්දර දෙර ඔස්සේ ස්වයංක්‍රීය ඉස්කුරුප්පු මුදුන සහිත පිධානය (=පියන) කරා නැංගේ ය.

ඔහු එහි විදුලිය මෝටරවල ස්විච්චය එබූ විට ඒවා ගුම් හඬ දෙමින් කරකැවෙන්නට පටන් ගත්තේ ය. පිධානයේ මුදුන පොළොව කාගෙන ඉහළ නගින්නට විය. කුටියෙහි බිම යන්තමින් සෙලවිණ. බර්න් සහන ශීලී හැඟීමකින් යුතු ව, කුටිය කෙමෙන් ඉහළ නගින බව තේරුම් ගත්තේ ය.

අන්තිමේ දී ලෝහමය පිධානය බිම පසාරු කරගෙන යන විට නැහෙන කර කර හඬ නිමාවට පත් විය. බර්න් විශේෂ යතුරකින් එහි මුරිච්චි ගැලවීමට උත්සාහ කෙළේ ය. එය පහසු කාරියක් නො වි ය. ඉන් ඔහු ගේ ඇඟිලි පවා සීරුණේ ය. අන්තිමේ දී කුඩා විවරයක් තුළින් හැන්දෑවේ සහන් එළිය ඔහුට යන්තමින් දක්ක හැකි විය. තව ප්‍රයත්න කීපයකින් පසු මහාචාර්ය බර්න් පිධානය තුළින් උඩට මතු විය.

සඳෑ අඳුර වැටීගන එද්දී අඳුරු නිහඬ වනය හැම අත පැතිර තිබුණේ ය. පිධානයේ මුදුන් ශංකුව (= උල් රවුම් කොන) පස විදගෙන ලොකු ගහක් ළඟින් මතු වි තිබුණේ ය. ගසේ ශක්තිමත් කඳ, අතු සහ කොළ රැසක් අහසට ඔසවාගෙන සිටියේ ය. ගස තව රියනක් වමට වෙන්ට වැඩී තිබුණා නම් ශංකුව මතු වන්නට තිබුණේ කඳ තුළිනි. තමා බේරී ඇති අනතුර ගැන සිතූ බර්න් තැති ගත්තේ ය. ඔහු ගහ ළඟට ගොස් එහි දවැන්ත කඳ අත ගා බැලී ය. එහි දිය උරාගන්නා පොත්ත තෙත් සහිත බව ඔහු ගේ අතට දැනුණේ ය. මෙය මොන වර්ගයක ගහක් දැයි දැනගන්නට ඔහු එළි වෙන තුරු සිටිය යුතු ය.

බර්න් පෙරළා පිධානය වෙතට ගොස් තමා ගේ ආම්පන්න පිරික්සා බැලුවේ ය. ආහාර ටින්, වතුර, කොම්පාසුව, රිවෝල්වරය. ඔහු සිගරැට් කොපුව හැර සිගරැට්ටුවක් ගෙන දල්වා ගත්තේ ය. "මෙතෙක් දුරට මා අදහස් කළ දේ හරි." යනු ඔහු ගේ සිතෙහි වූ ප්‍රධාන සිතුවිල්ල විය. එද කාන්තාරය අද කැළෑවෙන් වැහිලා ය.

"මම බලන්න ඕනෑ විකිරණ ශීලී ඔර්ලෝඩුව හරියට වැඩ කරලද කියා. ඒත් කොහොම ද?"

ගස් එකිනෙක එතරම් කිට්ටුවෙන් නො පිහිටි නිසා අහසේ දිලිසෙමින් තිබෙන තරු පැහැදිලි ව දක්ක හැකි විය. බර්න් අහසට නෙත් යොමු කෙළේ ය. ඔහුට ක්ෂණික සිතුවිල්ලක් පහළ විය, 'වේගා' තරුව දන් 'ධ්‍රැව තාරකාව' විය යුතු යි.

ඔහු කොම්පාසුව ගෙන පහළ සිට අතු ඇති ගහක් සොයා ගියේ ය. ගස් නැගීමේ පුරුද්දක් නැති ඔහු අදක්ෂ ලෙස එයට නැංගේ ය. එහි අතු ඔහු ගේ මුහුණේ ඇතිල්ලුණේ ය. ඉන් නැගුණ හඬට බිය පත් වූ පක්ෂියෙක් කර්කශ නාදයක් නහමින් අත්තෙන් ඉගිළ ගියේ ය. උගේ අත්තටුවලින් බර්න් ගේ කම්මුලට වේදනාකර පහරක් වැදුණේ ය. උගේ අපූර්ව නාදය ටික වේලාවක් යන තුරු වනයේ රැව් දුන්නේ ය. මහචාර්යවරයා හති ලමින් ඉහළ අත්තක හිඳගෙන අහස දෙස බැලුවේ ය.

තව ම දැඩි අඳුර ය. ඔහුට ඉහළින්, දිලෙන තරු රැසින් ගහන නුපුරුදු අහස පැතිර තිබුණේ ය. ඔහු ගේ ඇස් සුපුරුදු තරු පංති සොයා යන්නට විය. 'ග්‍රේට් බෙයාර්' සහ 'කැසියෝපියා' තරු පංති කොහි ද? එහි නෑ. ඇත්තෙන් ම කොහොමද නැති වෙන්නෙ? අවුරුදු දහස් ගණනක දී තාරකා ගමන් කරල - කාලයා ගේ ඇවෑමෙන් තරු පිළිබඳ පැරණි හඳහන් සේරම වෙනස් වෙලා. ඒත් ක්ෂිර පථය එහෙම ම යි. එය නො පැහැදිලි 'තරු දූලි' රැසක් ලෙසින් අහසේ තවමත් විහිදිලා තියනවා. මහාචාර්ය බර්න් කොම්පාසුව ගෙන එය ඇහැ ළහට කිට්ටු කර එහි දුබල ලෙස දිලිසෙන කටුව දෙස බැලී ය. ඒ අනුව ඔහු සිය බැල්ම උතුරට යොමු කෙළේ ය. තරු සහිත අහස අවසන් වන අඳුරු ක්ෂිතිජයට ඉහළින් අහසේ අතිශය දීප්තිමත් තරුව 'වේගා' ඇගේ කොළ පැහැයට හුරු බෙහෙවින් තිසල - එළිය හෙළී ය. එයට නුදුරු ව විරූප වූ 'ලීරා' තරු රැසේ සෙසු තරු දිලිසිණ.

දැන් සියලු සැක පහ වී ඇත. මහාචාර්ය බර්න් දැන් සැබැවින් ම පූර්වායනයේ නව චක්‍රයේ ආරම්භයෙහි - විසි වන සහස්‍ර වර්ෂයෙහි සිටී.

බර්න් රාත්‍රි කාලය අතීතය ආවර්ජනය කරමින් ගත කෙළේ ය. ඔහු හිරු උදා වන තුරු නො ඉවසිල්ලෙන් නො නිදා සිටියේ ය. තාරකාවල දීප්තිය කෙමෙන් අඩු වී ගොස් අවසන ඒවා නො පෙනී ගියේ ය. අළු පාට වූ ද විතිවිද පෙනෙන්නා වූ ද මී දුමක් ගස් අතරින් මතු විය. තමා ගේ පාමුල වූ ඝන

තණ පඳුරු දෙස බැලූ බර්න් ට ඒවා දවැන්ත පාසි පඳුරු බව පෙනිණ. ඔහු බලාපොරොත්තු වූ පරිදි ම ඒවා ආදී යුගයක මිහි මත තිබුණාවූ ද අභිනව හිම යුගයෙන් පසු සංවර්ධනය වන්නට පටන් ගත්තා වූ ද පන් මෙන් උසට වැඩෙන ශාක විය.

බලවත් ආශාවෙන් වෙලීගිය මහාචාර්යවරයා වනයේ ඉදිරියට පිය නැඟුවේ ය. ඔහු ගේ පා නැමෙන සුලු දිග පාසි දඬුවල පැටලුණේ ය. ඔහු ගේ පාවහන් අධික පින්නෙන් ඉක්මනින් ම තෙත බරි විය. එය සරත් ඍතුව බව පැහැදිලි ය. ගස්වල කොළ - කොළ, රතු, කහ සහ රඹ පැහැයෙන් විචිත්‍ර විය. ගස් ද ඒවායේ තඹ පාටට හුරු පොත්ත ද බර්න් ගේ අවධානය වෙසෙසින් ඇදගත්තේ ය.

වනය ටිකින් ටික පණ ගැහීගෙන අවේ ය. තුරු පත් සොළවමින් හමා ආ මඳ සුළඟ අවසාන මීදුම් රොද ද පිස හැරියේ ය. තුරු පෙළ පරයා හිරු ඉහළට නැංගේ ය. ඒ ඇස් අඳුරු කරවන දීප්තිය අතින් පොඩ්ඩක් වත් මහලු වී නැති පරණ සුපුරුදු හිරු ම ය. ශත වර්ෂ එක සිය අසූවක් තුළ හිරු යන්තමින්වත් වෙනස් වී නැත.

ගස් මුල්වල පැකිලෙමින් ද ගැස්සෙන වරක් පාසා නාසයෙන් පහළට රුටන උපැස් යුවල ඉහළට තද කරමින් ද මහාචාර්යවරයා ගමන් කෙළේ ය. හදිසියේ ම අතු රිකිලි බිඳෙන හඬක් සහ වල් සතකු යටි උගුරෙන් නහන හඬක් ද ඔහුට ඇසුණි. මොහොතකින් තුඹසක් මෙන් මුදුනින් උල් වූ හිසක් ඇති සතකු ගේ දුඹුරු වන් කඳ ගස් අතරින් දිස් විය. 'වල් ඌරෙක්' බර්න් නිශ්චය කෙළේ ය. එහෙත් ඌ ඔහු දැක පුරුදු වල් ඌරන් වැනි නොවී ය. බර්න් දුටු වල් ඌරා මොහොතක් නිහඬ ව බලා සිට ගොරවමින් ගස් අතරින් දුවන්නට විය. "ආ ! මිනිහට බයයි." එය පුදුමයෙන් බලා සිටි මහාචාර්යවරයා සිතුවේ ය. එහෙත් හදිසියෙන් ම තමා ගේ ඇසට ලක් වුණු දෙයින් ඔහු ගේ හද ගැස්ම මොහොතකට නැවතුණේ ය. පින්නෙන් පෙඟුණු දුඹුරු වන් පාසි මත එළිමහන්

බිම හරහා ගිය බව පැහැදිලි ව පෙනෙන අඳුරු කොන අඩි සටහන් පෙළක් එහි විය. ඒවා සෑම අතින් ම පා වහන් රහිත මිනිස් අඩි සටහන්වලට සමාන විය.!

මහාචාර්යවරයා එක් අඩි සටහනක් මතට නැඹුරු වී එය පරීක්ෂා කරන්නට විය. යටි පතුල පැතලි ය. මහපටැඟිල්ල අනෙක් ඇඟිලිවලින් හොඳින් වෙන් වී ඇත. තමාට අනාගතය මෙතරම් නිවැරදි ව දැකිය හැකි ව තිබුණේ ද? මොහොතකට පෙර මෙතැන පසු කර ගියේ මිනිහෙක් ද? මෙබඳු ප්‍රශ්නවලට සම වැදීම නිසා සියල්ල අමතක ව ගිය ඔහු වඩා පැහැදිලි ව ඒවා දැකගැනීම සඳහා නැමී නැමී අඩි සටහන් අනුව ගියේ ය. "එහෙනම් මෙහි මිනිසුන් ඉන්නවා, වල් ඌරා ගේ බය වීම අනුව නිශ්චය කරතොත් ඔවුන් ශක්තිමත් ජව සම්පන්න අය වෙන්න ඕනෑ."

හමු වීම බලාපොරොත්තු රහිත ව සිදු විය. පිය සටහන් බර්ත් එළිමහන දෙසට ගෙන ගියේ ය. පළමුවෙන් ම ඔහුට තියුණු රළු කෑ ගැසීමක් ඇසුණේ ය. ඒ පැත්ත සෝදිසියෙන් බැලූ ඔහුට දුඹුරුට හුරු කහ පාට ලෝමවලින් වැසුණු සිරුරු ඇති සතුන් කීප දෙනෙකු දක්නට ලැබුණේ ය. වක්කොලු සිරුරු ඇති ඔවුහු ගස්වල අතු අල්ලාගෙන ගස් කීපයක් වෙත නැගිට සිටියහ. ඔවුහු තමන් සිටි පැත්තට එන මහාචාර්යවරයා දෙස බලාගෙන සිටියහ. බර්ත් ගමන නවතා තමා ගේ ආරක්ෂාව පිළිබඳ හැඟීමක් නැති ව මේ දෙපා සතුන් දෙස බලා සිටියේ ය. ඔවුන් මානව කල්ප වානරයන් (Anthropoid apes) බවට සැකයක් නැත. ඇඟිලි පහකින් යුතු අත්, කුඩා නාසයට සහ හනුවට ඉහලින් නෙරා සිටි බැම සහ බැමට උඩින් නෙරූ ගැටියෙන් පසු පසට බෑවුම් වන පටු නළල ඒ බව පැහැදිලි කරයි. ඔවුන් ගෙන් දෙදෙනෙකු ගේ උරහිස්වලින් සමින් කළ පොරෝනා වැනි කිසිවක් එල්ලෙන බව ද ඔහු දුටුවේ ය.

"එහෙනම් ඒක ඇත්තට ම සිදු වෙලා" යි සිතූ බර්ත් තුළ ඒ මොහොතේ තනි කම සහ කාංසිය පිළිබඳ හැඟීමක් ඇති විය. "අප සිතූ දේ සිදු වෙලා. අවුරුදු දස දහස් ගණනකට

පෙර පැවතුණ දේ, අවුරුදු දස දහස් ගණනක් අනාගතයට පුරා රවුමක් ඇවිල්ලා......වැනි සිතුවිලි ඔහු තුළ ඇති විය.

මේ අතර එක් මිනිස් වානරයෙක් බර්න් දෙසට ගමන් කර කෑ ගැසුවේ ය. එය අණ දීමක් බඳු හඬකි. ඔහු අතේ ලී මුගුරක් තිබෙන බව මහාචාර්යවරයා දුටුවේ ය. ඔහු 'නායකයා' බව ද පෙනුණි. සෙස්සෝ ඔහු අනුව ඉදිරියට ආහ. බර්න් අනතුරු තේරුම් ගත්තේ එවිට ය. වානරයෝ ඔවුන් ගේ බකල පාවලින් අදක්ෂ ලෙස පතිමින් - එහෙත් ඉක්මනින් ඉදිරියට ආහ. මහාචාර්යවරයා රිවෝල්වරයේ තිබුණු පතරොම් සියල්ල අහසට වෙඩි තබා කැළෑවට පැනගත්තේ ය.

එය ඔහුට වැරදුණ තැන ය. ඔහු එළිමහන දෙසට ගියා නම් - උන් ගේ පාද තවමත් කෙළින් ගමන් කිරීමට සුදුසු ලෙස හැඩ ගැසී නො තිබුණු නිසා-වානරයන් ඔහුට කිට්ටු කිරීමට අසමත් වන්නට තිබුණි. එහෙත් වනයේ දී වාසිය ලැබුණේ ඔවුන්ට ය. ඔවුහු තියුණු ලෙස හඬ නගමින් එක් ගසක අතු අල්ලාගෙන අනික් ගසට පැද්දුණාහ. මෙසේ ඉක්මනින් දිග පිමි පැනීමට ඔවුන්ට හැකි විය. නිතර ම හැමට ඉදිරියෙන් මුගුර අතින් ගත් 'නායකයා' විය.

මිනිස් වානරයන් ඔහුට ළං වන විට ඔවුන් ගේ විජයග්‍රාහී කෑ ගැසීම ඔහු ගේ පිටු පසින් ඇසුණි. මෙය නඩුව නො අසා මරණ දණ්ඩනය පැනවීමක් වැනි ය යන අදහස කිසියම් හේතුවක් නිසා ඔහු තුළ ක්ෂණික ව පහළ විය. මා පැන දුවන්නේ ඇයි? පළා යන්නා නිතර ම පරාද ය. ඔහු ගේ හදවත වේගයෙන් ගැහුණේ ය. මුහුණින් ඩහදිය වැගිරෙන්නට විය. තමා ගේ පාද පුලුන් පුරවා සෑදූ ඒවා මෙන් ඔහුට දැනුණේ ය. හිතට ආ එඩිතර සිතුවිල්ලක් නිසා ඔහු ගේ බිය පහ ව ගියේ ය. "ඇයි දුවන්නේ? කුමකින් ගැළවෙන්නට ද? මේ තමා පර්යේෂණයේ අවසානය." ඔහු දිවිල්ල නවතා අත් ගහක කඳ වටේ ඔතාගෙන ලුහුබඳින්නන්ට මුහුණ පෑමට ආපසු හැරුණේ ය.

ලුහුබඳින්නන් ගේ පෙරමුණෙහි 'නායකයා' විය. ඔහු

බර්න් ගේ හිසට ඉහළින් මුගුර අමෝරාගෙන සිටියේ ය. ඔහු ගේ රතට හුරු ඇසිපිය සහිත කුඩා, කුරිරු එහෙත් බියගුලු ඇස් ද තොලින් ආවරණය නුවූ දත් ද බර්න් දුටුවේ ය. ඔහු ගේ දකුණු උර හිසේ ලොම් ගින්නෙන් දැවී තිබුණි. "එහෙනම් ඔවුන් ගින්දරත් දන්නවා." බර්න් ගේ සිතේ ක්ෂණිකව සටහන් විය. 'නායකයා' ගේ මුගුර ඔහු ගේ හිසට පාත් විය. බිය කරු පහරින් විද්‍යාඥයා බිම ඇද වැටුණේ ය. ඔහු ගේ මුහුණ ලෙයින් නැහැවිණ. මොහොතකට ඔහු ගේ සිහිය නැති විය. එහෙත් අනෙක් වානරයන් තමා කරා දුව එන හැටි ද නායකයා තමාට අවසාන පහර දීමට මුගුර ඔසවන හැටි ද නිල් අහස හරහා රිදී මෙන් දිලිසෙන කිසිවක් දිව යන හැටි ද දකින්නට ඔහුට මොහොතකට සිහිය ලැබුණේ ය.

* * *

දවස් කීපයකට පසු පහත දක්වෙන ප්‍රකාශනය ලෝක ඇකැඩැමියේ බුලටිනයෙහි පළ වී තිබුණේ ය.

"විමුක්තිය ලැබූ මිනිසා ගේ යුගයෙන් 18779 වන වර්ෂයෙහි සැප්තැම්බර් මස 10 වෙනිදා පැරණි ගෝබි කාන්තාරය තිබුණු පෙදෙසෙහි පිහිටි ආසියාතු රක්ෂිත වන බිමෙහි තිබී බොහෝ දුරට විනාශ කරන ලද මිනිස් සිරුරක් සොයා ගන්නා ලදී. සිහි සුන් ව සිටි මිනිසා හදිසි අයන යානයකින් (Ionoplane) ළඟ ම පිහිටි ජීව පුනරුත්ථාපන ඒකකය කරා ගෙනයන ලදී. ඔහුට මෙතෙක් සිහි ලැබී නැත. එහෙත් ඔහු ගේ ජීවිතය දැන් අනතුරින් තොර ය."

"හිස් කබලේ සහ ස්නායු පද්ධතියේ නිර්මාණය ද මිනිහා ඇඳ සිටි ඇඳුම්වලින් ඉතිරි ව ඇති දේ ද ඔහු අපේ යුගයේ ආරම්භක අවධියට අයත් අයෙකු බව පෙන්වයි. එහෙත් එකල පැවති විද්‍යාත්මක සහ තාක්ෂණික සංවර්ධනයේ පහත් මට්ටම අනුව ඒ අවධියට අයත් මිනිහෙක් ශත වර්ෂ එක සිය අසූවකටත් වැඩි කාලයක් ජීවත් වීමට සමත් වූයේ කෙසේ ද යන්න තවම

පැහැදිලි නැත. ඇකැඩමියේ විශේෂ පර්යේෂණ කංඩායමක් රක්ෂිත වන බිමෙහි මේ පිළිබඳ ව කඩිනම් පරීක්ෂණයක් පවත්වාගෙන යයි."

"මිනිහා ගේ සහ මිනිස් වර්ගයා ගේ සම්භවය පිළිබඳ කල්පිතයේ නිවැරදි බව පරීක්ෂා කරනු සඳහා ජීව විද්‍යාඥයන් විසින් පරම්පරා ගණනක් මුළුල්ලේ ගෝබි රක්ෂිත වන බිමෙහි ප්‍රායෝගික පර්යේෂණ පවත්වාගෙන යන බව අපි දනිමු. අවුරුදු දස ලක්ෂ ගණනකට පෙර විසූ මානව කල්ප වානරයන් සහ පිතේකාන්ත්‍රෝපයන් (Pithecanthropes) අතර වූ සංවර්ධනයේ අතර මැදි පුරුක වශයෙන් සැලකෙන මිනිස් වානර සත්ත්ව විශේෂයක් බිහි කිරීමෙහි ලා ඔවුන් ගේ ප්‍රයත්න සාර්ථක වී ඇති බව ද අපි දනිමු. අතීත මිනිසා හමු වූ ස්ථානයට කිට්ටු ප්‍රදේශයේ මේ මිනිස් වානර ගෝත්‍රය වාසය කරති. ඔහුව මෙතරම් ඛේද ජනක ලෙස අවසාන වූයේ ඔහු හා මේ මිනිස් වානරයන් හමු වීම බව සිතිය හැකි ය."

"අනාගතයෙහි රක්ෂිත වන බිම පිළිබඳ ව දැඩි ලෙස හෝදිසියෙන් සිටිය යුතු බව ඇකැඩමියේ පුරාජීව විද්‍යා අංශය යෝජනා කරයි. මිනිස් වානරයන් ඔවුන් ගේ වැඩ කිරීමේ උපකරණ ඝාතනය කිරීමේ ආයුධ වශයෙන් යොදා නො ගන්නා බවට වග බලාගැනීම සඳහා විශේෂ අවධානය යෙදිය යුතු බව ද එසේ යොදගැනීම ඔවුන් ගේ බුද්ධි වර්ධනයෙහි ලා හානි කර ලෙස බල පෑ හැකි බව ද එය වැඩි දුරටත් ප්‍රකාශ කරයි."

**"ලෝක ඇකැඩමියේ සභාපති මංඩලය"**

# පිට සක්වලින් අමුත්තෙක්

## ඇලෙක්සාන්දර් කසාත්ත්සෙව්

"අපි අද හැන්දෑවේ අපේ විද්‍යාඥ මිත්‍රයන් සමග පොඩි සාදයක් පවත්වන්න යනවා." දිනක් නැව් පති යෙපිමෝව්ච් සාදයට ආරාධනා කරමින් මා සමග කීවේ ය.

අපි උතුරේ-ඈත ආකිපැලගෝ දූපත් කරා විද්‍යා පර්යේෂණ ගමනක යෙදී සිටියෙමු. අපේ නැවේ නම 'ජෝජි සෙඩොව්'ය.

පර්යේෂණ කංඩායමේ නායකයා වූ භූගෝල විද්‍යාඥ වසිලියෙව් සහ පුරාජීව විද්‍යාඥ නිසොව්ස්කි අප සමග සිටි විද්‍යාඥයෝ වූහ. දැන් තව තාරකා විද්‍යාඥයෙක් සහ උද්භිද විද්‍යාඥවරියක් නැවේ සිටිති. ඔවුන් නැවට ආවේ විපතට පත්

---

1. පොළොවෙන් බැහැර ලෝකවල ජීවින් ඇතැයි යන මතය අඳුරු අතීතයේ සිට පැවතෙන්නෙකි. මේ මතය ප්‍රකාශ කළ ප්‍රථම විද්‍යාඥයා වූ මධ්‍යතන යුගයේ විසූ ඉතාලි ජාතික ජියෝර්දනෝ බෲනෝ විඥාන විරෝධීන් විසින් 1600 පෙබරවාරි 17 ද රෝමයේ පුෂ්ප චතුරශ්‍රයේ දී පුළුස්සා මරණ ලදි. එහෙත් තාරකා විද්‍යාඥයන් විසින් සොයාගන්නා ලද සාධක මත පිට සක්වල ජීවින් වෙසෙතැයි යන අනුමානය වඩාත් බලවත් ව පැන නැඟුණේ 20 වන සිය වසේ මැද භාගයේ දී ය.

   1948 පෙබරවාරි 20 දින මොස්කව් හි තාරකා විද්‍යාඥ සංගමයේ රැස්වීමක දී මේ කල්පිතය පිළිබඳ විවාදයක් ඇති විය. ඉන් පැන නැඟුණ සංවාදය ඊළඟ අවුරුදු කීපය තුළ දී සෝවියට් ජන සන්නිවේදන මගින් ඉදිරියට ගෙන යන ලදී.

   මේ කතාවත් මේ පොතේ මීළඟට එන 'අභහරුවා' නමැති කතාවත් ඉහත කී සංවාදය පැවතෙද්දී ලියන ලද ඒවා ය.

වෙනත් නැවක නැව් පතියෙකුට රබර් බෝට්ටු කීපයක් නිකුත් කරනු සඳහා අපේ නැව උස්තියෙන් ඔබ්බෙහි නවතා තියෙද්දී ය.

එදා උදේ මම ගොඩ බිමක සේයාවක් යාන්තමින් හෝ දකගැනීමේ ආශාවෙන් නැව් තට්ටුව මතට වී සිටියෙමි. අප මාස කීපයකින් ගොඩ බිමක් දක තිබුණේ නැත. දැන්.... නො පැහැදිලි සිහින් රේඛාවක් දර්ශනාන්තයේ පෙනේ. සමහර විට එය විශාල මහාද්වීපයක සමුද්‍ර තීරය වෙන්නට පුළුවන.

උදසන අහස මෙන් මඳ රත් පැහැයෙන් ඔප් නැඟුණු ජල තලය කපාගෙන මෝටර් බෝට්ටුවක් අපේ නැව් දෙසට එනු මම දුටිමි.

රබර් බෝට්ටු පහළට බෑම සංවිධානය කරමින් සිටි අපේ නැවේ පළමු වැනි උප මුලාදෑනියා නැව කරා එන බෝට්ටුව දෙස බලා "තව මගීන් කට්ටියක්-තාරකා විද්‍යා පර්යේෂණ කංඩායමක්" යි කී ය.

"මොනවා? තාරකා විද්‍යා පර්යේෂණ කංඩායමක්! මේ උතුරේ මොන ඉළව්වක් කරන්න ද?" මම ඇසීමි.

උප මුලාදෑනියා උත්තරයක් දෙන්නට පෙර මෝටර් බෝට්ටුව පැත්තකින් නැවට ළඟා විය. මිනිස්සු තුන් දෙනෙක් යොත් ඉණිමඟ දිගේ නැවට නගින්නට වන්හ.

පළමු වැන්නා උස කෙසඟ සිරුරක් සහ උල් දුඹුරුවන් මුහුණක් ඇත්තෙකි. අභින් කළ රාමු සහිත උපැස් පැළඳ සිටි ඔහු ගේ ඉදිරියට නෙරූ නලල ඔහුට තරමක විකට පෙනුමක් ගෙන දුන්නේ ය. ඔහු ගේ දිගටි ඇස්වල තරමක වපරයක් තිබෙන බව මම දුටිමි.

ඈත සිට ම හිස නමා ආචාර කරමින් මා වෙතට පැමිණි ඔහු මට තමා හඳුන්වා දුන්නේ ය.

"මම තාරකා විද්‍යාඥ යෙව්ජිනි ඇලෙක්සීවිත්‍රයිමොව්. අපි තිරක්ෂයෙන් ඈත පර්යේෂණ චාරිකාවක යෙදී ඉන්නවා.

මේ නතාෂා - ඒ කියන්නේ නතාෂා ජෝජියෙව්නා ග්ලැකලෝවා. අපේ උද්භිද විද්‍යාඥවරිය."

පෝරු දමූ කපු හැට්ටයක් සහ දිග කළිසමක් ඇඳ සිටි තරුණිය මට දුබල ලෙස අත දී ආචාර කළා ය. ඇස් වටා වැටුණු අඳුරු රේඛා සහිත ඇ දැඩි වෙහෙසට පත් ව සිටි බව පෙනුණි. නැවේ රුවල් භාර නිළධාරියා වහාම ඇ උදෙසා පිළියෙල කර තිබුණු කාමරයට ඇ කැටුව ගියේ ය.

තුන් වැනි මගියා යන්තම් කොලු වයස ඉක්මවූ තරුණයෙකි. ඔහු තරමක් අහංකාර ලීලාවකින් ඔවුන් ගේ බඩු මුට්ටු නැවට පැටවීම මෙහෙයවමින් සිටියේ ය.

"ඒයි, ඒයි. පරෙස්සමෙන්. ඕව වටිනා බඩු. විද්‍යා මෙවලම් කට්ටල." යි ඔහු හඬ ගෑවේ ය. "බලාගෙනයි, උඹලට තේරෙන්නෙ නැද්ද, ඕව බිඳෙන සුලු උපකරණ බව"?

බඩු සියල්ල නැවට පටවා අවසාන විය. එහෙත් ඒවා අතර තාරකා විද්‍යා පරීක්ෂණයකට නැතුව ම බැරි මෙවලමක් වන ටෙලස්කෝපයක් (දුරදක්නයක්) වැන්නක් මම නො දුටුවෙමි. ඇරත් ආර්ක්ටික් ප්‍රදේශයෙහි කළ හැකි තාරකා විද්‍යා පර්යේෂණය කුමක් ද? මෙහි තාරකා එතරම් පහසුවෙන් දැක්ක හැකි නො වේ.

අපේ නැව ඩිකී දූපතේ වරායෙහි නවතා තිබියදී කාන්සිය මකාගන්නට අදහස් කළ නැව් පති බෝරිස් යෙෆිමෝවිච් සිය විද්‍යාඥ මිතුරන්ට සාදයට ආරාධනා කෙළේ ය. ඔහු ගේ ආරාධනය ලැබූ විද්‍යාඥයකු නො වූ එක ම තැනැත්තා කල්පිත ප්‍රබන්ධ රචකයකු වූ මා පමණි.

නැවේ කෑම අරින තරුණිය වූ තාන්යා අසක්කුවකට ගන්නට කෑම ගබඩාවේ සඟවා තුබූ දුම් කැවූ හාල්මැස්සන් වගයක් ගෙනාවා ය. නැව් පති ගේ පෞද්ගලික බ්‍රැන්ඩි ද මේසය මත දිස් විය.

තමා ගේ නින්දෙන් පසු වෙහෙස නිවී ගොස් ප්‍රබෝධමත් ව සිටි සුරූපී නතාෂා ඇතුළු පිරිස කෑමට සහ බීමවලට

සාධාරණය ඉටු කළහ.

"කියන්න, ඔබේ මේ විද්‍යා පර්යේෂණ චාරිකාවේ නියම අරමුණ කුමක් ද?" මම තාරකා විද්‍යාඥ ක්‍රයිමොව් ගෙන් ඇසීමි.

"අඟහරු ග්‍රහයේ ජීවය[1] ඇත් දැයි සොයාබැලීම." කට ගැස්මක් ගන්නා ගමන් ඔහු කීවේ ය. ඒ පිළිතුරෙන් මා පුටුවෙන් ඉවතට වීසි නූනා පමණි.

"අඟහරු ග්‍රහයේ! ඔබ විහිළු කරනවා ද?"

---

1. ග්‍රහයක ජීවය පැවතීම සඳහා අවශ්‍යතම සාධක නම්,
   - i සෙන්ටිග්‍රේඩ් + 100 ට නොවැඩි සහ - 100 ට නොඅඩු උෂ්ණත්වයක් පැවතීම.
   - ii ජීවේන්ද්‍රියෙහි පැවැත්මට අවශ්‍ය තම කොටසක් වූ කාබන් තිබීම.
   - iii ජීවේන්ද්‍රියයෙහි ශක්ති ප්‍රතිකාරකයක් වූ ඔක්සිජන් තිබීම.
   - iv ජලය තිබීම සහ
   - v ග්‍රහයේ වායුගෝලයෙහි විෂ වායු නො තිබීම වේ.

   සෞර මණ්ඩලයෙහි ග්‍රහයන් අතර විශාල තම ඒවා වූ සෙනසුරු, බ්‍රහස්පති, යුරේනස් සහ නෙප්චූන් සදකාලික අයිස්වලින් වැසී ඇති නිසා ද වායු ගෝලයන් ගෙන් වට ව ඇති නිසා ද ඒවායේ ජීවය නො පැවතිය හැකි ය. සූර්යයා ගෙන් ඈත ම ග්‍රහයා වූ ප්ලූටෝ හි ද සද රාත්‍රිය සහ දිය මිදී පැවතීම නිසා ජීවය තිබෙනු බැරි ය. සූර්යයාට කිට්ටු ම ග්‍රහයා වූ බුධ වායුවෙන් තොර ය. එහි හිරු දෙසට හැරී ඇති පැත්ත දැවෙන උණුසුම ය. අනෙක් පැත්ත සද අඳුරු ය.

   ජීව සම්භවයට හිතකර තත්ත්වයන් ඇත්තේ පොළොව සිකුරු සහ අඟහරු යන ග්‍රහවල පමණි.

   දැඩි වලා පටලයකින් වෙළී ඇති සිකුරු ගේ වායු ගෝලය සත්ත්ව ජීවිතයට හිතකර දැයි මෙතෙක් ඉඳුරා දැන ගෙන නැත.

   පොළොවේ අනෙක් අසල් වැසියා වූ අඟහරු ග්‍රහයෙහි ජීවය තිබිය හැකි බව සමහර විද්‍යාඥයන් විසින් අනුමාන කරනු ලැබේ. එහෙත් අඟහරු ග්‍රහයේ ජීවය ඇති බවට නිසැක සාධක මෙතෙක් ලැබී නැත.

ක්‍රයිමොව් ඔහු ගේ වටකුරු උපැස් අතුරින් මා දෙස බැලුවේ ය.

"ඇයි ඔබ මා විහිළු කරනවයි හිතන්නෙ?"

"ඔබට ඇත්තෙන් ම පෘථිවියේ මේ හරියෙදි අඟහරු ගැන පරීක්ෂණ කරන්න පුළුවන් ද?"

"බැ තමයි. අවුරුද්දෙ මේ කාලෙට මේ හරියෙ අඟහරු එතරම් පැහැදිලි ව පේන්නෙ නෑ."

"එහෙනම් ඔබ කියන්නෙ අහස දිහා බලන්නෙවත් නැතුව මිනිසුන් අඟහරු ගැන පර්යේෂණ කරනවයි කියලද?"

"අපි අඟහරු ගැන පරීක්ෂණ පවත්වන්නේ 'අල්මා-ආටා' ආකාශ වස්තු පරීක්ෂණාගාරයෙ. ඒත් මෙහෙ....."

"ඔව්, මොකද මෙහෙ?"

"අපි මෙහෙ අඟහරු ලෝකයේ ජීවය පවත්නා බවට සාධක සොයනවා."

"අඟහරු ලොවේ ජීවය පවත්නා බවට මේ ප්‍රදේශයෙන් ලබාගත හැකි සාධක ගැන මං දන්නෙ නෑ. ඒත් අඟහරු ගැන විද්‍යාඥයන් පවත්වන පරීක්ෂණ නම් කවදත් මගේ සිත් ඇදගත් දෙයක්. මම පොඩි කාලෙ පටන් ම අඟහරු ග්‍රහයේ තියෙනවයි කියන ඇලවල් ගැන සැලකිලිමත් වූ අයෙක්. ෂියාපැරලි [1], ලොවෙල් [2] ආදී විද්‍යාඥයන් නේද අඟහරු ගැන බොහොම කරුණු සොයාගත්තෙ?

---

1. Giovanni Virginio Schiaparelli (1835-1910) ඉතාලි ජාතික තාරකා විද්‍යාඥයෙකි. බුධ, සිකුරු සහ අඟහරු ගැන බොහෝ දේ අනාවරණය කෙළේ ය.
2. Percival Lowell (1885-1916) ඇමෙරිකා එක්සත් ජනපදයෙහි උපන් තාරකා විද්‍යාඥයෙකි. ෂියාපැරලි ගේ ආභාසය ලැබූ ඔහු අඟහරු තලය ගැන බොහෝ පර්යේෂණ කෙළේ ය.

"ඈයි, තිකොව්[1]" ක්‍රයිමොව් මගේ ලැයිස්තුවට තව නමක් එකතු කෙළේ ය. "ගව්රිල් අන්ද්‍රියානොවිච්තිකොව්."

"තිකොව් තමයි තාරකා උද්භිද විද්‍යාව කියන අලුත් විද්‍යාංශය බිහි කළේ." මෙතෙක් නිහඬ ව සිටි නතාෂා උද්යෝගයෙන් කීවා ය.

"තාරකා උද්භිද විද්‍යාව? මට පේන්නෙ නෑ තාරකාවලයි උද්භිද විද්‍යාවෙයි තියෙන සම්බන්ධකම."

නතාෂා හඬ නඟා සිනා සෙන්නට වූවා ය.

"ඇත්තෙන් ම එහෙම විද්‍යාවක් තියෙනවා. වෙනත් ග්‍රහ ලෝකවල තියෙන ශාක ගැන හදරන විද්‍යාව."

"අඟහරු ලෝකෙ ශාක ගැන." ක්‍රයිමොව් නිශ්චිත ලෙසින් කී ය.

"කසාක් සෝවියට් සමූහාණ්ඩුවේ විද්‍යා ඇකැඩමියෙ අපට තියෙනවා මේ විද්‍යාව ගැන වෙනම දෙපාර්තමේන්තුවක්." නතාෂා ආඩම්බරයෙන් කීවා ය.

"හොඳයි, මොනවද ඉතින් තාරකා උද්භිද විද්‍යාව ගැන මේ ආර්ක්ටික් ප්‍රදේශයේ කරන්නේ?" මේ වර ප්‍රශ්නය ඇසුවේ නැව් පති තැන ය.

"ඒක මෙන්න මෙහෙමයි." ක්‍රයිමොව් විස්තර කරන්නට පටන් ගත්තේ ය. "අඟහරු ලොවේ පවතින තත්ත්වයන්ට සමාන දේශ ගුණික තත්ත්වයන් ඇති ප්‍රදේශ සොයාගන්නට අපට ඕනෑ වුණා. අඟහරු සිට සූර්යයාට ඇති දුර පොළොවේ සිට සූර්යයාට ඇති දුර මෙන් එකහමාරක්. එහි වායු ගෝලය මෙහි කිලෝ මීටර් පහළොවක් ඉහළ තරම් ඝනත්වයෙන් අඩු යි. එහි දේශගුණය කටුක යි; ශීතාධික යි."

1. G.A. Tikov (B' 1875. 4. 19) අඟහරු මතු තලයෙහි ස්වභාවය ගැන බොහෝ අධ්‍යයනයන් කළ රුසියන් තාරකා විද්‍යාඥයෙකි.

"හිතා බලන්න." නාතාෂා කට දැම්මා ය. "එහි තිරක්ෂයේ දවල් කාලයේ උෂ්ණත්වය හිමාංකයෙන් සෙන්ටි ග්‍රේඩ් අංශක 20 ක් ඉහළයි. රාත්‍රියේ සෙන්ටි ග්‍රේඩ් - 70 යි."

"දුෂ්කර තත්ත්වයක්." නැව් පති කී ය.

ක්‍රයිමොව් තව දුරටත් විස්තර කරගෙන ගියේ ය.

"මධ්‍යම කලාපයේ ශීත ඍතුවේ දිවා රාත්‍රි උෂ්ණත්වය සෙන්ටි ග්‍රේඩ් $80^0$ න් පහළ යි. අඟහරු ලොවේ ඍතු පොළොවේ ඒවා ම යි.[1]"

"හරියට කුබාන්ස්ක් ප්‍රදේශය වගේ." භූගෝල විද්‍යාඥයා පළමු වරට කතා කරමින් කී ය.

"ඔව්, අඟහරු ලොවේ දේශ ගුණය ශීතාධික යි. එවැනි ම දේශ ගුණයක් මේ ආර්ක්ටික් ප්‍රදේශයෙත් නැද්ද?" ක්‍රයිමොව් කතාව තමාට උවමනා පැත්තට හැරෙව්වේ ය. ඔහු අදහස් කරන්නේ තාරකා උද්භිද විද්‍යාව නමැති විෂයයට බැසීමට ය.

"දැන් මට පේනවා ඔබ හැම මෙහි ඇවිත් ඉන්නෙ කුමකට ද කියා." නැව් පති කී ය.

"ඔව්, ආර්ක්ටික් ප්‍රදේශයේ ජීවය පවතිනවා. ඒ වගේ ම අඟහරු ලෝකයේත් ජීවයේ පැවැත්මට උචිත තත්ත්වයන් තිබෙනවා. උදහරණයක් වශයෙන් මාස කීපයක් තිස්සේ හිරු නො බැස පවතින ධ්‍රැව වෘත්තවල දිවා රාත්‍රි උෂ්ණත්වය හිමාංකයෙන් අංශක 15 කට වැඩි මානයේ පවතිනවා. ශාක ජීවිතයට විශිෂ්ට තත්ත්වයක්,

"එහෙම නම් නියත වශයෙන් ම අඟහරු ලොවේ ශාක ජීවිතය පවතින බව අපට නිශ්චය කළ හැකි නේද?" මට නො අසා සිටින්නට බැරි විය.

---

1. අඟහරු ගේ අක්ෂයන් සිය කක්ෂය දෙසට ඇල වී ඇත්තේ පොළොවේ ඇල වී ඇති ප්‍රමාණය ම ය. ඒ නිසා එහි අවුරුද්දේ ඍතු භේදය පොළොවේ වැනි ය.

"මෙතෙක් අපට නිසැක සාධක ලැබිල නෑ." ක්‍රයිමොව් විද්‍යාඥයකු වශයෙන් ඇඟ බේරාගෙන උත්තර දුන්නේ ය.

නැව් පති තව බ්‍රැන්ඩි වටයක් වත් කෙළේ ය.

"ඇත්තෙන් ම තාරකා විද්‍යාව කදිම වෘත්තියක්. නාවිකයන් සහ ධ්‍රැව සංචාරකයන් වන අපි අප ගැන ම කතා කිරීමේ පුරුද්දක් තියෙනවා. දැන් සමහර විට අපේ භූගෝල විද්‍යාඥ සහෝදරයාත් පුරා ජීව විද්‍යාඥ නිසොවිස්කි ත් විශේෂයෙන් අපේ තාරකා විද්‍යාඥ සහෝදරවරුත් අපට කියන්න ඕනෑ, තම තමන් විද්‍යාඥයන් බවට පත් වුණේ කොහොම ද කියා. අපි ඒ කතන්දර අහන්න බොහොම සතුටින් ඉන්නවා."

"ඒකෙ මොනව කියන්න ද? මම ඉස්කෝලෙ ගියා. එතනින් විශ්වවිද්‍යාලෙට ගියා. පස්සෙ පර්යේෂණ ශිෂ්‍යයෙකු වශයෙන් පශ්චාත් උපාධිය ගත්තා. එච්චරයි..." නිසොවිස්කි ඇඟ බේරාගත්තේ ය.

"මා විද්‍යාඥයකු කළේ දැඩි ආශාව යි." භූගෝල විද්‍යාඥ වසිලියෙව් තමා ගේ කතාව පටන් ගත්තේ ය. "මම අපේ රමණීය දේශයේ හැම තැන ම ඇවිද්දා. දැන් මම ආර්ක්ටික්වලට ඇවිත් ඉන්නවා. අපේ සුවිශාල භූමියෙහි තව කොතරම් ප්‍රමාණයක් ගවේශණය කළ යුතු ව ඇත් දැයි සිතන විට.... එය උදාර හැඟීමක්.... මේ අපේ අමරණීය මව් බිමට....." යනුවෙන් සව්දිය පිරූ වසිලියෙව් සිය වීදුරුව හිස් කෙළේ ය.

අපි සියල්ලෝ ඔහු අනුගමන ය කෙළෙමු.

"ඉතින් ඔබ - ඔබට මොනවද අපට කියන්න තියෙන්නෙ?" නැව් පති තැන තාරකා විද්‍යාඥයා දෙසට හැරී ඇසුවේ ය.

ක්‍රයිමොව් අතිශයින් සන්සුන් බවට පත් විය.

"ඒක ටිකක් පැටලිලි සහිත කතාවක්." ඔහු කල්පනා කාරී විලාසයකින් පටන් ගත්තේ සිය අත්වලින් නළල පිරිමදිමිනි. "ඒක විස්තර කරන්න හුඟක් වෙලා යාවි."

කුතුහලය අවුස්සන කතාවක ඉව වැටුණු අපි හැමෝ ම ඔහුට අනුබල දෙන්නට වීමු. ඔහු ගේ සහාය උද්භිද විද්‍යාඥවරිය වන නතාෂා සිය ඇස්වලින් ඔහු ගිලගන්නට තැත් කරමින් සිටියා ය. ඇත්ත වශයෙන් ඈ සිය ප්‍රධානියා ගේ තොරතුරු දැන සිටියේ ඉතා ටිකකි.

"හරි, හරි. මම කියන්නම්." අවසානයේ ඔහු එකඟ වූයේ ය.

* * *

"මා උපන්නේ සයිබීරියාවේ එවෙන්කි සංචාරකයන් ගේ කුප්පායමක, එවෙන්කි ගෝත්‍රයේ අයට තුන්ගුස් වරු කියාත්, කියනවා.

"එහෙනම් ඔබ එවෙන්කියෙක්!" නතාෂා විස්මය පළ කරමින් ඇසුවා ය.

ක්‍රයිමොව් එය අනුමත කරමින් හිස වැනුවේ ය.

"මා එවෙන්කි වාඩියක උපන්නේ තයිගාවට තුන්ගුස් උල්කාපාතය වැටුණු දවසේ ම යි. මා හිතනවා ඔබ කවුරුත් තුන්ගුස් උල්කාපාතය [1] වැටීම නිසා ඇති වුණ බිහිසුණු විනාශය දන්නවා ඇති කියා."

"අපි ඒක ටිකක් අහල තියනවා. ඒත් අපට තව විස්තර අහන්න ආසයි. කියන්න, කියන්න."

---

1. 1908 ජූනි 30 දින හිම්දිරි උදසන සයිබීරියාවේ තුන්ගුස් තයිගා ප්‍රදේශයට කිසියම් ආකාශ වස්තුවක් වැටීම නිසා ඇති වූ ව්‍යසනය සැබැවින් ම සිදු වූ දෙයකි. කතු වරයා මෙහි ලා විස්තර කරන ප්‍රපංචයන් විද්‍යාත්මක පරීක්ෂණ මගින් සහ නිරීක්ෂකයන් ගේ වාර්තාවලින් ඔප්පු වන ඒවා ය.

   තුන්ගුස් ප්‍රදේශයට වැටුණු එම ආකාශ වස්තුව උල්කාපාතයක් ය යනු සාමාන්‍ය පිළිගැනීම විය. එහෙත් කතුවරයා තුන්ගුස් ව්‍යසනය පිළිබඳ තොරතුරු ඇසුරෙන් වෙනත් කල්පිතයක් ගොඩ නඟයි.

"ඒක අති විශේෂ සිදුවීමක්." ක්‍රයිමොව් උනන්දුවෙන් කියාගෙන ගියේ ය. "දහස් ගණන් මිනිස්සු තයිගාවට ඉහළින් සූර්යයාට වඩා විශාල ගිනි බෝලයක් දුටුවා. මහා ගිනි ජාලාවක් වලාකුළු රහිත අහස පසා කරගෙන ඉහළ නැංගා. ඒ සමඟ ම මහා කම්පනයක් ඇති වුණා. එහි වේගය අප දන්නා කිසිවකට සම කරන්න බැහැ. මුළු මහත් භූගෝලය පුරා ම එහි ගර්ජනය පැතිර ගියා. මහා ව්‍යසනය සිදු වූ තැන සිට කිලෝ මීටර් අට සියයක් තරම් ඈත කාන්ස්ක් අසල දුවමින් තිබූ දුම් රිය නැවතුණා. තමාට දුම් රිය ඇතුළේ කිසිවක් පුපුරනවා ඇසුණ බව රියැදුරා ප්‍රකාශ කළා. කිසි දක නුවූ තරම් ප්‍රචංඩ සුළි සුළඟක් පොළෝ තලය පිසගෙන හැමුවා. පිපිරීම සිදු වුණ තැන සිට කිලෝ මීටර් හාරසියයකට ඈත ගෙවල පියසි ගැලවී ගියා. වැටවල් ඇද වැටුණා. භූ කම්පනවලදී සිදු වෙන්නාත් මෙන් ඊටත් ඈත කුස්සිවල ආම්පන්න සසල වුණා. ඔර්ලෝසු නැවතුණා. භූ කම්පන මාන මධ්‍යස්ථාන රාශියක කම්පනය සටහන් වී තිබුණා. ටෂ්කන්ට් හි, ජර්මනියේ ජිනා හි සහ (ඇසින් දුටුවන් ගේ සාක්කි එකතු කරන ලද) ඉර්කුට්ස්ක් හි ඒවා සටහන් වී තිබුණා"

"ඉතින් හැබැවට ම ඒක මොකක් ද? උල්කාපාතයක් පොළොවේ වැදීම නිසා ඇති වූ කම්පනයක් නේද?" නිසොව්ස්කි ඇසී ය.

"ඒ කාලෙ නං හිතුවෙ එහෙම තමයි." ක්‍රයිමොව් ප්‍රශ්නය මඟ හැර උත්තර දුන්නේ ය.

"වායු රැල්ල දෙවරක් ලෝකය වටේ ගියා. එය ලන්ඩන් සහ වෙනත් දුර බැහැර ස්ථානවල සටහන් වී තිබුණා."

"තයිගා ව්‍යසනයෙන් පසු ලොව මුළුල්ලේ පුදුමාකාර සිදුවීම් මාලාවක් නිරීක්ෂණය කර තිබෙනවා. යුරෝපය මුළුල්ලේ සහ අප්‍රිකාවේ ඇලජියර්ස් වැනි පෙදෙස්වල පවා හරියට ලෙනින්ග්‍රාඩ් හි ධවල රාත්‍රිවල වගේ රාත්‍රි කාලයේ පවා පුවත් පත් කියවීමට හැකි තරම් ආලෝකයක් ගෙන දෙන ප්‍රභාමත් වලාකුළු ඉහළ අහසේ රැඳී පැවතුණා."

"මේ කොයි කාලෙ ද?"

"1908 දී" ක්‍රයිමොව් උත්තර දුන්නේ ය. "හරියට මා උපන් අවුරුද්දෙ. එද තයිගාව මුළුල්ලේ බිහිසුණු සුළි සුළඟක් හමා ගියා. කිලෝ මීටර් හැටක් දුරින් පිහිටි වැනෝවාර් පැක්ටරියේ මිනිසුන්ට තමන් ගේ ඇඳුම් ගිනි ගන්නාක් වැනි හැඟීමක් ඇති වී සිහි නැති ව ගියා. වනාන්තරයෙහි පිනි මුවෝ විශාල සංඛ්‍යාවක් වායු ධාරාවලට අසු වී අහසට ගසාගෙන ගියා. තයිගාවේ ගස් වැල්වලට වුණු දේ..... මේ සහතික ඇත්තයි කියන්නෙ.... මම ඒ පළාතෙන් ආපු කෙනෙක්. හුඟ කාලයක් උල්කාපාතය ගැන සොයාබැලීමට සම්බන්ධ වෙච්ච කෙනෙක් - කිලෝ මීටර් හැටක් පමණ අර්ධ විෂ්කම්භය ඇති කවාකාර පෙදෙසක තිබූ සෑම ගහක් ම මුලිනිදිරී ගියා. ඔව්, හැම ගහක් ම පෙරළී ඒ ඒ තැන්වල ම වැටී තිබුණා.

"චංඩ මාරුතය කිසි දක නුවූ තරම් විනාශයක් සිදු කළා. එවෙන්කිවරු තමන් ගේ පිනි මුවන්, ධාන්‍ය ගබඩා සහ වෙනත් දේ ගැන සොයාබැලීමට විනාශයට පත් වූ ප්‍රදේශයට දුව ගියා. ඔවුන්ට හමු වුනේ දැවී අඟුරු වී ගිය මළ කඳන් පමණයි. මගේ සීයා වූ ලුවෙට්කාන් ගේ කූඩාරමත් මේ අවාසනාවන්ත ඉරණමට ගොදුරු වුණා. මහා විනාශය සිදු වූ ප්‍රදේශයට ගිය මගේ පියාට පොළොවෙන් මතු වුණු විශාල දිය කඳක් හමු වුණා. ටික දවසකට පසු මගේ පියා පිළිස්සීමෙන් ඇති වන වේදනාවලින් මෙන් දරුණු දුක් විඳ මළා........ ඒත් හමේ පිළිස්සුම් තුවාල කිසිවක් තිබුණේ නෑ. වැඩිහිටි උදවිය මහත් භයට පත් වුණා. ඔවුන් එවෙන්කින්ට විපත්තිය සිදු වූ ප්‍රදේශයට යෑම තහනම් කළා. ඔවුන් එය ශාප ලත් පෙදෙසක් හැටියට හැඳින්නුව. ගින්නට සහ අකුණු සැරයට අධිපති දෙවියා වන 'මග්ඩි' ඒ පෙදෙසට අරක් ගෙන සිටින බව පූජකවරු කීවා. අග්නි දේවතාවා එහි යන සෑම කෙනෙක් ම අදෘශ්‍යමාන ගින්දරෙන් පුළුස්සන බව ඔවුන් කීවා.

"තයිගා ව්‍යසනය සිදු වී අවුරුදු දෙළහකට පමණ පසු-නව සිය විසි ගණන්වල දී - කුලික් නමැති රුසියානු විද්‍යාඥයා

වැනෝවාර් ෆැක්ටරියට ආවා. ඔහුට උල්කාපාතය ගැන සොයා බැලීමට ඕනෑ කළා. ඔහු සමග එහි යාම එවෙන්කිවරු ප්‍රතික්ෂේප කළා. ඔහු අන්ගාරා දඩයක්කාරයන් දෙදෙනෙක් කුලියට ගත්තා. ලා බාල මම ත් ඔවුන්ට එකතු වුණා. මා රුසියන් බස හොඳින් දන සිටි නිසා කුලික් මට බොහොම කැමති වුණා. මා රුසියන් ඉගෙනගත්තේ ෆැක්ටරියෙ වැඩ කරන අතරෙයි. මම කිසි දේකට බය නැති ගැටවරයෙක්."

"අපි කුලික් සමග ව්‍යසනයේ කේන්ද්‍රස්ථානයට ළඟා වුණා. ගිනිය නො හැකි තරම් වූ - දස ලක්ෂ ගණන් ගස් එහි බිම පෙරළී තිබුණා. රුක් කඳන් හැම එකක ම මුල් එක ම පැත්තට-එනම් පිපිරීම් කේන්ද්‍රයට-තුඩු දෙන සේ පිටි අතට පෙරළී තිබෙන බව අපි දුටුවා. පිපිරීමේ මධ්‍යස්ථානය පරීක්ෂා කළ අපි මවිතයට පත් වුණා. උල්කාව පතිත වූ ස්ථානයේ විනාශය අති මහත් විය යුතු නමුත් එහි ගස් හරි කෙලින් තිබුණා. එය මට පමණක් නො ව රුසියානු විද්‍යාඥයන්ටත් ප්‍රශ්නයක් වූ බව මට පෙනී ගියා. මධ්‍ය කේන්ද්‍රයේ ගස් හරි කෙළින් තිබෙන අතර අවට ගස් ඉදිරි කේන්ද්‍රයට විරුද්ධ අතට පෙරළෙන්නට හේතුව කුමක් ද?"

"ගස් හරි කෙලින් තිබුණා. ඒත් ඒවා මැරුණු ගස්. අතු වත් මුදුන් කරටි වත් නෑ. හරියට බිම කෙළින් අතට හිටවපු කණු රැසක් වගේ. කඳ කෙළින් තියෙද්දී අතු පැහැල දමපු බල වේගය කුමක් ද?"

"මේ කණු ගොන්න මැද්දේ වතුර තිබුණා. විලක් නැත් නම් මඩ වගුරක් වගේ. උල්කාපාතය වැටීමෙන් සෑදුණු ආවාටය මේ බව කුලික් සැලකුවා.

"ඇමෙරිකාවේ ඇරිසෝනා කාන්තාරයේ එක් තැනක සැතපුමක තරම් විෂ්කම්භය ඇති, අඩි 600 ක් තරම් ගැඹුර ඇති ආවාටයක් තිබෙන බව-හරියට තමා ගේ සහාය විද්‍යාඥයන්ට කියාදෙන්නා වගේ - කුලික් අපට කරුණාවන්ත ලෙස තේරුම් කළා. එය සෑදී ඇත්තේ මෙයට අවුරුදු දහස් ගණනාවකට පෙර අති විශාල ආකාශ වස්තුවක් වූ

උල්කාපාතයක් වැටීම නිසා බවත් එසේ ම මෙතැනට වැටුණු උල්කාව කොහොම හරි සොයාගත යුතු බවත් ඔහු ප්‍රකාශ කළා. එද පටන් රුසියානු මහාචාර්යවරයාට මේ ගැන උපකාර කිරීමට බලවත් කැමැත්තක් මා තුළ ඇති වුණා."

"ඊළඟ අවුරුද්දේ විශාල විද්‍යා පර්යේෂණ කංඩායමක් සමඟ කුලික් නැවත තයිගාවට ආවා. ඔහු කම්කරුවන් කුලියට ගත්තා. ඇත්තෙන් ම පළමුවෙන් ඔහුට එක් වුණේ මම යි. අපි උල්කාවේ කැබලි ගැන හොයා බැලුවා. මහ වනය මැද වූ ප්‍රධාන මඩ වගුරේ ජලය හිස් කොට සෑම කුහරයක් ම පරීක්ෂා කර බලන ලද නමුත් අපට උල්කාව පිළිබඳ කිසියම් හෝඩුවාවක් වත් එය වැටීම නිසා ඇති වූ කිසියම් ආවාටයක් වත් හමු වුණේ නෑ."

"අවුරුදු දහයක් යන තුරු සෑම අවුරුද්දක ම කුලික් තයිගාවට ආවා. ඒ හැම අවුරුද්දක ම මාත් ඔහු හා එක් ව ඔහු ගේ ගවේෂණ කටයුත්තේ යෙදුණා. එහෙත් කිසි වැඩක් වුණේ නැහැ. උල්කාව අතුරුදන් වෙලා!"

"උල්කාපාතය මඩ වගුරට වැටුණ බවත් මඩ වගුර විසින් ආවාටය ගිලගන්නා ලද බවත් කුලික් විශ්වාස කළා. එහෙත් පස සිදුරු කරගෙන ගිය අපට නිත්‍ය තුෂාර පර්වතයක හානි නො වූ ස්තරයක් හමු වුණා. එය බිඳගෙන ගිය විට බෝර සිදුරු ඔස්සේ වතුර දලුවක් වේගයෙන් මතු වුණා. උල්කාපාතය මේ තුෂාර ස්තරයට කා වැදී උණු වී ගියා නම් ස්තරය නැවත ප්‍රකෘතිමත් වෙන්න බෑ."

"පර්යේෂණ කංඩායම සමඟ දෙවෙනි අවුරුද්දේ වැඩට සහභාගි වීමෙන් පසු මමත් කුලික් සමඟ මොස්කව් ගියා. මම එහි දී ඉගෙනීමට පටන් ගත්තා. එහෙත් සෑම ග්‍රීෂ්ම ඍතුවක දී ම උල්කාපාතය පිළිබඳ ගවේෂණ පැවැත්වීමට පෙරළා ගමට ආවා. දැන් මම අර තයිගාවෙන් ආපු බාගෙට උගත් දඩයක්කාරයා නෙමෙයි. දැන් මම විශ්වවිද්‍යාල ශිෂ්‍යයෙක්. මම බොහෝ කොට කියෙව්වා. විද්‍යා ක්ෂේත්‍රයේ මගේ ම ස්වාධීන විචාරයන් ඉදිරිපත් කළා. තුන්ගුස් උල්කාපාතය ගැනත් මට

මගේ ම මතකයක් තිබුණා. ඒත් කුලික් සමඟ මා ඒ ගැන කිසිවක් කීවේ නෑ. ඔහු මේ ගවේෂණයත් කරගෙන ගියේ මොන තරම් අයෝමය අධිෂ්ඨානයකින් ද, මොන තරම් නියත විශ්වාසයකින් දැයි මා දන සිටියා. ඔහු ඒ ගැන පද්‍ය පංතියක් පවා රචනා කරගෙන සිටියා..... ඉතින් එහි උල්කාපාතයක් කොහෙත් ම නො තිබුණ බව මා ඔහු සමඟ කොහොම කියන්න ද?"

"මොනව! මොකද ඔබ කියෙන්නේ? උල්කාපාතයක් තිබුණෙ නෑ? ඉතින් ඇද වැටුණු ගස් සහ ව්‍යසනයේ අනෙක් සිදු වීම ගැන ඔබ කියන්නේ මොනවා ද?" විස්මයෙන් නො සන්සුන් වූ නිසොව්ස්කි ඇසී ය.

"ව්‍යසනයක් තිබුණා තමයි. එත් ඒක උල්කාපාතයක් නො වෙයි."

"ව්‍යසනයේ කේන්ද්‍රස්ථානයේ ගස් ඇද නො වැටී කෙළින් ඉතිරි වුණේ කොහොම ද යන්න ගැන මම බොහෝ දුරට හිතුවා. උල්කාපාතයක් වැටෙන විට පිපිරීමක් ඇති වෙන්නෙ ඇයි? උල්කාවක් පොළොවට එන්නේ තත්පරයට කිලෝ මීටර් 30 ටත් 60 ටත් අතර වේගයකින් එහි විශාල ස්කන්ධය සහ වේගය නිසා උල්කාපාතයට අති මහත් චාලක ශක්තියක් [1] ඇති වෙනවා. එය පොළොවේ ගැටුණ විට මේ ශක්තිය තාපය බවට පත් වෙනවා. බලවත් පිපිරීමට හේතුව එය යි. එහෙත් තයිගාවෙ දී මෙය සිදු වෙලා නෑ. මට ඒක පැහැදිලි යි. මැරුණු ගස්වල කඳන් කෙළින් තිබීම පිපිරීම මීටර් තුන් සීයක් පමණ ඉහළ දී හරියට ගස්වලට උඩින් ගුවනේ දී-සිදු වූ බව සිතීමට මා පෙළඹුවා."

"ගුවනේ දී?" නිසොව්ස්කි විශ්මයාකුලව ඇසී ය.

"ඔව්, පිපිරුම් තරංග හැම අතට ම ගියා." ක්‍රයිමොව් නිශ්චිත ලෙස කී ය. "පිපිරීම හමුවේ හරිකෝණව පිහිටි හරියට

1. Kinetic energy: චලනය වන වස්තුවක එම චලනය නිසා ඇතිවන ශක්තිය.

පිපිරීමට යටින් පිහිටි-ගස්, තරංග විසින් උදුරා දමනු ලැබුවේ නෑ. ඒවායේ අතු පතර සිඳ කරටි කඩා දමුවා විතරයි. තරංගයේ ගමනට මුහුණ දුන් හරියේ කිලෝ මීටර් 30 සිට 60 දක්වා අර්ධ විෂ්කම්භය ඇති කවාකාර පෙදෙසක - ගස් සියල්ල පෙරළා දමනු ලැබුවා. ගස්වල මුල් පිපිරීම සිදු වූ මධ්‍ය ලක්ෂ්‍යය දෙසටත්-මුදුන් ඊට ප්‍රතිවිරුද්ධ අතටත් සිටින සේ වැටුණේ ඒ නිසයි. පිපිරීම සිදු වී ඇත්තේ ඒකාන්තයෙන් ගුවනේ දී යි."

"ඇත්තෙන් ම ඒක වෙන්න පුළුවන් දෙයක් වාගෙ පේනවා." තිසොව්ස්කි කල්පනාකාරී ව නිකට කසමින් කීවේ ය.

තරකා විද්‍යාඥයා නව පණකින් යුතු ව මෙන් තර්ක කෙළේ යː

"චාලක ශක්තිය තාපය බවට පත් වීමක් එහි සිදු වී නැහැ. සිදු වෙන්න පුළුවන් කමකුත් නැහැ ඉතින් ගුවනේ දී ඇති වෙන්න පුළුවන් කොයි විදියේ පිපිරීමක් ද?

"විශ්වවිද්‍යාලයේ අන්තර් ග්‍රහ තරණය පිළිබඳ අදහස් හුවමාරු කරගන්නා කංඩායමක් තිබුණා. ෂියොල්කොව්ස්කි [1] ගේ ද්‍රව ඔක්සිජන් සහ හයිඩ්‍රොජන් මඟින් ක්‍රියා කරන අන්තර් ග්‍රහලෝක තරණ රොකට්ටුව බෙහෙවින් මගේ සිත් ඇදගත්තා. දිනක් මට අදහසක් පහළ වුණා. ඒක හරි එඩිතර අදහසක්. කුලික් මා සමඟ සිටියා නම් මා එය වහාම ඔහු සමඟ කියනවාට සැකයක් නෑ. එහෙත්..... යුද්ධය ආවා. තම වයස ගැන වත් නො සලකා ලිඔනිඩ් ඇලෙක්සාන්ද්‍ර කුලික් සිය කැමැත්තෙන් යුද සේවයට බැඳී සටන් බිමට ගොස් එහි දී මැරුම් කැවා."

මොහොතක් නිහඬ ව සිටි ක්‍රයිමොව් යළි කතාව කියාගෙන ගියේ යː

1. Tsiolkovsky (1857-1935) අජටාකාශ තරණ විද්‍යාවෙහි පියා වශයෙන් සළකන රුසියානු විද්‍යාඥයා.

"මා සිටියේ පෙරමුණේ වෙනත් අංශයක. ජර්මානුන් ගේ ෂෙල් වෙඩි ගුවනේ දී පුපුරන හැටි මා දුටුවා. මට වැඩි වැඩියෙන් ඒත්තු ගියා තයිගා හි පිපිරීමත් ගුවනේ දී සිදු වෙන්න ඇති බව. එපමණක් නො ව එය අජටාකාශ යානයක් බිමට බස්සන්න තැත් කරද්දී එහි ඉන්ධන පුපුරා යාමෙන් සිදු විය හැක්කක් බවත් මට ඒත්තු ගියා...."

"මොනවා! වෙන ග්‍රහ ලෝකයකින් ආ අජටාකාශ යානයක්!" සිය අසුන මත ම උඩ විසි වෙමින් තිසොව්ස්කි කෑ ගැසුවේ ය.

භූගෝල විද්‍යාඥයා සිය අසුනේ පිටි ඇන්දට හේත්තු වුණේ ය. නැව් පති තැන උගුර පාද සිය බ්‍රැන්ඩි විදුරුව හිස් කෙළේ ය. උද්භිද විද්‍යාඥ නතාෂා පළමු වරට ක්‍රයිමොව් දකින්නාක් මෙන් යුගැස් ඔරවාගෙන ඔහු දෙස බලා සිටියා ය.

"ඔව් අජටාකාශයෙන් ආ අමුත්තෙක් - වෙනත් ග්‍රහ ලෝකයකින් පැමිනි අජටාකාශ යානයක්. අඟහරු ග්‍රහයෙන් වෙන්න බොහොම ඉඩ තියෙනවා. අපේ සෞර මංඩලයේ ජීවය තිබෙන බවට අනුමාන කළ හැකි එක ම ග්‍රහය අඟහරු පමණ යි. මම ඒ කාලෙ හිතුවෙ තයිගාවෙ පුපුරන්න ඇත්තෙ-ඒ වන විට විශ්ව සංචාරක යානයකට යොදගත හැකි බව දැන සිටි එක ම ඉන්ධන වර්ගය වන ද්‍රව හයිඩ්‍රොජන් සහ ඔක්සිජන් කියලයි. ඒත් දැන්....."

"ඇයි, ඔබ දැන් හිතන්නෙ එහෙම නෙමෙයි කියලද ?" නතාෂා පුදුමයෙන් ඇසුවා ය. ඇගේ කට හඬ බලාපොරොත්තු කඩ වීමක් ගැබ් විය. ඈට ඕනෑ කර තිබුණේ බාහිර ලෝකයකින් පැමිණි අමුත්තෙකු බව තිසැක ය.

"ඔව්, මම දැන් හිතන්නෙ වෙන විදියකට යි." ක්‍රයිමොව් සන්තුෂ්ට ව කීවේ ය. "ජපානයේ හිරෝෂිමා හි සිදු වූ පළමු වන පරමාණු පිපිරීමෙන් පසු අජටාකාශ යානයෙහි තිබුණු ඉන්ධන වර්ගය ගැන වෙනත් විධියකට හිතන්න මා පෙළඹුණා.

"යුද්ධය අවසාන වීමෙන් පසු අඟහරු පිළිබඳ ප්‍රශ්නයට

මා මුළුමනින් කැප වුණා. මේ ග්‍රහයේ ජීවය පවත්නා බව මා විසින් ඔප්පු කළ යුතු ව තිබුණා. මම තිකොව් යටතේ කරුණු අධ්‍යයනය කිරීමට පටන් ගත්තා. දන් මම මේ පර්යේෂණ සංචාරයේ යෙදෙන්නෙ ආර්ක්ටික් ප්‍රදේශයේ ශාකයන් විසින් තාප කිරණ උරාගැනීම පිළිබඳ කරුණු හැදෑරීමට."

"ඉතින් ඒකෙන් ඔප්පු වෙන්නෙ මොකක් ද?" මේ ප්‍රශ්නය ආවේ නැව් පති ගෙනි.

"පසු ගිය ශත වර්ෂය තරම් ඈත කාලයක තිමිරියාශෙව්[1] අඟහරු ග්‍රහයේ ක්ලෝරොෆිල් [2] ඇති බව සොයාගන්නට උත්සාහ කළා. එසේ සොයාගත්තොත් ඉන් ඔප්පු කරන්න පුළුවන් හරියට පෘථිවි ශාක සෘතු අනුව පාට වෙනස් කරන්නා සේ ම, සෘතු ආනුව පාට වෙනස් කරන අඟහරු ලෝකයේ කොළ පාට තීරු ශාකවලින් වැසුනු බිම් පෙදෙස් බව."

"හොඳයි, ඉතින් ක්ලෝරොෆිල් හොයාගත්ත ද?"

"නෑ, එච්චර වාසනාවක් තිබුණෙ නෑ. අඟහරු වර්ණාවලියේ ක්ලෝරොෆිල් විශේෂ ලක්ෂණ සහිත අවශෝෂණ කලාපයක් හොයාගන්න ලැබුණෙ නෑ. ඊටත් වැඩිය පෘථිවියේ ශාක අධෝ-රක්ත කිරණ[3] යටතේ ඡායා රූපයට නැගූ විට සුදු පාටින් පෙන්නුම් කරනවා. එහෙත් අඟහරු හි කොළ පැහැති බිම් කඩවල් එසේ ඡායා රූප ගත කළ විට සුදු පාටින් පෙන්නුම් කළේ නෑ. මෙයින් පෙනී ගියේ අඟහරු ශාක ජීවිතයෙන්

---

1. ක්ලෙමෙන්ත් ආර්කාඩිවිච් තිමිරියාශොව් - ස්වභාව ධර්මයේ රිතීන් නිරීක්ෂණයට ලක් කළ සුප්‍රකට රුසියානු විද්‍යාඥයෙක්. ඔහු ශාකවල ප්‍රභාසංශ්ලේෂණය (ශාක විසින් ආලෝකය උපයෝගි කරගෙන කාබන්ඩයොක්සයිඩ් සහ ජලය සංයෝජනය කර ඔක්සිජන් මෝචනය කරමින් සරල කාබෝහයිඩ්රේට් තනා ගැනීම) පිළිබඳ බොහෝ කරුණු අනාවරණය කෙළේ ය.
2. Chlorophyll - ශාකවලට කොළ පැහැය ලබා දෙන වර්ණකය.
3. Infra-red rays - ඇසට පෙනෙන වර්ණාවලියේ රතු කෙළවරෙහි සීමාවේ තිබෙන ඇසට නො පෙනෙන විකිරණ.

තොර ග්‍රහයෙක් වග යි. එහෙත් තිකොව් අපූරු අදහසක් ඉදිරිපත් කර තිබුණා. ඒ අන්දමට ගත් ඡායා රූපයක පෘථිවි ශාක සුදු පාටින් පේන්නේ අන් කිසිවක් නිසා නො ව ඒවා තමනට අනවශ්‍ය තාප කිරණ පරාවර්තනය කරන නිසා බව ඔහු පෙන්නා දුන්නා. එහෙත් අඟහරු ලොවේ සූර්ය තාපය ප්‍රබල නො වන නිසා එහි ශාක තමනට ලැබෙන තාප මුළුල්ල පරිභෝජනය කිරීමට තැත් කරනවා. කොළ පාට බිම් කඩවල ඡායාරූප අධෝ-රක්ත කිරණ යටතේ වත් සුදු නො වන්නේ ඒ නිසා විය නො හැකි ද?"

"හරියට කියනවා නම් තාරකා විද්‍යාඥයන් වන අප ආර්ක්ටික් ප්‍රදේශයට ඇවිත් ඉන්නේ මෙන්න මේ නිසයි. අපට ඕනෑ කරනවා (අඟහරු දේශ ගුණයට සමාන දේශගුණයක් ඇති) ධ්‍රැව ප්‍රදේශයේ ශාක, තාප කිරණ පරාවර්තනය කරනවා ද යන්න ස්ථිර ව දැනගැනීමට."

"ඉතින් එහෙම කරනවාද?"

"නෑ එහෙම කරන්නේ නෑ.. උතුරේ ශාක තාප කිරණ උරාගන්නවා - හරියට අඟහරු ශාක වගේ." නතාෂා කෑ ගැසුවා ය. ඇගේ ඇස් දිලිසෙමින් තිබිණ. "අපට ඔප්පු කරන්න පුළුවන්, අඟහරු ලොවේ ජීවය පවත්නා බව; අර කොළ පාට බිම් කැබලි විශාල කේතුධර වනාන්තර බව අඟහරු ලෝකයේ සුප්‍රකට ඇලවල් කිලෝ මීටර් 100 වත් 600 වත් අතර පළල ඇති වෘක්ෂ ලතා තීරු බව."

"නතාෂා පොඩ්ඩක් ඉන්න." තාරකා විද්‍යාඥයා තමා ගේ සහායිකාවට බාධා කෙළේ ය.

"ඇලවල්?" නිසොව්ස්කි නතාෂා ගේ වචන පුනරුච්චාරණය කෙළේ ය. "එහෙනම් ඇත්තට ම ඇලවල් තියනව ද? අඟහරු ලෝකයේ ඇලවල් ඇහැට පේන මායාවක් විතරයි කියල වැඩි කලක් නෑ."

"අඟහරු ලොවේ තියන ඇලවල් ඡායාරූප ගත කරල තියනවා. ඡායාරූප බොරු කියන්නෙ නෑ. ඇලවල් දහකට

වැඩිය ඡායාරූපයට නගල තියනවා. ග්‍රහයේ ධ්‍රැව ප්‍රදේශවල හිම දිය වෙන විට ඒවා පෙනෙන්නට පටන් ගෙන නිරක්ෂය දක්වා ක්‍රමයෙන් දික් වන බව ඔප්පු වෙලා තියනවා."

"ශාක තීරු දික් වෙනවා පැයට කිලෝ මීටර් 3 2/1 ක තරම් වේගයෙන්." නිශ්ශබ්ද ව සිටීමට අසමත් නතාෂා යළිත් කට දම්මා ය.

"දිය සුළියක දිය පාර ගසා ගෙන යන තරම් වේගයෙන්!" මවිතයට පත් භූගෝල විද්‍යාඥයා සැක පහළ කෙළේ ය.

"ඔව්, එම වේගයෙන්." තාරකා විද්‍යාඥයා එය ස්ථිර කෙළේ ය." මේ මුළු මහත් ශාක තීරු ජාලය ම සෘජු රේඛාවලින් සෑදී තිබීම පුදුමයක් වගේ පෙනවා. ඉන් ප්‍රධාන ඒවා හරියට රුධිර නාල වගේ - අයිස් දියවෙන ධ්‍රැවවල සිට නිරක්ෂය දක්වා දිවෙනවා."

"එහෙනම් කිසි සැකක් නැහැ මෙය අඟහරුවන් ඔවුන් ගේ කෙත්වලට ජලය සපයන්නට තැනූ වාරි මාර්ග ව්‍යාපෘතියක් වෙන්න ඕනෑ. අපි ඒවා නිකම් ම ඇලවල් වශයෙන් සලකා තියෙනවා. ඒත් ඇත්තෙන් ම එහි ඇලවල් නැහැ. එහෙ තියෙන්නෙ පොළොව මතු පිට දපු පයිප්ප වෙන්න ඕනෑ." තිසොව්ස්කි අදහසක් ඉදිරිපත් කෙළේ ය. ක්‍රයිමොව් සිනා සෙමින් ඔහු නිවැරදි කෙළේ ය. "පොළව මතු පිට නෙමෙයි, අඟහරු මතු පිට."

"එහෙනම් අඟහරු ලොවේ ජීවිතය පවතිනවා. ඔබ හරි." තිසොව්ස්කි යළිත් කී ය.

"අපට නිශ්චය වශයෙන් දනට කිව හැක්කේ අඟහරු ලොවේ ජීවය පවතින්න බැරි නැති බව විතර යි."

"අප දන් දන්නා කරුණු සියල්ල අනුව 1908 දී ඇත්තෙන් ම අඟහරුවන් පොළොවට ආවා විය හැකි යි." නැව් පති බෝරිස් යෙෆිමෝව්ච් කී ය.

"ඔව්, වෙන්න පුළුවනි." ක්‍රයිමොව් ගාණක් නැති ව උත්තර දුන්නේ ය.

"හැම දේකින් ම පේන්නෙ අඟහරුවන් පොළොවට ආපු වගයි." නැව් පති සිය පයිප්පය අතට ගනිමින් යළිත් කීවේ ය.

"අඟහරු, ජීවය හීන වේගන යන ග්‍රහ ලෝකයක්. එය ප්‍රමාණයෙන් පොළොවට වැඩිය කුඩා නිසා එහි තියෙන්නෙ අඩු ගුරුත්වාකර්ෂණ බලයක්. ඒ නිසා අඟහරුට සිය වායු ගෝලය රඳවාගන්න අපහසු යි. එහි සිහින් කොටස් ග්‍රහය කෙරෙන් පලා ගොස් අභ්‍යවකාශය කරා ඇදී යනවා. අඟහරු මත වාතය තුනී වුණා; සාගර වාෂ්පීකරණයෙන් හිඳී ගියා; ජල වාෂ්ප බාහිරාකාශයෙහි අතුරුදහන් වුණා. අන්තිමේ දී අඟහරු ලොව ඉතිරි වුණේ අපේ බයිකල් විලෙහි අඩංගු කළ හැකි තරම් සුළු ජල ප්‍රමාණයක් පමණ යි."

"එහෙනම් ඔවුන් පිටතට පියාසර කළේ අපේ පෘථිවිය අල්ලාගන්නයි!" තිසොව්ස්කි කී ය. "උන්ට අපේ සරු සාර ග්‍රහ ලෝකය ඕනෑ වෙලා!"

"අපට දන් ඉන්න හිට්ලර්ල, ට්‍රූමන්ල, මැක්ආතර්ල මදිවට ඉතින් අඟහරුවන් සමඟත් සටන් කරන්න යි වෙන්නෙ." නැව් පති ගුගුළේ ය.

"මම හිතන්නෙ ඔබ හැම වැරදි යි කියල. වෙල්ස් සහ අනෙක් බටහිර ලේඛකයන්ට ලෝක එක්සත් වීම ගැන සිතන විට කොන්දේසි වශයෙන් ගත හැකි වුයේ ආක්‍රමණ සහ යුද්ධ පමණ යි. අඟහරු ග්‍රහයේ ජලය පිළිබඳ තත්ත්වය දනීමෙන් සහ අඟහරුවන් ගේ අති විශාල වාරි මාර්ග ක්‍රම දකීමෙන් මට හිතෙන හැටියට නම් මුළු මහත් ග්‍රහ ලෝකයේ පරිමාණයෙන් සාර්ථක කර ඇති සැලසුම් කළ ආර්ථිකය විසින් මෙහෙයවනු ලබන ඔවුන් ගේ සමාජ ක්‍රමය පිළිබඳ යම් යම් නිගමනවලට අපට බැස ගන්න පුළුවනි."

"ඔබ කියන්නේ අඟහරු ලෝකයේ විශිෂ්ට සමාජ ක්‍රමයක් තියෙනවයි කියල ද?"

"ඇත්තෙන් ම, බුද්ධිමත් සත්ත්ව කොටසක ගේ සංවර්ධනය එබඳු සමාජ ක්‍රමයක් කරා මිස වෙනත් අන්තයක් කරා යන්න

බෑ." භූගෝල විද්‍යාඥයා ස්ථිර ලෙස කියා සිටියේ ය.

"නො අනුමානයෙන්." ක්‍රයිමොව් එය අනුමත කෙළේ ය. "ඒත් අඟහරු ලොවින් ජලය කෙමෙන් අතුරුදන් වෙනවා. ඉතින් හරියට පොළොවේ මිනිසුන් වන අප අපේ දරුවන් ගේ අනාගතය ගැන සැලකිලි මත් වෙන්නාක් මෙන් අඟහරුවනුත් ඔවුන් ගේ අනාගත පරම්පරාව ගැන සොයා බැලිය යුතු ව තියෙනවා. අනාගතය සම්බන්ධයෙන් ඔවුන්ට ඉතා වැදගත් වන්නේ ජලය යි. ජලය තියෙන්නේ කොහේ ද? එය අඟහරුට කිට්ටු ග්‍රහ ලෝකවල - විශේෂයෙන් පෘථිවියේ සුලබ ව තියෙනවා. ග්‍රීන්ලන්තය ගනිමු. එය කිලෝ මීටර් තුනක් ගනකමට අයිස්වලින් වැසී තියෙනවා. මේ අයිස් කන්දරාව ඉවත් කළොත් යුරෝපයේ දේශ ගුණය සැලකිය යුතු කරමින් යහපත් වෙනවා ඇති. මොස්කව් අවට ප්‍රදේශවල පවා දෙඩම් වැවේවි. අයිස් අඟහරු ලොවට ගෙන ගියොත් මුළු මහත් ග්‍රහය මීටර් 50 ක් ගැඹුරු ජල තට්ටුවකින් වැසී යාවි. මෙහි ජලයෙන් එහි අතීත සාගරවල පහත් තැන් පිරී ගිය විට එය තවත් අවුරුදු ගණනකට සරුසාර ග්‍රහ ලෝකයක් වේවි."

"එහෙනම් අඟහරුවන්ට උවමනා පෘථිවියේ ජලය පමණයි! මහ පොළොව එහෙම පිටින් ම නොවෙයි?"

"සත්තකින් ම, පෘථිවියේ ජීවත් වීමේ තත්ත්වයන් අඟහරු ලොවේ ජීවත් වීමේ තත්ත්වයන්ට වඩා බොහෝ දුරට වෙනස්. අඟහරුවන්ට පෘථිවියේ දී හරිහැටි හුස්ම ගන්න වත් නිදහසේ එහා මෙහා යන්න වත් බෑ. ඔවුන් මෙහි දී ඔවුන් ගේ ලෝකයේ දීට වඩා දෙ ගුණයක් බර යි. ඔබේ බර දෙ ගුණ වූවොත් කොහොම දයි හිතා බලන්න. අඟහරුවන්ට පොළොව ආක්‍රමණය කිරීමට හේතුවක් නෑ. ඔවුන් සංස්කෘතියේ ඉහළ මට්ටමකට පත් වෙලා! ඔවුන් ශ්‍රේෂ්ඨ සමාජ ක්‍රමයක් ඇතිව ජීවත් වෙනවා පමණක් නො වෙයි; සමහර විට ඔවුන් යුද්ධ ගැන දන්නේ ඔවුන් ගේ ම ඉතිහාසය පිළිබඳ ගවේෂණවලින් පමණ යි. ඔවුන් මිතුරන් වශයෙන් මෙහි එන්නේ අපේ උපකාරය පතා- අපේ අයිස් පතා."

"ග්‍රහ ලෝක අතරේ මිත්‍රත්වය!" තිසොව්ස්කි හිටි හැටියේ මහ හඬින් උච්චාරණය කෙළේ ය. "ඒත් කොහොමද ග්‍රීන්ලන්තයේ අයිස් අඟහරු ලෝකයට ගෙනි යන්නෙ?"

"ලෝහමය අජටාකාශ යානා අන්තර් ග්‍රහ තරණයට යොදගන්න පුළුවන් නම්, අයිස් පිරවූ හෝ අයිස්වලින් ම තැනූ හෝ අජටාකාශ යානාවලින් ඒ වැඩේ කරන්නට බැරි ද? එබඳු යානා දස ලක්ෂ ගණනක් පෘථිවියේ සිට අඟහරු ලොවට යැවීමෙන් - ඇත්තෙන් ම එක් වර නොවෙයි, සමහර විට ශත වර්ෂ ගණනාවක් තුළ දී - ග්‍රීන්ලන්තයේ අයිස් සියල්ල අඟහරු ලොවට ප්‍රවාහනය කරන්න හැකි වේවි. අතර තුර කාලයේ අඟහරු ගේ තත්ත්වය ක්‍රමයෙන් හොඳ අතට හැඩ ගැහේවි. පරමාණු ශක්තිය අයිස් ගෙන යන යානාවලට අවශ්‍ය බලය සපයාවි."

"පරමාණු ශක්තිය!" භූගෝල විද්‍යාඥයා සිය මවිතය පළ කෙළේ ය. "එහෙනම් ඔබ හිතන්නෙ තුංගුස් තයිගාවලට ඉහළින් පිපිරුවෙත් පරමාණු ඉන්ධන කියල ද?"

"ඔව් ඒක මට හොඳට ම විශ්වා යි. මා මෙතෙක් කියපු දේවලට තවත් කරුණු එකතු කරන්න තියනවා. ඔබට මතක ද අර දීප්තිමත් ව බැබළුණු වලාකුළු ගැන. පරාවර්තනය වූ හිරු රැස්වලට වැඩි දෙයක් එහි තිබුණා. රාත්‍රි කාලයේ වලාකුළු විනිවිද ආ කොළ පාට සහ ලා රතු පාටට හුරු ආලෝකයක් දකින්නට ලැබී තියනවා. එය නිසැකයෙන් ම වාතයේ සන්දීප්තිය නිසා ඇති වූවක්. යානය පුපුරා ගිය මොහොතේ සියලු පදර්ථ වාෂ්පීකරණය වී ඉහළ නැහ එහි වූ විකිරණ ශීලී ද්‍රව්‍ය වායුව දීප්තිමත් කරමින් විහිද යාමට පටන් ගෙන තිබෙනවා. ඔබට මතක ඇති ලුචෙට්කාන් ගේ පුතා ගේ මරණය ගැන. ඔහු පිළිස්සුම් වේදනා විඳ මළ නමුත් පිළිස්සුම් ලකුණු කිසිවක් ඔහු ගේ සිරුරේ තිබුණේ නෑ. මෙය පරමාණු පිපිරීමක පශ්චාත් ප්‍රතිඵල වශයෙන් ඇති වන ආකාරයේ විකිරණ ශීලී ප්‍රතික්‍රියාවක් බව නිශ්චිත වශයෙන් පිළිගත යුතු යි."

"මේ සියල්ල හිරෝෂිමා සහ නාගසාකිවල සිදු වූ දේට හැම අතින් ම සමාන යි." විද්‍යාඥයා උනන්දු සහගත ව කීවේ ය.

"ඉතින් අප කරා පියාඹා අවේ කව්රු ද? මොකද ඔවුන් මළේ?" නතාෂා ඇසුවා ය.

ක්‍රයිමොව් මොහොතක් සිතුවිල්ලේ ගැලී හුන්නේ ය.

"මම ඉතා ප්‍රවීන අජටාකාශ නාවිකයන් ගෙන් ඉල්ලා සිටියා අහහරුවන්ට ඔවුන් ගේ ලෝකයේ සිට පොළොවට පැමිණීමට ඉතා සුදුසු කාලය ගණනය කොට දන්වන ලෙස. අහහරු විශේෂයෙන් පොළොව කිට්ටුවට එන්නේ අවුරුදු පහළොවකට වරක්."

"කොයි කාලෙද එය සිදු වන්නෙ?"

"1909 දී." නතාෂා උනන්දුවෙන් කීවා ය.

"ඉතින් ඒක ගැළපෙන්නේ නෑ නොවැ." නැව් පති බලාපොරොත්තු කඩ වූ ලෙසින් කී ය.

"ඔව්, ඔව්, ඒ වකවානුව ගැළපෙන්නෙ නෑ තමා. අහහරුවන්ට පෘථිවිය කරා එන්නට සුදුසු ම කාලය 1907 හෝ 1909, කොයි හැටියකින් වත් තයිගා ව්‍යසනය සිදුවූ 1908 ජූනි 30 නම් නොවෙයි." ක්‍රයිමොව් කීවේ ය.

"හරි ම කණගාටුදයක යි." නිසොව්ස්කි සුසුමක් හෙළී ය.

ක්‍රයිමොව් සිනා සුණේ ය.

"පොඩ්ඩක් ඉන්න. මම කියල ඉවර නෑ. අජටාකාශ නැවියන් ගේ ගණනය වෙනත් සිදු විය හැකි දෙයක් දෙසට මගේ සිත යොමු කළා."

"ඒ මොකක් ද?"

"අජටාකාශ යානය සිකුරු ග්‍රහයේ සිට ආවා නම් ඒ ගමනට ඉතා ම සුදුසු දිනය 1908 ජූනි 30 වෙනිද."

"ඉතින් තයිගා ව්‍යසනය සිදු වුණේ කවද ද?"

"1908 ජුනි 30 ද."

"ඕ, මම වාසනාවන්තයෙක්?" නිසොව්ස්කි කෑ ගැසුවේ ය. "එහෙනම් ඇවිත් තියෙන්නෙ සිකුරු ලොවේ වැසියන් නේද?"

"මම එහෙම හිතන්නෙ නෑ... කොයි හැටිත් හරියට මේ චකවාතුවේ දී සිකුරු ලොවේ සිට පෘථිවියට පියැඹීමට පුදුමාකාර වාසි සහගත තත්ත්වයක් තිබුණ බව ප්‍රවීන අජටාකාශ ගාමීන් පෙන්වා දී තිබීම අති විශේෂ කාරණයක්. රොකට්ටුව 1908 මැයි 20 වෙනි ද සිකුරු ලොවින් ගුවන් ගත කරනු ලැබ - සිකුරු සහ පොළොව ගමන් කරන දිසාවට ම-සෑම විට ම ඒවා අතර තිබෙන පරිදි-හසුරුවනු ලැබුවේ නම් සිකුරු ගේ සහ පොළොවේ සප්තමයට[1] දවස් කීපයක් තිබිය දී පොළොවට ළඟා විය හැකි යි."

"එහෙනම් ඇත්තෙන් ම ඔවුන් සිකුරු ග්‍රහ ලෝක වාසීන් විය යුතු යි. ඒ ගැන කිසි විවාදයක් නෑ." නිසොව්ස්කි වේගවත් ව කී ය.

"මම එහෙම හිතන්නෙ නෑ." තාරකා විද්‍යාඥයා ඔහු ගේ අදහස ප්‍රතික්ෂේප කෙළේ ය. සිකුරු ග්‍රහයේ කාබන් ඩයොක්සයිඩ් විශාල ප්‍රමාණයක් තියෙනවා. එහි සත්ත්ව ජීවිතයට හානිකර විෂ වායු ඇති බවටත් ලකුණු තියෙනවා. ඒ නිසා සිකුරු ලොවේ සත්ත්ව ජීවිතය මැනවින් සංවර්ධනය වී ඇතැයි හිතන්න අමාරු යි."

"කොහොම හරි ඔවුන් මෙහි ආවා නොවැ. එයින් පේන්නෙ ඔවුන් එහි ඉන්න බව යි." නිසොව්ස්කි සිය මතයෙහි ම ස්ථිර ව සිටියේ ය. "අහහරුවන් සිකුරු ලොවේ සිට මෙහි ආ බවක් ඔබ කියන්නේ නැතැයි මා සිතනවා."

1. සප්තමය - Opposition: සූර්යයා වටා ග්‍රහයන් වෙන වෙන කක්ෂවල ගමන් කරද්දී එම ග්‍රහයද පෘථිවිය ද සූර්යයා ද (මෙහිදී සිකුරු, පොළොව සහ හිරු) එක ම සෘජු රේඛාවක පවතින මොහොත.

"ආන්න, ඒක තමයි මම හිතුවෙ, ඔබ අනුමාන කළා හරි.

"එහෙමද? ඒ ගැන ඔබට තියන සාක්කි මොනවාද?" තමා ගත් මතය බිඳ වැටෙන්නට යන බව දුටු තිසොව්ස්කි ඇසී ය.

"සාක්කි තියනවා. අහහරුවන් ජලය සොයා යාමේ දී තමන් ගේ අසල් වැසි ග්‍රහ ලෝක දෙක ගැන ම සොයා බලන්නට ඇතැයි සිතීම බුද්ධි ගෝචර යි. මුලින් ම වඩා සුදුසු අවස්ථාවක දී ඔවුන් සිකුරු ග්‍රහය වෙත පියාඹන්නට ඇති. ඊට පසු 1908 මැයි 20 ද ඔවුන් සිකුරු ලොවේ සිට පොළොවට පියාඹන්නට ඇති. මඟ දී කොස්මික් කිරණ[1] නිසා හෝ උල්කාපාත මුණ ගැසීම නිසා හෝ නියමුවන් මරණයට පත් වූ බව පැහැදිලි යි. පෘථිවිය කරා එමින් තිබුණේ හසුරුවන්නෙක් නැති නිසා හැම අතින් ම උල්කාපාතයකට සමාන යානයක්. තිරිංග ලෑමෙන් වේගය අඩු කරගන්නේ නැති ව එය පෘථිවි වායු ගෝලයට ඇතුළු වුණේ ඒ නිසයි. වායු ඝර්ෂණය නිසා උල්කාපාතවලට සිදු වන්නාක් මෙන් යානය උණුසුම් වුණා. එවිට යානයේ බාහිර ආවරණය උණු වී පරමාණු ඉන්ධන දම ප්‍රතික්‍රියාවක් [2] ඇති කරන තත්ත්වයට පත් වුණා. ගුවනේ පරමාණු පිපිරීමක් ඇතිවුණා. මෙසේ පිට සක්වලින් පොළොවට ආ ආගන්තුකයෝ නිවැරදි ගණනයන් ගෙන් දුන් ජේන හැටියට - ඔවුන් පොළොවට ළඟා විය යුතු ව තිබූ දවසේ දී ම ගුවනේ දී මරු මුවට පත් වුණා. ඒ දවස අනතුරු පිළිබඳ සංඥා නිකුත් කිරීමේ දිනයක් හැටියට අහහරුවන් සලකනවා විය හැකි යි."

"ඇයි, ඔබ එහෙම කියන්නෙ?"

---

1. Cosmic rays. - අන්තරීක්ෂ කිරණ : සෞර මංඩලයෙන් එපිට අභ්‍යවකාශයෙන් පැමිණෙන්නේ යැයි සිතනු ලබන බොහෝ විනිවිද යන සුළු ඉතා ම කෙටි විද්‍යුත් චුම්බක තරංග.

2. A Chain Reaction - එක් ප්‍රතික්‍රියාවක් එවැනිම තවත් ප්‍රති ක්‍රියාවකට තුඩු දෙමින් සිදුවන ප්‍රතික්‍රියා දමයක්.

"මෙන්න මේ නිසයි, 1909 මහා සප්තමය සමයේ දී පෘථිවියේ තාරකා විද්‍යාඥයන් බොහෝ දෙනෙක් අහහරු ලොවේ ආලෝක විහිදීම් නිසා කැළඹීමට පත් වුණා."

"ඒවා සංඥා විය හැකි ද?"

"වෙන්න පුළුවනි," තාරකා විද්‍යාඥයා පිළිතුරු දුන්නේ ය. අවුරුදු පහළොවක් ගත වී 1924 ඊළඟ සප්තමය ආවා. එවිට රුසියන් විද්‍යාඥ පොපොව්, රේඩියෝව නිපදවා තිබුණා. රේඩියෝවලට පුදුමාකාර සංඥා ලැබුණා. මේවා අහහරු ලොවින් ලැබෙන රේඩියෝ සංඥා බව කියන බොහෝ කතා බහ තිබුණා. එය මාකෝනි ගේ විහිළුවක් කියලත් කතාවක් පැතිර ගියා. ඒත් ඔහු ඒක ප්‍රතික්ෂේප කළා. ප්‍රවේගාත්මක කතා බහට අවනත වූ ඔහු අහහරු ලොවින් එන සංඥා තමා ගේ රේඩියෝවට අසු කර ගන්නට පවා උත්සාහ කළා. ඔහු විශේෂ පර්යේෂක කංඩායමක් පවා සංවිධානය කළ නමුත් ඉන් වැඩක් වුණේ නෑ. පෘථිවියේ රේඩියෝ මධ්‍යස්ථානයන්ට අවිෂය වූ කිසියම් තරංග ආයාමයක් ඔස්සේ ආ අපූර්ව සංඥා තේරුම් කිරීමට කිසිවෙක් සමත් වූයේ නෑ."

"ඊළඟ සප්තමයේ දී මොකද වුණේ?" නිසොව්ස්කි උනන්දුවෙන් ඇසී ය.

"1939 දී තාරකා විද්‍යාඥයන් විසින් වත් රේඩියෝ විශේෂඥයන් විසින් වත් කිසිවක් සොයාගනු ලැබුවේ නෑ. බාගෙ ද ඉන් පෙර සප්තමයේ දී තමන් ගේ අජටාකාශ සංචාරකයන් සමග සම්බන්ධ කම් ඇති කර ගැනීමට කළ උත්සාහය ව්‍යර්ථ වීම නිසා අහහරුවන් මේ සප්තමය එන විට ඔවුන් මිය ගිය බව තීරණය කර ඔවුන් සෙවීමේ අදහස අත්හැර දමා සිටින්නට ඇති."

1. අලෙක්සාන්දර් ස්ටෙපානෝවිච් පොපොව් (උපත 1859.03.16) - 1899 දී රේඩියෝව නිපදවූ රුසියානු විද්‍යාඥයා.

"මේවා කොපමණ තර්කානුකූල ද? කොයි තරම් දුරට සිදු විය හැකි දේ ද?" අහහරු ගේ ඊළඟ සප්තමය 1954 දී ඒවි." මදක් නිහඬ ව සිටි ක්‍රයිමොව් කීවේ ය.

"අහහරුවන් ඒ වන විට ජීවිතේන්ද්‍රියය කොස්මික් කිරණවල බල පෑමෙන් බේරාගැනීමේ ප්‍රශ්නය විසඳ ගතිද්දයි මා දන්නේ නෑ. මේ සම්බන්ධයෙන් මට වෙනත් බලාපොරොත්තු තියෙනවා. අපි දැන් පරමාණු ශක්තිය හොයාගෙන තියෙනවා. නුදුරු අනාගතයේ දි අභ්‍යවකාශ තරණය පිළිබඳ සිහිනය සැබෑ කරන්නේ අපි යි.[1]"

"ඉතින් ඔබ අහහරු ලෝකයට යනවද?" මදක් බියට පත් නතාෂා ක්‍රයිමොව් අමතා ඇසුවා ය.

"ඔව් ඔව්, මට සහතික යි මා අහහරු ලෝකය කරා යන බව, මිනිස් වර්ගයා ගේ සංවර්ධනයත්, පොළොව මත විද්‍යාවේ අභිවර්ධනයත් අහහරුට වඩා ඉතා වාසි දායක තත්ත්වයන් යටතේ ඉදිරියට යනවා. ඔවුන්ට වඩා ඉක්මනිනුත් ඔවුන්ට වඩා සාර්ථක වත් අප එහි යන බව මට සහතික යි."[2]

මදක් නිහඬ ව සිටි ක්‍රයිමොව් හඬ නඟා සිනා සුණේය.

"දැන් ඔබ හැමට පේනවා ඇති මා තාරකා විද්‍යාඥයෙක් වුණේ මොකද කියා. මා අදහස් කර සිටියාටත් වඩා දිග කතාවක් මා කියා තිබෙනවා - නැව් පති බෝරිස් යෙෆිමෝවිච් සහෝදරයා ගේ බ්‍රැන්ඩිවලට පිං සිදුවෙන්නට."

"පොඩ්ඩක් හෝව්" නිසොව්ස්කි යුගත් දෙපසට විහිදුවමින් කී ය. "මම පුරාජීව විද්‍යාඥයෙක්. කිසියම් යුගයක පෘථිවියේ ජීවත් වූ සතකු ගේ ඇට කටු විභාග කිරීමෙන් උගේ අනුරුවක් නිපදවීමට අපට පුළුවන්. ඔබට බැරි ද අහහරු වැසියෙකු ගේ රූපාකාරය කොයි හැටි වේවිද කියා අනුමානයෙන් කියන්නට?"

ක්‍රයිමොව් සිනා සුණේ ය.

---

1. මේ කථාව ලියා අවුරුදු 10 ක් යාමට පෙර 1961 අප්‍රේල් 12 ද යූරි ගගාරින් අභ්‍යවකාශයට ප්‍රවිෂ්ට වී මේ සිහිනය සැබෑ කෙළේ ය.

"මම ඒ ගැන හිතල තියෙනවා. ඔබ අහන්න කැමති නම් කියන්නම්. ඔබේ වෘත්තීය සහෝදර පුරාජීව විද්‍යාඥයෙක් සහ ලේඛකයෙක් වූ මහාචාර්ය යෙෆ්‍රිමොව් [1] මේ ගැන කියා ඇති දේ ගැන මා එකඟ වෙනවා......තනි මස්තිෂ්ක (මොළ) කේන්ද්‍රයක් සහ එයට නුදුරු ව ඇති ත්‍රිමානික දර්ශන ඉන්ද්‍රියයන්........මේවා ඉතා වැදගත්-හාත්පස පළල් දක්මක් ලබාගැනීමට ඔහුට සෑහූ ශරීරයක් අවශ්‍යයි........අහහරු දේශ ගුණය කටුකයි. උෂ්ණත්වයේ තද බල වෙනස් වීම් ඇති වෙනවා. සමහර විට ඔවුන් එතරම් රූමත් අය නො වෙන්න පුළුවන්. ශරීරයේ ආරක්ෂක ආවරණයක් තිබිය හැකි යි. එය මේද තට්ටුවක් හෝ ඝන ලෝම පටලයක් හෝ අහහරු ශාක මෙන් තාප කිරණ උරාගන්නා දම් පාට හමක් විය හැකි යි.......ඔවුන් වැඩිපුර උස් වෙන්න බෑ.........එහි ගුරුත්වාකර්ෂණ බලය අඩු නොවැ. මස් පිඬු අපට වඩා අඩුවෙන් සංවර්ධනය වූ ඒවා විය යුතු යි. වෙන මොනවද? ආ.......ඔව්, ස්වාශේන්ද්‍රියය............අහහරු වායු ගෝලයේ ඇති නො සැලකිය යුතු තරම් සුළු ප්‍රමාණයක් වූ ඔක්සිජන් පාවිච්චි කිරීමට සිදු වන නිසා ඔවුන්ගේ ස්වාශේන්ද්‍රිය පද්ධතිය උසස් ලෙස සංවර්ධනය වී ඇති.........ඇත්තෙන් ම, මේ සියල්ලේ නිවැරදි බව ගැන නම් මට වග කියන්න බෑ."

"ඉතින් සිකුරු ග්‍රහයේ බුද්ධිමත් සත්ත්ව කොට්ඨාශයක් සිටිතොත්, ඔවුන් ගේ පෙනුම කොයි හැටි විය හැකි ද?" තිසොව්ස්කි කල්පනාකාරී ලෙස ඇසී ය.

තාරකා විද්‍යාඥයා කොක් හඬ ලා සිනා සුණේ ය.

"ඒ ගැන මට කියන්න දෙයක් නෑ. අපි තව ම සිකුරු ගැන දන්නෙ බොහොම ටිකයි."

1. අලෙක්සේයි විලදිමිරවිච් යෙෆ්‍රිමොව්=(උපත 1896-01-30) 1938 දී මොස්කව් රාජ්‍ය විශ්ව විද්‍යාලයේ ඉතිහාස මණ්ඩපයේ මහාචාර්ය ධුරයට පත් මොහු ඉතිහාසය භූගෝල විද්‍යාව සහ මානව විද්‍යාව පිළිබඳ විශේෂඥයෙක් විය.

"ඒත් ඔවුන් ආවෙ සිකුරු ලොවින්." නිසොව්ස්කි පහත් හඬින් කී ය.

ක්‍රයිමොව් හිස වැනුවේ ය.

අප වෙන් වී යන විට මධ්‍යම රාත්‍රිය ද පසු වී බොහෝ වේලා ගත වි තිබුණා. බෝරිස් යෙපිමෝවිච් සන්ධ්‍යා විනෝද සාදය ගැන අතිශයින් සතුටට පත් ව සිටියේ ය.

"හිත හොඳ මිනිහා! මේ වගේ කෙනෙක් එක්ක ආර්ක්ටික්වල වැඩ කරන්න ලැබෙනවා නම් මොන තරම් සතුටක් ද?" හෙතෙම කී ය.

තාරකා විද්‍යාඥයා අපෙන් සමු ගත් දිනය මට හොඳට මතක ය. ඔහු නතාෂා ත් සමග එහි ශාකවල පරාවර්තන ලක්ෂණ සොයා බැලීම සඳහා කොලොද්නයා සෙම්ලා දූපතට ගියේ ය.

ඔහු ගේ බඩු බාහිරාදිය මෝටර් ලාංචියට බාන ලදි. නතාෂා සහ ක්‍රයිමොව් අපට අත් වනා ආචාර කළහ. නැව් පති නැවේ සයිරනයෙන් ආචාර කාහලයක් නැඟුවේ ය. සියුම් ආචාර විධි ගැන සැලකිල්ලක් දැක්වූ බෝරිස් යෙපිමෝවිච් මෙවැනි සෑම අවස්ථාවක දි ම එය කෙළේ ය. නැවේ ගරාදි වැටට හේත්තු වූ නිසොව්ස්කි මෙසේ කෑ ගැසුවේ ය.

"ඔවුන් ආවේ සිකුරු ලෝකෙන්."

"නෑ, අඟහරු ලෝකෙන්." ක්‍රයිමොව් පෙරළා කෑ ගැසී ය. ඔහු එය බැරෑරුම් ලෙස විශ්වාස කළ නිසා ඔහු ගේ මුහුණේ යන්තම් සිනාවකුදු නො වී ය.

දිය රැලි අතරින් යුහුව ඉදිරියට ඇදී යමින් ඈත කඩතොලු සහිත භූමි රේඛාවට ළඟා වන ලාංචිය කෙමෙන් කුඩාවට දිස් විය.

පැයකට පසු නැවේ ලාංචිය ආපසු ආවේ ය.

"ජෝජ් සෙඩොව්" සිය ගමන යළි ඇරඹීමට සූදනම් විය.

# අඟහරුවා

## ඇලෙක්සාන්දර් කාසාන්ත්සෙව්.

'අඟහරු ව්‍යසනය' පිළිබඳ අවතාරය 'ජෝජි සෙඩොව්' නැව තුළ හොල්මන් කරන්නට විය. වෙනද පුරුදු ආර්ටික් කතන්දර කියන්නට වත් අසන්නට වත් කැමති කිසිවෙක් නුවූහ. අපේ නැවේ සිටි නාවිකයන් සහ ධ්‍රැව සංචාරකයන් නිතර ම කතා කෙළේ තුංගුස් තයිගාවේ සිදු වූ භයානක පිපිරීම පිළිබඳ තොරතුරු ය. ඔවුහු එයින් ඇවිස්සී සිටිය හ. ඔවුන් අතර නිතර ඒ පිළිබඳ උණුසුම් වාද විවාද ඇති විය. නිතර ම කතන්දර කියවෙන නිසා අපේ නැව්පති විසින් 'කතා පෙට්ටිය' යනුවෙන් හඳුන්වන්නට පුරුදු ව සිටි අපේ නැව තුළ ආර්ක්ටික් අන්දර ඇසීමේ උනන්දුව නැතතට ම නැති වී ගියේ ය.

දිනක් නැව් පති සිනා මුසු ව මා අමතා මෙසේ කී ය.

"ඇලෙක්සාන්දර් පෙට්රෝවිච්, තාරකා විද්‍යාඥ අමුත්තා අරුම කතා ඇසීම පිළිබඳ අපේ ආසාව ඇවිස්සුවා. දැන් ඉතින් අපට පිහිට වෙන්න ඉන්නෙ ඔබ යි. කල්පිත ප්‍රබන්ධ කතා රචකයෙකු වන ඔබ අරුම පුදුම කතන්දරයක් කියා අපේ ආසාව සංසිඳුවන්න ඕනෑ."

"ඔව් කියන්න, කියන්න." නැවේ ප්‍රධාන ශාලාවේ රැස් වී හුන් සියල්ලෝ එක හඬින් කී හ... අපට කොහොම වත් විශ්වාස කරන්න බැරි කතාවක් කියන්න."

"ඒත් ඔය ගොල්ලො හැමෝම විශ්වාස කරනවද තයිගාවට පිට සක්වලින් ආපු අජටාකාශ යානය පිළිබඳ කතාව?" මම සරදම් සරින් ඇසුවෙමි.

"ඇමරිකානුන්ගෙ කතාවක් තියනවා දෙවියන් හැරුණාම අපි විශ්වාස කරන්නෙ සල්ලි විතරයි කියලා. මට පේන හැටියට අර කතාවෙත් පොඩි සල්ලි හුහක් තියෙනවා." නැව් පති මගේ ප්‍රශ්නයට උත්තර දුන්නේ ය.

"ඔව්, හුහක් තියෙනවා. ඒක බොරු බව ඔප්පු කරන්න අමාරු යි." ගුවන් නියමුවා කීවේ ය. නිතර තමා ගේ පියාසර ඇඳුම් කට්ටලය ඇඳ සිටින ඔහු තරබාරු සිරුරක් ඇති කතා බහ අඩු අයෙකි. ඔහු ගේ කාරිය මේ පැත්තේ දූපත්වලින් එකක ගුවන් යානාංගනයක් තැනීමට සුදුසු භූමි භාගයක් ගැන සොයා බැලීම යි.

"ඒ කතාව විශ්වාස කරන්නත් බෑ. බොරු බව ඔප්පු කරන්නත් බෑ." නැවේ සුක්කානම ක්‍රියා කරවන්නා වූ නෙතායෙව් කීවේ ය.

"එහෙම නම් කියන්නම් කොයි හැටියකින් වත් විශ්වාස කරන්න බැරි කතාවක්." මම මගේ කතාවේ සංඥපනය පටන් ගතිමි. මා අදහස් කළේ ඔවුන් අසා පුරුදු ආර්ක්ටික් ජීවිතයේ තොරතුරු ඇතුළත් සරල කතා අතරට ඒවාට හාත්පසින් වෙනස් වූ ද හැබෑ ජීවිතයේ දී කොහොම වත් සිදු විය නො හැකි වූ ද කිසිසේත් විශ්වාස කරන්න බැරි කතාවක් රිංගවීමට ය.

හරියට මගේ කියවන්නා මේ පිටුව පෙරළන්නට පෙර විසිතුරු කතාවක් බලාපොරොත්තු වන්නාක් මෙන් නැවේ සිටි සියල්ලෝ මට අනුග්‍රහය දක්වීමේ සහ දිරි ගැන්වීමේ ඉඟි පාමින් මා දෙසට සවන් යොමු කර සිටියහ.

"මා කියන්න යන කතාව පැරණි එකක් නොවෙයි. එය අප මේ ජීවත් වන කාලයට ම සම්බන්ධ එකක්. මොස්කව් නගර සීමාවෙන් පිටත කුෂිනෝ හි පිහිටි කාලොව් මධ්‍යම ගුවන් සමාජයේ කාර්යාලයට අයත්, සීලිමෙන් වතුර කාන්දු වන, මේසවල තීන්ත පැල්ලම් සහිත, කබල් පෙනුමක් ඇති කාමරයක දී සිදු වූ එක්තරා හමු වීමකිනුයි එය පටන් ගන්නේ.

"එද ගුවන් සමාජයේ සේවය කිරීම පිළිබඳ මගේ වාරය

යෙදී තිබුණු දවස යි. ඔහොම පුදුමයෙන් බලන්න එපා. මම ගුවන් නියමුවෙක් නෙමෙයි. ඒක සිදු වුණේ මෙහෙමයි. අවුරුදු කීපයකට පෙර අජටාකාශ තරණය ගැන උනන්දුවක් දක්වන්නන් වන අපි අපේ ම අජටාකාශ තරණ අංශයක් සංවිධානය කළා. එය අනාගතයේ අජටාකාශ ගමන්වලට අනුබල දෙන්න බිහි කළ සංවිධානයක්. අප සඳට යාමේ සිහින දකිමින් සිටි නිසා අපට සරදම් කළේත් අප පිස්සන් ලෙස හැඳින්නුවේත් වැඩි ඈත කාලයක දී නො වෙයි. ඒත් අපි ඒ මදි පුංචි කම් කිසිත් නොසලකා අපේ පරමාර්ථය පුළුල් ලෙස ප්‍රචාරය කළා. අභ්‍යවකාශ ගමන් පිළිබඳ අපේ විශ්වාසය දෙසට පොළඹවා ගන්නට හැකි සැම දෙනා සමග අපි සාකච්ඡා කළා. අජටාකාශ විද්‍යාව, ජෙට් යානා පිළිබඳ තාරකා ඉංජිනේරු ශිල්පය, අභ්‍යවකාශ තරණය පිළිබඳ තාරකා විද්‍යාව සහ ජීව විද්‍යාව, රේඩියෝ පාලනය ආදී අභ්‍යවකාශ ගමන් හා සම්බන්ධ හැම අංශයකට ම අදාල කමිටු පිහිටෙවුවා. මිතිස්සු දැන් අපේ අජටාකාශ විද්‍යා අංශය ගැන තව දුරටත් සමච්චල් කරන්නේ නෑ. එහි සාමාජිකත්වය දැන් විද්‍යාඥයන්, ගුවන් නියමුවන්, කාර්මික ශිල්පීන්, ලේඛකයන්, ශිෂ්‍යයන් ආදී සමාජයේ නොයෙක් කොටස්වලින් යුක්ත යි. තරුණ තරුණියන්, මැදි වයසේ අය, වයසක උදවිය, පණ්ඩිත මාතීන් සහ සිහින මවන්නන් වැනි සැම දෙනෙක් ම දවසින් දවස එයට එක් වෙනවා.

මා එහි අජටාකාශ චාරිකා අංශයේ එක් සංවිධායකයකු වූ නිසා පළමු වෙනි කෘත්‍රිම චන්ද්‍රිකාව ගුවන් ගත කළාට පසු අවුරුද්ද මුළුල්ලේ ම මට ගුවන් සමාජයේ සේවය කිරීමට සිදු වුණා. එදින මම තරුණියන් දෙදෙනකු සහ තරුණයෙකු සමග බරපතල සාකච්ඡාවක් කළා. ඔවුන් තිදෙනා ම බලාපොරොත්තු වුණේ වෙන කොහාටවත් නොව අහහරු ලෝකයට පියෑඹීමට යි. ඔවුන් පිට වී ගිය හැටියේ මම මට ලැබී තිබුණ ලියුම් වගයක් ගැන වැඩ කිරීමට පටන් ගත්තා.

ඉන් එකක් තරුණයෙකු ගෙන් ලැබී තිබුණ ලියුමක්: "මට වයස අවුරුදු දහ අට යි. මා පාසැලේ ඉගෙනීම අවසන් කළා විතර යි. මෙතෙක් මා වැඩකට ඇති කිසි ම දෙයක් කර

නෑ. ඒත් මම බොහොම කැමති යි විද්‍යාව වෙනුවෙන් යමක් කරන්නට. මීළඟ කෘත්‍රිම චන්ද්‍රිකාවේ බල්ලෙක් යවන්ට අදහස් කර ඇති බව මට දැනගන්ට ලැබී තියනවා. එහි මිනිහෙක් යවනවා නම් එය විද්‍යාවට වැඩියෙන් ප්‍රයෝජන වත් දෙයක් වේවි. අභ්‍යාවකාශයට යන පර්යේෂණ ගමනක් සඳහා මගේ සේවය පිරිනැමිය හැක්කේ කෙසේ දැයි කරුණා කර මට දන්වන්න. මගේ හැහීම් රේඩියෝ මගින් පොළොවට දන්වා එවිය හැකි බව මට සහතික යි............තව ද මට තාරකාවල සිටින අයෙකුට පෙනෙන ආකාරයෙන් පෘථිවිය දකගන්නත් පුළුවන් වේවි."

තව ලියුමක් ගැහැනියක ගෙන්:

"මම හතළිස් හැවිරිදි ගෘහිණියක්. මගේ ජීවිතේ දි මා ඉටු කර ඇති දේ ඉතා ටික යි. අභ්‍යවකාශ ගමනක දි මිනිස් සිරුරේ ඉන්ද්‍රියයන් ක්‍රියා කරන ආකාරය අධ්‍යයනය කිරීමට මාව ම කැප කිරීමෙන් විද්‍යාවට සේවයක් කිරීමට මට ඉඩ දෙන්න..........සෑම රොකට්ටුවක් ම ආපසු පොළොවට නේන බව මා හොඳ හැටි දන්නවා."

ප්‍රාන්ස් බයිකල්වල දුම්රිය පදවන්නෙක් මෙසේ ලියා තිබුණි:

"මම යාන්ත්‍රික දේවලට හුඟක් කැමති යි. මට යන්ත්‍ර සූත්‍ර ගැන අවබෝධයක් තියනවා. එය තව දුරටත් දියුණු කරගන්නට මට ආස යි. අභ්‍යවකාශ යානයක ගමන් කරන කංඩායමක එක් අයකු වශයෙන් මා ප්‍රයෝජනවත් වේවි."

ඇත්ත වශයෙන් ම සෝවියට් දේශය තුළත් ඉන් පිටතත් අභ්‍යවකාශ චාරිකාවලට සම්බන්ධ වීමට පුල පුලා සිටින දස දහස් ගණන් මිනිසුන් සහ ගැහැනුන් ඇති බවට සැකක් නැහැ.

සමාජ ශාලාවේ මේසය වෙත හිඳගෙන මම මිනිස් ජීවිතයේ මේ අද්භූත පැත්ත ගැන මෙනෙහි කළා. මිනිසා පෘථිවිය කෙරෙන් ඉවත් කොට තාරකා කරා ඇදගන්නා මේ බල වේගය කුමක් ද? එය අන් කිසිවක් නො ව මිනිසාට මැඩගත නො හැකි, සංසිඳවාගත ගත නො හැකි ජය ගත නොහැකි - ඔහු ගේ දැනීම් පිපාසය ම යි. ඒ වනාහි ධ්‍රැව ගවේෂකයන් තෙරක්

නො පෙනෙන අයිස් තලය, ප්‍රචණ්ඩ හිම කුණාටු සහ හිම වැසි මැද්දේ නො නැගිටින්නට වැටෙමිනුත් වැටි වැටි නැගිටිමිනුත් ධ්‍රැවය නමින් හඳුන්වනු ලබන සුදු තිතක් කරා ගමන් කිරීමට පෙළඹවූ බල වේගය ම යි; නිර්භීත සාගර නාවිකයන් නො දන්නා නිසා ම මිනිහාට අගනා වූ රටවල් සොයා ප්‍රචණ්ඩ කුණාටුවලින් ඇලලී ගිය මහා සාගරය පුංචි රුවල් නැව්වලින් තරණය කිරීමට පෙළඹ වූ බල වේගය ම යි. ධෛර්යවන්ත කඳු නගින්නන් හිමෙන් වැසුණු මුදුන් සහ උග්‍ර බෑවුම් ඇති, වේගවත් කුණාටු මිස වෙන කිසිවක් නැති, ඇස් අන්ධ කරවන දීප්තියෙන් යුත්, උත්තුංග ගිරි ශිඛරයන්ට නැගීමට පොළඹවන බල වේගය ම යි.

අද මිනිසා සපුරාගැනීමට තැත් කරන ඉලක්ක ඔහු මෙතෙක් ලබාගෙන ඇති දේ හා සසඳන විට ඉතා උසස් ඒවා යි.

මිනිහා ගේ නියම ස්වභාවය එය යි. මිනිහා ශ්‍රේෂ්ඨයෙකු වන්නේ ඒ නිසයි.

* * *

ගුවන් සමාජ ශාලා භූමිය හරහා එමින් සිටි ඔහු කවුළුව තුළින් පළමු වරට මගේ නෙතට හසු විය. මම ගෙදර යන්නට සූදනම් වෙමින් සිටියෙමි. එහෙත් ඔහු එන්නේ මා හමු වන්නට යැයි සිතුණ නිසා මම මඳක් පමා වීමි. ඔහු කෙරෙහි කිසියම් අපූරු බවක් මම දුටිමි. එය ඔහු ගේ ගමන් විලාසය නිසා ඇති වූවක් ද නැද්දැයි සිහි කිරීමට මට දැන් බැරි ය.

ඇත්ත වශයෙන් ඔහු ආවේ මා හමු වන්නට ය. කිට්ටුව සිට බලන විට මගේ අර අපූරු හැඟීම වඩාත් බලවත් විය. ඒ ඔහු සාමාන්‍ය ප්‍රමාණයට වඩා මිටි නිසා හෝ ඔහු ගේ ගමන් විලාසය තරමක් නුහුරු නිසා හෝ නො වෙයි. අත් පා ප්‍රමාණයෙන් නො සැසඳෙන නිසා වත් හිස කෙමෙන් පටු වන සේ උස් වූ ද මුළුමනින් තට්ට වූ ද එකක් නිසා වත් නො

වෙයි. හුදෙක් විශ්වාස කළ නො හැකි තරම් මැදින් උස් වූ කාව සහිත උපැස්වලින් පුදුම ලෙස විරූප කරන ලද ප්‍රඥා සම්පන්න පෙනුමක් ඇති ඔහු ගේ ඇස්වල වූ පුදුමාකාර බැල්ම නිසා ය. එම කාව ඔහු ගේ මහත් වූ ද තරමක් දුක් මුසු වූ ද ඇස් මා සමීපයට ගෙනාවේ ය. එම ඇස්වල වූ සියල්ල තතු ලෙස දැනගන්නා සුලු තියුණු බැල්ම මා සිදුරු කරන්නාක් බඳු විය.

මම ඔහුට අසුන් ගන්නා මෙන් ආරාධනා කෙළෙමි.

ඔහු මා දෙස බලන ගමන් කාරුණික සිනාවක් සී ගොරෝසු අත් ලියවිල්ලක් මා ඉදිරියෙහි වූ මේසය මතට දැම්මේ ය. සමහර විට ඔහු මගේ ඇස්වලින් ප්‍රකාශ වූ චකිතය මැනවින් දකින්නට ඇත; අත් පිටපත් බාර ගැනීමට මා තුළ වූ අකැමැත්ත තේරුම් ගන්නට ඇත. මට ඒවා බොහෝ ගණනක් නිතර කියවන්නට සිදු වෙයි........

"නෑ මේ ගැන සාකච්ඡා කරන්න ඕන නෑ. අත් පිටපත මුද්‍රණයට යවන්නත් නො වෙයි."

මගේ සිතුවිලි තේරුම් ගත් බව ඔහු ගේ කතාවෙන් හැඟුණ නිසා මම ඔහු දෙස විමසිලිමත් ව බැලීමි.

"මා දන්නා නියත අන්තර් ග්‍රහ චාරිකාවක් ගැනත් ඊට සම්බන්ධ වන පිරිසේ සංයුතිය ගැනත් කතා කරන්නට තව ම කාලය පැමිණ නැති බව. එහෙම වුවත් ඒ සඳහා නිති පතා ලැබෙන ඉල්ලීම්වලින් ඔබ හිරිහැරයට පත් ව ඇති බවට ත් හිසැකයක් නැහැ. ඒත් මම කැමති යි ඔබේ අංශයට මගේ උපකාරය ලේඛන ගත කර තබන්නට."

මා ඉදිරියේ සිටින තැනැත්තා තරුණයෙක් නො වේ. මට ඔහු විහිළුවකින් මඟ හරින්නට බැරි ය. කවදා හරි ප්‍රයෝජන වත් උඩු ගුවන් නැවියෙකු වීම සඳහා අවශ්‍ය විද්‍යා විෂයයන් හදරන්නැයි ඔහුට කියන්නත් මට බැරි ය.

කිසියම් අබිරහස් ආකාරයකින් මගේ අදහස් තේරුම් ගත්තාක් මෙන් තමා අජටාකාශ ගාමියෙක්, භූ ගර්භ

විද්‍යාඥයෙක්, වෛද්‍යවරයෙක් හෝ ඉංජිනේරුවෙක් නො වන බවත් (මෙහි දී ඔහු හුස්ම ගැනීමට මදක් නැවතුණ බව පෙනුණි.) එහෙත් තමාට ඉන් ඕනෑ ම කෙනෙකු විය හැකි බවත් ඔහු කීවේ ය.

එසේ වුවත් ඔහු අපේ උපකාරය බලාපොරොත්තු වෙයි. අප අඟහරු ලොවට යවන පළමු වන අභ්‍යවකාශ යානයේ ගමන් ගන්නා නඩයේ තමා ද එක් අයකු වන බවට සහතික වීමක් ඔහුට ඕනෑ කරයි. මක්නිසා ද, සෑම කෙනෙකුට ම තමා උපන් බිමට ආපසු යන්නට අයිතියක් ඇති බැවිනි!

මම ඉමහත් නො සන්සුන් භාවයකට පත් වීමි. තමාටත් පෙරළා අඟහරු ලෝකයට යන්නට ඕනෑ බව කියා 1940 දී දෙපාර්තමේන්තු බඩු ගබඩාවක කළමනාකරුවෙකු ගෙන් ලැබුණ ලියුමක් මා විසින් කියවන ලද බව ද මට මතක් විය. ඔහු ගේ අද්භූත ඇහවීම හැරුණු විට අනෙක් සෑම කරුණකින් ම මිනිහා අතිශයින් සාමාන්‍ය පුද්ගලයෙකු බව ඒ ලියුමෙන් පෙනී ගියේ ය.

මගේ ආගන්තුකයා සිනා සුණේ ය. ඔහු නැවතත් මා තේරුම් ගෙන ඇති බව මම ඔහු ගේ ඇස්වලින් කියවීමි.

මම මවිතයට පත් වූයෙමි. අඟහරු ලෝකයේ වායු ගෝලය ඝනත්වයෙන් ඉතා අඩු බවත්, ඒ නිසා අඟහරුවන්ට ශබ්ද තරංග මඟින් - එනම්, වායු කම්පනය උපකාර කරගැනීමෙන් අදහස් හුවමාරු කරගැනීමේ බලය නැති වී ගිය බවත් ඇත්ත විය හැකි ය. ඔහුට මගේ සිතුවිලි අනුමාන කරන්නට හැකිවා පමණක් නොව මට ද ඔහු ගේ සිතුවිලි අනුමාන කරන්නට හැකි යැයි මම සිතුවෙමි. කළ යුතු හොඳ ම දෙය ඔහු මානසික රෝගියෙකු ලෙස සැලකීම ය.

"ඔව්, මුල් දවස්වල මම උමතු රෝහලක සිටියා. මිනිසුන්ට යමක් ඒත්තු ගන්වන්න තැත් කිරීම පලක් නැති වැඩක් බව මට වැටහෙන තුරු මම එහි සිටියා." මගේ අද්භූත ආගන්තුකයා කීවේ ය.

යුද්ධයට ටික කාලයකට පෙර මා විසින් කියවන ලද්දේ ඔහුගේ ම ලියුමක් වත් දැයි මම මවිතයෙන් සිතීමි. මගේ ආගන්තුකයා අත් පිටපත දෙසට ඇඟිල්ල දිගු කර මෙසේ කීය.

"මට මේක ලියන්න තිබුණා. රුසියන්, ජර්මන්, ඉංගිරිසි, චීන, ජපන් හෝ මේ මිහි පිට ඇති ඕනෑ ම ලියන භාෂාවකින්."

ආචාර ශීලි වීමට තැත් කරමින් මම අත් පිටපත දිග හැර එහි පිටු පුරා විසිර තිබූ මිසරයන් ගේ චිත්‍ර ලිපි (Hieroglyph) වැනි සටහන් කරා නෙත් යැවීමි. මේ කුමක් ද? ගුප්ත භාෂාවකින් ලියන ලද්දක් ද? නැත් නම් දෙස්තර කෙනෙකු ගේ රෝග විස්තරයක් ද ?

අමුත්තා මෙසේ කියාගෙන ගියේ ය:

"කොයි තරම් බුද්ධිය ඇති කෙනෙකුට වුවත් තමා කොහෙත් ම නො දන්නා භාෂාවක් - කෙනෙකු ගේ අදහස් පමණක් නො ව හැඟීම් පවා අනුන් කරා ගෙන යා හැකි තරම් සියුම් ප්‍රකාශන ශක්තියක් ඇති භාෂාවක් - හුදෙකලාව තේරුම් ගන්නට බැහැ. එසේ ම කුමන බුද්ධිමතෙකුට වුවත් එම හුදකලාවෙහි ම සිට ඒ භාෂාවේ විපුල භාවය ගැබ් කර ඇති ලියවිල්ලක් කියවා තේරුම් ගන්නත් බැහැ. එසේ තේරුම් ගත හැකි නම් මේ අත් පිටපත දුර බැහැර පිහිටි මිලින වී ගිය කර්කෂ ලෝකයක වාසය කරන බුද්ධිමත් ජනතාවක නියෝජිතයෙකු විසින් ලියන ලද්දක් බව ඔබට තේරුම් යාවි."

"ඒත් ඉතින් කොහොමද මේ අපභ්‍රංස කියවන්නෙ?" මම මාව ම හික්මවාගන්න බැරුව ඇසීමි. එකෙණෙහි ම අර අපූර්ව උපැස් යුවලට පිටු පසින් කාරුණික අනුකම්පාවක් මම නිරීක්ෂණය කෙළෙමි.

"පසු ගිය ශත වර්ෂය තුළ දී පොළොව මත සංස්කෘතිය ක්ෂණික පිම් වශයෙන් දියුණු වුණා. ශක්තිය පාලනය කිරීමේ නියාමයන් පිළිබඳ දැනීමේ සිට ද්‍රව්‍යගත ශක්තියෙන් වැඩ ගැනීම දක්වාත්, රූප වන්දනාවේ සිට මොළයේ ශක්තිය වැඩි

කරන්නාවූත් ඇතැම් නිශ්චිත කාර්යයන් හි දී මොළය වෙනුවට වැඩෙහි යෙදෙවිය හැක්කාවූත් යන්ත්‍ර නිපදවීම දක්වාත් කෙටි මං පැදුණා. වායු ගෝලය හෝ ජලය හෝ ක්ෂය වී අතුරුදන් වෙතැයි සිතිය නො හැකි, හොඳින් ඉඩ කඩ ඇති සරුසාර තරුණ ග්‍රහ ලෝකයක මේ පිබිදෙන සංස්කෘතිය එහි සම කාලිකයෙකු ලෙස සමාලෝචනය කරන්නට ලැබීම ගැන මා සතුටු වෙනවා."

"ඔබ හිතන්නෙ ඉලෙක්ට්‍රෝනික කොම්පියුටරයකින් මේ අත් පිටපත කියවා තේරුම් ගන්න හැකි වේවි ය කියල ද?"

"ඔබේ යන්ත්‍ර එය කියවාවි. එය කවුරුන් විසින් ලියන ලද දැයි කියාත් ඔබට දැනගන්න හැකි වේවි."

මම එය දනට ම දැනගත්තාක් බඳු හැඟීමක් මට ඇති විය. මේ අපූර්ව ලියවිල්ලේ ඇත්තේ කුමක් ද යන්නත් එය කවරෙකු විසින් ලියන ලද්දක් ද යන්නත් දැනගැනීමේ ආශාවෙන් දැවෙන්නට වූ මගේ අත් පවා වෙවුලන්නට විය. මේ හමු වීම ගැන සැලකිලි මත් වන්නෝ කවරහු ද? මුළු මහත් ලෝකය ද? නැත්නම් මනෝ චිකිත්සකයන් අතළොස්සක් පමණ ද?

අදහස් පළ කිරීමට මෙන් ම අදහස් කියවීමට ද සමත් ඔහු ගේ ඇස් මැදින් උස් ව කාච සහිත උපැස් අතරින් මා දෙසට යොමු විය. ඔහු මා බොරුකාර - මූණු දෙකේ කයිරාටිකයෙකු හැටියට තේරුම් ගනීවි ද ?

තව හය මාසයකින් එම කාමරයේ දී ම හමු වීමට පොරොන්දු වීමෙන් පසු අපි වෙන් වීමු.

පසු ව මම 'ජොජි සෙඩොව්' නැවේ යාත්‍රා ගමනට එක් වීමි. ඔබ හැම දෙනා සමඟ දැන් මාස කීපයක් මා නැවේ ගමන් කර ඇත.

"පොඩ්ඩක් හෝව්." නෙතායෙව් තරහෙන් කෑ ගැසී ය. ඔහු ඇස් නෙරවා බලා මගෙන් මෙසේ ඇසී ය.

"ඉතින් කෝ අර ලියවිල්ල ?"

ශාලාවේ උස් හඬින් පැවති කචපචය නැවතුණේ ය.

"කොයි හැටිත් පිස්සන් ගැන කියන කතන්දර හරි ම

රසවත්." කවුදෝ කී ය.

නෙතායෙව් ඒ කතාව කිවූ අය දෙස කෝපයෙන් බැලුවේ ය.

මගේ අදහස නම් කතන්දරය තව ඉවර නැති බව යි." නැව් පති කී ය. ඔහු බලාපොරොත්තු සහිත ව මා දෙස බැලී ය.

"මාත් හිතනවා තව එය ඉවර නැත කියා." මම නැව් පති ගේ අදහස තහවුරු කෙළෙමි.

"ඉතින් අර ලියවිල්ල ඔබ ගාව තියෙනවද ? අපි ඒක බලමු ද?" නෙතායෙව් ගිජු ලෙස ඇසී ය.

"නෑ ඒක මා ළඟ නෑ. කතන්දරේ ඉවරත් නෑ. ඇත්තෙන් ම කතාව තව ඉදිරියට යනවා. අපේ හමු වීමත් එක්ක ම ලෝක ප්‍රකට විද්‍යාඥයෙක් ලේඛක සංගමයට කැඳෙව්වා. ඔහු ලෝකයේ ගණිත විද්‍යාඥයන් අතර ගෞරවනීය ස්ථානයක් දිනාගත් කෙනෙක්; බොහොම සිත් ගන්නා සුලු හාදයෙක්; ක්‍රීඩකයෙකු ගේ හැඩ රුව සහ කෙළින් පිහිටි උස් සිරුරක් ඇත්තෙක්; චෙස් ක්‍රීඩාවට හරි හපනා; සාහිත්‍යය ගැනත් හොඳ දැනීමක් තියනවා. අපි නිතර සාහිත්‍යමය කරුණු ගැන විවාද කළා. එයා විශ්වවිද්‍යාලයට ඇතුළත් වන විට වයස දහසය යි. වයස විස්සේ දී විද්‍යාව පිළිබඳ පශ්චාත් උපාධියක් දිනාගත්තා. විසි අටේදී විශාරදයෙක් (Academician) වුණා.

"මම දන්නවා ඔබ ඔය කියන්නෙ කවුද කියල!" නෙතායෙව් හඬ නඟා කී ය.

ඉතින් මේ විද්‍යාඥයා ඉලෙක්ට්‍රෝනික පරිගණක යන්ත්‍ර (Electronic Computing Machines) ගැන සියලු විස්තර අපට කීවා. ඇත්තෙන් ම ඔබ අහල ඇති සාමාන්‍ය මිනිහාට විසඳීමට පරම්පරා ගණනක් ගත විය හැකි අමාරු තර්ක ශාස්ත්‍රීය ප්‍රශ්න පවා පහසුවෙන් විසඳිය හැකි සයිබර්නෙටික් [1] යන්ත්‍ර ගැන. සයිබර්නෙටික් යන්ත්‍රවලට ඉලෙක්ට්‍රෝනික ස්මෘතිය

1. Cybernetics. -ස්වයංක්‍රීය සංනිවේදනය යොද ජීව වස්තූන් ගේ ක්‍රියාකාරිත්වය පාලනය කිරීමේ ද විද්‍යුත් පරිගණක වැනි යාන්ත්‍රිය ඉලෙක්ට්‍රෝනික ක්‍රමයන්හි ද තුලනාත්මක අධ්‍යයනය.

(= ධාරණ ශක්තිය) නමින් හැඳින්විය හැකි බලයක් තිබෙනවා. එය ස්වයංක්‍රීය ශබ්ද කෝෂයක් වැනි යි. එයින් එක් බසකින් ලියූ දෙයක් තවත් බසකට පරිවර්තනය කරන්නට පමණක් නො ව පරිවර්තනය කළ දේ සංස්කරණය කරන්නක් පුළුවනි.

මම මගේ මොටෝ රියෙන් විශාරදයා ගෙදර ඇරලද්දී තමා කළ නිර්භීත පරීක්ෂණයක් ගැන ඔහු මට කීවා. ඔහු විද්‍යා ඇකැඩමියේ තිබූ චෙස් ක්‍රීඩාවන් මෙහෙයවීමට පමණක් නො ව චෙස් ප්‍රශ්න විසඳීමට ද සමත් ඉලෙක්ට්‍රෝනික කොම්පියුටරයකට නාට්‍යයක චරිතයන් පමණක් දී එහි වස්තුව පරිකල්පනය කිරීම සඳහා වූ වැඩ සටහන් යොමු කළා. මෙය බෙහෙවින් විනෝද ජනක දෙයක් වුණා. නාට්‍යය නීරස සහ උදාසීන වන විට යන්ත්‍රය නිවැරදි ලෙස පෙන්නා දුන්නා - කවුරු නරක ද, කවුරු හොඳ ද, උප කථිකාචාර්යවරයා ශිෂ්‍යාවට ද්‍රෝහි වන්නේ කොතැනදී ද, මහාචාර්යවරයා මැදිහත් වන්නේ කොහි දී ද, අවසානයේ සියල්ල සතුටුදයක ලෙස කෙළවර වන්නේ....

විශාරදයා කී හැටියට ඉලෙක්ට්‍රෝනික කොම්පියුටරයේ තවත් වටිනා ගුණාංගයක් තිබුණා. එයට තත්පරයක දී කාරකයන් (Operations) ලක්ෂ ගණනක් විසර්ජනය කිරීමේ හැකියාව තිබුණා. ඉක්මනින් ම එය තත්පරයට දස ලක්ෂ ගණන් වන බව විශාරදයා කීවා. ක්‍රියාවලියේ දී ක්‍රමය වෙනස් කිරීමෙන් අති මහත් කාරක සංඛ්‍යාවක් - කෝටි සංඛ්‍යාත කාරකයන් - භාවිතා කිරීමෙන් එයට ඕනෑ ම රහස්‍ය කේතයක් ඉතා කෙටි කාලයක දී විසඳ දිය හැකි බව ඔහු කීවා. ඔහු ගේ නිගමනයට අනුව මිසර චිත්‍ර ලිපි හෝ පුරාතන බැබිලෝනියානු කුඤ්ඤාකාර ලේඛන (Cuneiform script) හෝ පසුගිය ශත වර්ෂයේ විද්‍යාඥයන්ට හැකි වූවාට වඩා බොහෝ ඉක්මනින් ඉලෙක්ට්‍රෝනික කොම්පියුටරයට විසඳිය හැකි යි. ඔබට සිතාගත හැකි පරිදි ම මෙය තමයි මටත් ඕනෑ කර තිබුණේ. මගේ අද්භූත අමුත්තාත් ඔහු ගේ අබිරහස් අත් ලියවිල්ලත් ගැන මම ටිකින් ටික විශාරදයාට දැන්නුවා. ඔහු මහ හඬින් සිනා සෙන්නට පටන් ගත්තා. මා කොතරම් ව්‍යාකූලත්වයකට පත් වුණාද

කියතොත් මට ටික වේලාවක් රිය පැදවීමට පමණක් යොමු වෙන්ට සිදු වුණා. අපි දැන් බොල්ෂයා ක්ලුෂ්කයා වීදියට පැමිණ ඇති නිසා ඔහු රියෙන් බැස්ස යුතු ව තිබුණා. ඔහු බැස මට අතට අත දීම සඳහා රියේ දෙර දිගේ අත දිගු කළා. ඔහු මගේ අත තදින් මිරිකමින් මා දෙස දහකාර බැල්මක් හෙළුවා.

* * *

"අපි අවදානමට මුහුණ දෙමු." විශාරදයා කීවේ ය. "අප ළඟ තිබෙනවා රාත්‍රි කාලයේ පාවිච්චි නො කරන පර්යේෂණ යන්ත්‍රයක්. මගේ සහායකයන් පොළඹවා ගන්නට ඔබට හැකි නම් - ඔවුන් මේ ගැන නිසැකයෙන් උනන්දු වේවි - මුල් පිටු කීපය කියවා බැලීමේ උත්සාහයක් කරන්නට අපට පුළුවනි."

"මොකද මුල් පිටු විතරක් ? එතකොට ඉතිරි හරිය ගැන කොහොම ද?" මම මගේ බලවත් ඕනෑකම පෙන්නුවෙමි.

යළිත් ඔහු ගේ කැකිරි පලන හිනාව ඇසුණේ ය.

"ඒ මුල් පිටු වත් කියවාගන්න පුළුවන් වුණොත් නොවැ?"

"චෙස් ප්‍රශ්නවලට, ගණිතමය ගැටලුවලට සහ නාට්‍යවලට ඇලුම් කරන විශාරදයා යළිත් සිනා සුණේ ය. මා විද්‍යා ඇකැඩමියේ දී ඔහු හමු වූ විට තමා ගේ සහාය විද්‍යාඥයන් මෙයට කැමති කරවාගන්නට උත්සාහ කරන්නැයි මට කීවේ ඔහු ම ය. එහෙත් මා ඔවුන් හමු වූ විට ඔවුන් ගේ උද්යෝගිමත් ප්‍රධානයා විසින් ම ඔවුන් මේ ගැන තරයේ පුබුදුවා ඇති බැව් දැන ගතිමි. ඔව්හු මගේ අත් පිටපතට වහ වැටී එහි පිටු පෙරළමින්, එය කියනු සඳහා යන්ත්‍රයට කැවිය යුතු වැඩ සටහන් ගැන විවාද කරන්නට වූහ. උචිත වැඩ සටහන තේරීම බැරෑරුම් කාර්යයක් විය. එය කී වරක් වෙනස් කරන්න වුණා ද කියා ඔබට සිතාගන්න වත් බැරි ය.

"එහෙනම් ඒකෙන් වැඩක් වුණේ නැහැ?" නෙතායෙව් කුතුහලින් විමසී ය.

නියතයෙන් ම කිසි ප්‍රතිඵලයක් ලැබුණෙ නැහැ. පර්යේෂකයන් බොහෝ දෙනෙකුගෙ ධෛර්යය සිඳී ගියා. එහෙත් විශාරදයා දිගට ම සිනාසෙන්නත් අපට සමච්චල් කරන්නත් වුණා. ඊට පස්සෙ වැඩේ ඔහු අතට ගෙන වෙනත් වැඩ සටහනක් යෙදුවා.

"ඉතින්?"

"මාස ගණන් ගත වුණා. විශාරදයා කිව්වා අප අවශ්‍ය තරම් උත්සාහයෙන් සහ ඉවසීමෙන් වැඩ කළොත් පමණක් සයිබර්නෙටික් යන්ත්‍රයේ උපකාරයෙන් අපට නගරයේ රාත්‍රි ලාම්පු කාව්‍යයක ස්වරූපයෙන් කියවිය හැකි බව. මා දන්නේ නැහැ. එය සම්භාවිත වාදයේ [1] විශේෂ ලක්ෂණයක් පිළිබඳ වූවක් ද වෙනත් දෙයක් ද කියා. කොයි හැටිත් එක්තරා කදිම උදෑසනක අපට කිසියම් ප්‍රතිඵලයක් ලැබෙන්න පටන් ගත්තා. විශාරදයා තව දුරටත් සමච්චල් කෙළේ නැ. එහෙත් ඒ වෙනුවට කෝපයත් අධික වෙහෙසත් දක්වන්න පටන් ගත්තා. දැන් යන්ත්‍රය රාත්‍රියේ මෙන් ම දිවා කාලය මුළුල්ලේත් ක්‍රියා කරනවා. සම්බාධකයක් අතරින් පෙරී එන ජලය හා සම්බන්ධ කර තිබූ ගණනයන් නිසයි කිසියම් පමාවක් වූයේ. කිසිවෙක් ඒ ගැන කලබල ඇති කිරීමටත් පටන් ගත්තා. බලවත් කැළඹීම් හා වාද විවාද අස්සේ අපි බුද්ධිමත් ආකල්පයන් ගෙන් යුතු ව වඩාත් විශ්වාසයෙන් වැඩ සටහන් යන්ත්‍රයට යොමු කළා."

"ඉතින් ඔය ගොල්ලො ඒක කියවන්න සමත් වුණා ද?" නෙතායෙව් නො ඉවසිල්ල නිසා හති ලමින් ඇසී ය.

"අ....අ....ඔව්, මුල් පිටු කීපය ?"

"ඉතින් ඒකෙ මොනවද තිබුණෙ? අපට වද නො දී කියන්න."

"ඔව්, හරියට පොළොව හාරන යන්ත්‍රයක් මිනිහා ගේ බාහු බලය වැඩි කරන්නා වාගේ මිනිස් මොළයේ ශක්තිය

1. සම්භාවිත වාදය (Theory of Probability) - යමක් සිදු වීමට බොහෝ දුරට ඉඩ ඇති බව දක්වෙන (ගණිතමය) න්‍යාය.

වැඩි කළ සයිබර්නෙටික් කොම්පියුටරය 1908 දී තයිගාවේ ඇති වුණ බිහිසුණු සිදුවීම් අස්සේ මග හැරුණ අහහරුවකු විසින් පොළොව මත දී දිනෙන් දින ලියා තබන ලද දින පොතක පිටු කීපයක් අනාවරණය කළා !

"නිරුදක (= ජලය රහිත) බාහිර ලෝකයකින් පැමිණි සත්ත්වයකු ගේ ඇසින්, එම අද්භූත අමුත්තා ගේ මනෝ භාවයන් විස්මයෙන් ආකුල කළා වූ ද නො සිතිය හැකි ප්‍රභේදයෙන් යුතු වෘක්ෂ ලතාවන් ගෙන් හා එක් එක් ප්‍රවාහයට ආවේණික වූ සුන්දරත්වයකින් හෙබි ස්වාධීන ජීව ප්‍රවාහයන් රාශියක් ඔස්සේ විකාශනය වී අන්තයේ දී මිනිහා පහළ කළා වූ සත්ත්ව ගණයා ගෙන් අභිරමණීය වූ ද අපේ සරුසාර ග්‍රහ ලෝකයේ අපරිමිත සෞන්දර්යය නරඹද්දී මා තුළ ඇති වූ කම්පනය ඔබට සිතාගත හැකි යි. අන්තිමේ දී සියල්ල කුළු ගන්වන්නට මෙන් පිට සක්වලින් ආ අමුත්තාට මිනිහා හමු වුණා."

"මේ හමු වීමෙන් ඔහු කොතරම් විස්මයට පත් වන්නට ඇද්ද? පොළෝ වාසීනුත් ඔහු වැනි යි; ඇත අහහරු ලෝ වැසියෙකු වැනි යි. එහි තේරුම පරිණාමයේ උත්තරීය හේතූන් ගේ ඵලය සීමිත යි - බුද්ධිමත් ජීවීන් විකාශනය විය හැක්කේ එක ම ආකාරයකට යි. පොළෝ වාසී මිනිසුන් අදහස් පහළ කිරීමට සමත් වුණා. ඔවුන් පුදුම ක්‍රමයකින් - වායු කම්පනයේ මාර්ගයෙන් (ශබ්ද උපදවීමෙන්) අදහස් හුවමාරු කරගන්නත් සමත් වුණා. මේ අයුරින් ඔවුන් අදහස් පතුරුවන්නට පමණක් නොව ඒවා සහවාගන්නටත් සමත් වුණා."

"වෙනත් ග්‍රහ ලෝකයකින් ආ ඔහු මිනිසුන් අනුකරණය කිරීමට උත්සාහ කළා. ඔහු තමා කවරෙක් දැයි කියන්නට ශබ්ද උපදවන්න තැත් කළා. ඔහු ඇත්ත වශයෙන් ම තමා කවරෙක් දැයි ඔවුන්ට කීවා. එහෙත් සයිබීරියානු වෙළෙන්දන් සහ ප්‍රාදේශීය පොලිසිය ඔහු විදේශිකයෙකැයි ද මන්ද බුද්ධිකයෙකැයි ද සලකා අල්ලා උමතු රෝහලකට යැව්වා."

* වරහන් තුළ යෙදූ වචන අනුවාදකගේ ය.

"අහහරු ලෝකයෙන් ආ අමුත්තා ශත වර්ෂ බාගයක් තුළ තමා ගේ දින සටහන් තබමින් මිනිසුන් අතර වාසය කළා. අප තව ම දින පොතේ පිටු සියල්ල කියවා හමාර නැහැ. එහෙත් ඒ සියල්ල කියවීමටත් ඒවා මගේ 'අහහරුවා' නම් නවකතාව මගින් ප්‍රකාශ කිරීමටත් මම පොරොන්දු වෙනවා. එම නවකතාවේ ආරම්භය මේ කතාව වෙනවා ඇති. අහහරුවා ගේ දින පොතෙහි දී අපට පිටස්තරයෙකු ගේ ඇසින් - දූනට දිරාපත් වෙමින් පවත්නා ඔවුන් ගේ ග්‍රහ ලෝකයෙහි උසස් ම සමාජ ක්‍රමය කරා පැමිණියාවූ ද අපේ වර්තමාන සංවර්ධන අවධිය අවුරුදු දස ලක්ෂ ගණනකට පෙර පසු කළාවූ ද පුරාතන ඥානවන්ත ජන වර්ගයක නියෝජිතයෙකු ගේ ඇසින් - අපට ම අපව දකගන්න හැකි වේවි. අහහරුවා ගේ ඇසින් අපේ ම ජීවිතය, අපේ ම ක්‍රියා පමණක් නො ව මායා කැඩපතින් පිළිබිඹු වන්නාක් මෙන් මිනිසුන් අතර සබඳතා ද දක්ක හැකි වේවි. සිතුවිලි වායු කම්පනය මගින් නො සැඟවුණ විට නො පැවතිය හැක්කාවූත් පරිණත භාවයට පත් වූ විට නැති ව යන්නාවූත් බොරුව සහ කුහක කම අපට දකගත හැකි වේවි."

"අප සමග සබඳකම් පැවැත්වීමට පටන් ගත් මුල් කාලයේ ඔහුට අප කොහොම පෙනෙන්නට ඇද්ද? පසු ව ඔහු අපේ ලෝක යුද්ධ දෙකක සම කාලිකයෙකුව සිටිද්දී ලේ හැළීමෙන් ප්‍රශ්න විසඳගන්නට තීරණය කළ, බලාත්කාරයෙන් තමන් උදෙසා වැඩ කරන්නට මිනිසුන්ට බල කළ, ටික දෙනෙකු වාසනාවන්තයින් කරන අතර සෙස්සන් කාලකණ්ණීන් කළ අප ගැන ඔහු කුමක් සිතන්නට ඇද්ද?"

"අප අහහරුවා ගේ දින පොත කියවන විට පොළොව මත ජීවිතය ඉන් පිටත සිට ගෙන බලන කෙනෙකුට පෙනෙන ආකාරය අපට පෙනෙනවා ඇති."

"ඔහු ගේ දින පොතේ අවසාන පිටුවලින් තමා පුරුදු ව සිටි සමාජ ක්‍රමය ගොඩ නැඟීම සඳහා පදනම දමා සිටින මිනිසුන් වෙසෙන (සෝවියට්)+ දේශයට යාමට ඔහු දැඩි ලෙස

ආසා කළ බව අපට දැන ගත හැකි වෙනවා ඇති. එසේ යාමෙන් පසු ඔවුන් සමඟ වාසය කිරීමෙන් මිනිසුන් පිළිබඳ තමා තුළ තිබූ ආකල්ප වෙනස් කරගත් හැටිත් අපට දැනගත හැකි වෙනවා ඇති. අඟහරු ලොවේ නම් අවුරුදු දස ලක්ෂ ගණනක් දික් විය හැකි මුළු මහත් ඓතිහාසික අවධිය ශත වර්ෂයකටත් අඩු කාලයක දී ගෙවා තමාගේ ම වර්ගයාට වඩා ධෛර්යමත් ලෙස සහ සාර්ථක ලෙස සිට (සමාජ වාදී)+ සංස්කෘතිය වේගයෙන් වර්ධනය කිරීම ගැන ප්‍රීතියෙන් ප්‍රමුදිත වන අඟහරුවා කවද හරි පොළෝ වාසීන් තමා ගේ - කර්කශ එහෙත් ආදරණීය - අඟහරු ලෝකය කරා තමා යවනු ඇතැයි සිහින මවන්නට ඇති. එසේ ම ඉදිරියට එන අවුරුදු දස ලක්ෂ ගණනක් තුළ අඟහරු ලොවේ ජීවය දිග්ගැස්සීමට උපයෝගී විය හැකි මිනිසුන් විසින් සොයාගන්නා ලද ඒ ක්ෂය නොවන අසහාය (පරමාණු)+ ශක්තිය ද රැගෙන පෙරළා අඟහරු ලොවට යාමට ඔහු සිහින මවන්නට ඇති."

"අපට ඔහු ගේ දින පොත කියවන විට අපේ මහ පොළොව මත ඔහු ගත කළ ජීවිතයත්, ඔහු කෙබඳු මිනිසෙක් ද යනුත් - නෑ - නෑ - කෙබඳු අඟහරුවෙක් ද යනුත් - දැනගත හැකි වේවි."

"ඔව් ඔහු හා තවත් හමු වීමක් මම උද්යෝගයෙන් බලාපොරොත්තු වෙනවා. අපේ අනාගතයෙන් අප කරා අවුත් අපේ ම සංකල්පයන් අනුව අප විමසා බලන කිසිවෙක් අප පසෙකින් සිටිතැයි යන සිතුවිල්ලෙන් පමණක් වුවත් අප තුළ උද්වේගයක් පහළ වන්නේ නැද්ද? ඔහු කිසිවක් නිසා අපට දෙස් නහනු ඇසීමට අපට අවශ්‍ය නැහැ - ඔව්, මොහොතකට වත් අවශ්‍ය නැහැ."

"ඉතින් මේක තමයි මගේ කතාවේ අවසානය."

"දින පොත සම්පූර්ණයෙන් කියවන්න මට හරි ආසයි" නෙතායෙව් ට ඉබේ කියවුණේ ය.

---

+ වරහන් තුළ යෙදූ වචන අනුවාදකගේ ය.

"මා පොරොන්දු වෙනවා ඔබට එය කියවිය හැකි බවට." මම සහතික වීමි. එවිට මට හදිසියේ කිසිවක් මතක් විය. "පොඩ්ඩක් ඉන්න. මා හිතනවා අප හැම එකඟ වුණා ය කියා මගේ කතාව විශ්වාස නො කළ හැකි එකක් විය යුතු බවට."

නෙතායෙව් තිහතමානී ලෙස සිනා සුණේ ය. නැව් පති මා දෙසට ඇඟිල්ලක් දිගු කර මෙසේ කී ය.

"අප දකුණු දිග සංචාරයේ නො යනවා නම්, මම හරි කැමති යි ඇවිත් ඔබ ඒ විශේෂ දිනයේ වැඩ කරමින් සිටි ගුවන් සමාජය බලන්නට."

නැවේ රැස්වීම් ශාලාව සෝෂාවෙන් පිරී ගියේ ය. මිනිස්සු අහහරුවා සමඟ මගේ ඊළඟ හමු වීම - එය ඇත්ත වශයෙන් සිදුවූයේ නම් - ගැන ලියන මෙන් මගෙන් ඉල්ලමින් මා අවට රැස් කන්නට වූ හ.

"ඇත්තෙන් ම මම ඒ ගැන ලියන්නම්." මම පොරොන්දු වීමි. "මම මගේ නව කතාව ලියන්නම්."

"ඇයි නව කතාවක්?" අයෙක් කෝපයෙන් ඇසී ය. "ඔබ අහහරුවා ගැන ලියන්න."

මම නැව් තට්ටුවට ගියෙමි. ආර්ක්ටික්වල තාරකා සාමාන්‍යයෙන් සෞම්‍ය ය. ඒවා වෙන කොහාටත් වඩා කිට්ටුවෙන් ඇත්තාක් මෙන් පෙනේ.

නෙතායෙව් මා එනතුරු බලා සිටියේ ය.

"අන්න, අහහරු." ඔහු රතු පාට තරුව දෙසට ඇඟිල්ල දිගු කරමින් පෙන්වී ය.

මම තවමත් හරි හැටි සොයාගෙන නැති ලෝකයෙන් එන ආලෝකය නැරඹීමි. මම එය ගැන සිතන්නට වීමි.

"කොහොම හරි ඔහු (අහහරුවා) අප සමඟ මෙහි සිටියා නම් අපට සමහර විට ලජ්ජා හිතෙන්නත් තිබුණා." නාවුක නිලධාරි ක්‍රයිමොව් කීවේ ය.

"ඒත් ඔබ දන්නවද මා ඔහු ගැන කතාව කීවේ මොකද කියා ? ඔහු අපේ යාත්‍රා ගමනේ දී අප සමග සිටියා නම් - මේ කතාවට සම්බන්ධ වූ මිනිසුන්ට ඇහුම් කන් දී ඔවුන් හා කතා බස් කළා නම් - අපට කවද වත් ඔහු හමුවේ දී ලජ්ජා වන්න සිදු නො වන නිසයි."

"ඔබ ඇත්තෙන් ම එහෙම හිතනවද?" නෙතායෙව් ඇසී ය.

බොහෝ වේලාවක් අපි කිසිවක් නොදෙඩා සිටියෙමු. අන්තිමේ දී නෙතායෙව් කතා කෙළේ ය.

"හොඳයි, ඔබ හිතනවද ඔය අජටාකාශ විද්‍යා අංශයෙ උදවිය මා ගැනත් සලකා බලාවි කියා ? නාවිකයන්ට තාරකා ඉතා ප්‍රියයි. මට අභ්‍යවකාශ යානා හසුරුවන්නත් පුළුවන් වේවි."

අපි නින්දට යාමට තීරණය කෙළෙමු. එහෙත් මා හමු වීමේ බලාපොරොත්තුවෙන් නො නිද සිටි තව අයෙක් විය. ඒ ගුවන් නියමුවා ය. ඔහුට මා සමහ රහසක් කීමට වුවමනා විය. එහෙත් මම ඔහු ගේ රහස හෙළි කරමි. ඔහුට කියන්න ඇති දේට සවන් දීමෙන් පසු, මම ඔහුට හර සර ලෙස අතට අත දුනිමි.

කවද හරි අහහරු ලොවට යන පළමු වෙනි අජටාකාශ යානය පාලනය කළ යුත්තේ ඔහු වැනි මිනිසුන් ය.

'ජෝජි සෙඩොව්' තරු සෙවනේ සිය ගමන් මහ ඔස්සේ ඉදිරියට ම යාත්‍රා කෙළේ ය.

**නිමි.**

# අගාධයට ඉහළින්

## සහ වෙනත් විද්‍යාකල්පිත කතා

## ජේ. ඊ. ගුණසේකර

සිංහල පාඨක ලෝකයාට සෝවියට් විද්‍යා ප්‍රබන්ධ හඳුන්වා දීමට ඉදිරිපත් වූ සිංහල ලේඛකයන් අතර ජේ. ඊ. ගුණසේකර ප්‍රමුඛයෙක් වෙයි. විද්‍යා ප්‍රබන්ධයක් පරිවර්තනය හෝ අනුවර්තනය කිරීම ඉතාමත් දුෂ්කර කාර්යයකි. ජේ. ඊ. විද්‍යා ප්‍රබන්ධයක් වුවත් තෝරා ගැනීමේ දී ඉන් මිනිස් වර්ගයාට සිදුවන යහපත කුමක්දැයි අවධාරණය කිරීමෙන් පසු එය පරිවර්තනයට තෝරාගෙන ඇත.

ඔහු අසහාය රුසියානු විද්‍යා ලේඛකයන් දෙදෙනෙකු වන වී. සාම් ෆොන්කෝ සහ ඇලෙක්සැන්ඩර් බෙලායෙව් ගේ විද්‍යා ප්‍රබන්ධ දෙකක් "අගාධයට ඉහළින්" ග්‍රන්ථයට එකතු කළේය. "අගාධයට ඉහළින්" නැවත පළකිරීම තවත් එක් සාහිත්‍ය සේවාවක් වශයෙන් සැළකිය හැකිය.

ගුණසේන විතාන
ජනතා ලේඛක පෙරමුණ



"AGADHAYATA IHALIN" (Over the Abyss and other stories) is a collection of 5 Soviet science fiction stories adapted to Sinhala.

"Over the Abyss" which gives the title collection and 'Invisible Light' are by Alexander Belayev who is the pioneer of Soviet science fiction, having produced an outstanding collection of books.

'Professor Bern's Awakening' by V. Savshenko reflects his talents though he is not a professional writer.

Last two stories 'A Visitor from the outer Space' and 'Martain' are by famous science fiction writer Alexander Kasantsev who links two generation of science fiction writers with a career spanning over 50 years.

Present book is by J.E. Gunasekara whose lucid style of translation is popular among readers. He was honoured with the state award for literary translation in 1983 for his adaptation of A. Belayev's scientific novel 'The Amphibian'

මිල රු.200/-







**එස්. ගොඩගේ සහ සහෝදරයෝ**
රාජ්‍ය සම්මාන ලත් පොත් ප්‍රකාශකයෝ,
675, මරදාන පාර, කොළඹ 10.
දුරකථන: 011-2685369, 4-614904, ෆැක්ස්: 011-2674187,
ඊ-මේල් godageem@slt.lk වෙබ්: www.godage.com